සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2562 ක් වූ ඉල් මස (ව්‍යවහාරික වර්ෂ 2018 නොවැම්බර්)

87 වෙනි කලාපය




සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

රු. 25/-




# දුසිරිත පිටු දකිමු...

ඉසි කෝ මද මාන අව ගති පුරුදු ඇතී
නිසි දැනුමක් නොමැති දහමෙහි ඇසුර නැතී
රිසි ලෙස දිවි ගෙවන උරුමව වසල ගතී
කිසි අණ ගුණක් නැති අදමිටු දුදනො වෙතී

එරෙහිව සුළු දෙයට වුව ගහ බැන ගනිති
විරුදව පෙරට එති කඩු පොලු ගෙන ගැටෙති
පුරුදුව ඇති විලස එපරිදි දිවි ගෙවති
සමගිව සුහද ලෙස විසුමට හුරු නොවෙති

කෙනෙකුගෙ යස ඉසුරු දැක නොම සතුටු වන
සතෙකුගෙ වුවද අසරණකම නොහඳු නන
අද වගෙ අඳුරු යුගයක දන නොමැති පින
හරි මගෙ යනු කෙළෙස මිනිසුනි සිතනු මැන

දෝසය දුරැර සුහදව මිතු දහම රැක
සාමය වඩන කල දුරුවෙයි ගැහැට දුක
ලෝකය සමග සමගිව දිවි ගෙවත හැක
වාසය පහසු වනු ඇත නැහැ කිසිදු සැක

නියමය සම මෙතයි බුදු හිමි දෙසුව බණේ
වයිරය එහෙත් පැතිරෙයි ලක සතර කොණේ
පුදුමය නොමැති කම සෙසු අය කෙරෙහි සෙනේ
සැදුමය ඇවැසි රට එනමුදු නැසෙනු පෙනේ

දුසිරිත් ඉවත ලනු කිසි විට සුදුසු නොවේ
බලවත් පව් පිරෙනු ඇත මතු නිරයෙ දැවේ
යහපත් බොදු උවසු දන නොම ඇලෙති පවේ
සුසිරිත් වඩති සැනසෙති ලැබ පරම සුවේ

පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා





# මහා විද්‍යාඥයා පෙන්වා දුන් සිවු අරිසස් දහම 02

ලෝකයේ පහල වූ මහා විද්‍යාඥයා හෙවත් ලොව්තුරා බුදු පියාණන් වහන්සේ විසින් පෙන්වා දුන්න ඇත්ත නැත්ත විමර්ශනය කරල බලන්න ජාති, කුලමල, ආගම් භේදයක් නෑ. මොකද විද්‍යා සිද්ධාන්තයක් නම් ඒක තමන්ට කියලවත්, අනික් කෙනෙකුට කියලවත්, ආගමික වශයෙන් හෝ ජාති, කුලමල වශයෙන් හෝ වෙනස් වෙන්න බෑ. ඒක කාටත් එක සේ පොදු සිද්ධාන්තයක් විය යුතුයි. අන්න ඒ විදිහට නිවී සැනසී යන්න, නැත්නම් මහා අසහනකාරීත්වයෙන් වෙන් වෙලා යථාවබෝධය ලබා ගන්න දුන්න, හතර ආකාරයකින් විග්‍රහ කළ විද්‍යා සිද්ධාන්තයක් තියෙනවා. ඒක තමයි අපි ඔය පොඩි කාලෙ ඉඳන් චතුරාර්ය සත්‍යය කියල වචන 4 කින් කටපාඩම් කරගෙන එන්නෙ.

දැන් මෙතනදි උඩින් මත්තෙන් මේ පදවල සිංහල වචනවලින් අර්ථ දුන්නට ඒකෙන් කියවෙන යථාර්ථය තේරුම් ගන්න බෑ. ඒක දැනගත්ත කියල යථාර්ථයෙන්ම දුක පිළිබඳව තේරුම් යන්නෙ නෑ. එහෙම තේරුම් ගියා නම් මේ පාසල්, දහම් පාසල්, පිරිවෙන්... ආදී අධ්‍යාපන ආයතනවල උගන්වන විදිහට ඒ ඉගෙන ගත්ත හැමෝටම මේ වෙනකොට චතුරාර්ය සත්‍යය අවබෝධ වෙලා, දුක පිළිබඳව අවබෝධ වෙලා තියෙන්න ඕන. කෙටියෙන් කියනව නම් දර්ශන මාත්‍රයකින් හරි නිවන් දැකල තියෙන්න ඕන. එහෙමත් නැත්නම් සෝතාපන්න වෙලා තියෙන්න ඕන. නමුත් ඔය කියන **පොත්පත්වලින් ඉගෙනගෙන බුදු දහම සම්බන්ධයෙන් ලෝක සම්මතයේ තියෙන විභාගත් සමත් වෙලා විවිධ උපාධි සහතික ගත්ත අය පවා තමන් සෝවාන් වෙලාවත් නෑ කියන කාරණය සහසුද්ධයෙන්ම පිළිගන්නවා. කතා කරනකොට කියන්නෙත් "පෘතජ්ජන අපි" කියල. චතුරාර්ය සත්‍යය වචනවලින් කට පාඩම් කරගෙන කිව්වට, අනෙක් අයට ඉගැන්නුවට, තමන්ට අවබෝධ වෙලා නෑ කියන කාරණය පිළිගන්නවා.**

එහෙනම් මේක ඇතුලෙ තියෙන ගැඹුරු අර්ථය හොයාගන්න නම් තව ටිකක් විමර්ශනය කරල බලන්න ඕන. ඒ සඳහා දුක පිරිසිඳ දැනගන්න ඕන. දුකට හේතුව, නැත්නම් දුක්ඛ සමුදය දුරු කරන්න ඕන. දුක්ඛ නිරෝධ ආර්ය සත්‍යය ප්‍රත්‍යක්ෂ කරගන්න ඕන. දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදා ආර්ය සත්‍යය කියන මාර්ගය වඩන්න ඕන. මෙන්න මේ හතර ආකාරයෙන් තේරුම් ගන්න කටයුතු කරන්න ඕන.

මෙතනදි එකින් එක තේරුම් ගන්න ඕන වැදගත් කාරණයක් තියෙනවා. මේ දුක්ඛ ආර්ය සත්‍යය කියන වචනයෙන් බුදු පියාණන් වහන්සේ පෙන්වා දුන්න යම් විද්‍යා සිද්ධාන්තයක් ඇත්ද, යම් කිසි විදිහකින් බුද්ධිය ප්‍රබෝධ කරගෙන ඒ සත්‍ය ධර්මය ධර්මානුකූලව අහල, තමන්ගෙ බුද්ධිගෝචරත්වය තුලින්, මේක හරියටම හරි මට වැටහෙනව කියල තේරුම් ගත්ත එබඳු ඥානවන්තයින්ට ගෝචර වෙනව හැරෙන්න එයින් පිටස්තර අයට මේ කියන දහම ගෝචර වෙන්නෙ නෑ.

එහෙනම් බුද්ධ සාසනයක් ලෝකයේ බිහි වෙන්න නම් ඉස්සෙල්ලම ඒ මහා විද්‍යාඥයා ලෝකයට පහල වෙන්න ඕන. අන්න ඒ මහා විද්‍යාඥයා ලෝකයට පෙන්වා දුන්න විද්‍යා සිද්ධාන්තය, ඒ තත්ත්වයට පත් නොවෙච්ච වෙනත් කෙනෙකුට ලෝකයට දෙන්න පුළුවන්කමක් නෑ කියලත් පෙන්වනවා. මෙන්න මේකයි දුක්ඛ ආර්ය සත්‍යය කියල මුලින්ම ලෝකයට පෙන්වා දෙන්න පුළුවන් අමතර කෙනෙක් ලෝකයේ තවත් නෑ. එහෙනම් ඒ විද්‍යා සිද්ධාන්තයත් ඔප්පු කරන්න නම් හොයල විමර්ශනය කරල බලන්න ඕන. එහෙම නැත්නම් අපිට කියන්න පුළුවන්කමක් නෑ, ඕක අපේ බුද්ධාගමේ විතරක් තියෙන එකක්, ඕක අනික් අය දන්නෙ නෑ කියල. එහෙම කියනව නම් ඒක ඥානගෝචර කතාවකුත් නෙවෙයි. එහෙනම් මේ හැම කාරණයක්ම ඔප්පු කරගන්න ඕන බෞද්ධයො. එහෙම නැත්නම් ඔය කියන්නා වූ බුද්ධිය මෙහෙයවල බුද්ධියට ගෝචර කරගත්ත සත්‍ය ධර්ම මාර්ගය තුලින්. ඒ මහා විද්‍යාඥයා පෙන්වා දුන්න මාර්ගය තුලින්, මොකක්ද මේ දුක කියල දැකගන්න යම් කිසි දහමක් තියෙන බව දකිනවා. මෙන්න මේ දහම වෙනත් කිසිම කෙනෙකුට දැනගන්න විදිහක් නෑ කියන කාරණය ඒ ධර්ම සිද්ධාන්ත තුලම පෙන්වා තියෙනවා.

එහෙනම් අපි මොකටද මේ දුකයි කියල කියන්නෙ? දුක ගැන කියනකොට, ජාතිපි දුක්ඛා, ජරාපි දුක්ඛා, ව්‍යාධිපි දුක්ඛා, මරණම්පි දුක්ඛං, අප්පියේහි සම්පයෝගෝ

දුක්ඛෝ, පියේහි විප්පයෝගෝ දුක්ඛෝ යම් පිච්චං නලබති තම්පි දුක්ඛං, සංඛිත්තේන පඤ්චුපාදානක්ඛන්ධා දුක්ඛා කියල පෙළ දහමේ මාතෘකා වශයෙන් සටහන් වෙලා තියෙනවා.

දැන් මේකට සිංහල අර්ථ දෙනවා, ජාතියද දුකයි, ජරාවද දුකයි, ලෙඩ රෝගද දුකයි, මරණයද දුකයි, අප්‍රියයන් හා එක් වීම දුකයි, ප්‍රියයන්ගෙන් වෙන්වීම දුකයි, කැමති යමක් නොලබාද දුකයි, කොටින්ම කියනව නම් පංච උපාදානස්කන්ධයම දුකයි කියල. දැන් එතකොට කෙනෙකුට දුක්ඛ ආර්ය සත්‍යය වැටහුනා නම්, ලොව්තුරා බුදු පියාණන් වහන්සේ හෙවත් ඒ මහා විද්‍යාඥයා විසින් පෙන්වා දුන්න දහම තුලින් වැටහෙනව ඇරෙන්න, අනික් කෙනෙකුට ඒ දුකෙන් මිදෙන්න නම් මාත්‍රයක්වත් වැටහෙන්න විදිහක් නෑ කියන ධර්ම න්‍යායට මේ කතාවේ එකඟතාවය හොයල බලන්න ඕන.

එහෙනම් බෞද්ධයා දකින්නා වූ දුක්ඛ ආර්ය සත්‍යය, ලොව්තුරා බුදු පියාණන් වහන්සේ විසින් දේශනා කරපු න්‍යාය ධර්මය අහල තේරුම් ගත්ත කෙනෙක් හැර තව කෙනෙකුට දැකගන්න ක්‍රමයක් නෑ. ඒ නිසා අබුද්ධෝත්පාද කාලයක චතුරාර්ය සත්‍යය දර්ශනය කරන්න පුළුවන්කමක් නෑ. මොකද බුදු දහම තුලින් මතු වෙච්ච නැති නිසා, ඒ මහා විද්‍යා සිද්ධාන්තය ලෝකයට මතු කරල දුන්නෙ නැති නිසා.

දැන් එතකොට ලෝකයා ජරාව දුකයි කියල කියනවා. බැරි වෙලාවත් ඔය ලෝක සම්මතයේ ඉන්න අන්‍යාගමික කෙනෙක් හෝ මොනම ආගමක්වත් පිළිගන්නෙ නැති කෙනෙක් හෝ ඇහුවොත්, ඔබට විතරද ජරාවක් ආවම දුක කියල වැටහෙන්නෙ, ඇයි මට වැටහෙන්න හේතු නැත්ද කියල, මොකක්ද දෙන උත්තරය? ව්‍යාධිය දුකයි, මහළු වෙන එක දුකයි, වැහැරෙන එක, අතපය හැකිලිලා යන එක, ඇඟ රැලි වැටෙන එක... මේව දුකයි කිව්වම, ඇයි අනේ ඔය බෞද්ධ කියන අයට විතරද ඕව දුකයි කියල තේරෙන්නෙ, ඇයි අපෙන් ඇහුවොත් අපිට තේරෙන්නෙ නැත්ද කියල ඒ අයත් ඇහුවොත් අපි දෙන උත්තරය මොකක්ද? ඒ අය කිව්වොත්, ඕක නම් ඔය බෞද්ධ කියන විශේෂ පිරිසට විතරක් තේරෙන එකක් නෙවෙයි, මහළු වුනාම, මැරුනම දුකයි කියල අපිටත් දැනෙනවනේ, අපිටත් හිතාගන්න පුළුවන් කිව්වොත් අපි නෑ කියන්නද? අප්‍රියයන් සමග එකතු වීම දුකයි කියනවා. ඉතින් අපිටත් ඒක එහෙමනේ කියල ඒ අය කිව්වොත් අපි නෑ කියන්නද? විද්‍යා සිද්ධාන්තයක් තියෙනව නම් ප්‍රියයන්ගෙන් වෙන්වීම දුකයි කියල, ඉතින් එතකොට ඔය අයට විතරක් නෙවෙයි අපිටත් දුකයි, අපේ අයත් අඬනවා, දුක් වෙනවා, ඒව දුකයි කියල අපිත් දකිනවා, කැමති යමක් ලැබෙන්නෙ නැත්තම් ඒක අපිටත් දුකයි කියල ඒ අය කිව්වොත් අපිට දෙන්න තියෙන උත්තරය මොකක්ද?

**අපි ඔය ලෝක සම්මතයේ ඉන්න මුස්ලිම් හෝ ක්‍රිස්තියානි භක්තිකයෙක්ගෙන්, අප්‍රියයන් සමග එකතු වීම ඔබට සැපද, ඔබට වැටහෙන්නෙ කොහොමද, ප්‍රියයන්ගෙන් වෙන්වීම ඔබට සැපයි කියල වැටහෙනවද?... ආදී වශයෙන් ඇහුවොත් ඒ අය අපිට වඩා වෙනස් උත්තරයක් දෙයිද? එහෙනම් ඒ අයටත් දුකයි කියල වැටහුනා නම්, ඒක දුක්ඛ ආර්ය සත්‍යය නම්, බුදු රජාණන් වහන්සේ පහල වෙලා දුක්ඛ ආර්ය සත්‍යය දේශනා කරන්න අවශ්‍ය වෙන්නෙ නැහැනෙ. මොකද ඒක අනෙක් අයටත් වැටහෙනවනේ.**

එහෙනම් අර න්‍යාය ධර්මය මොකක්ද? බුදු පියාණන් වහන්සේ ලෝකයට පහල වෙලා කියල දෙන න්‍යාය ධර්මයෙන් දකින දුක වෙනත් කිසිම කෙනෙකුට දැනගන්න විදිහක් නෑ කියන කාරණය උන්වහන්සේ විසින් පෙන්වා දුන්න දෙයක් තුලින්මයි දකින්නෙ කියන අන්න ඒ රටාව මොකක්ද? ඒක දන්නෙ නැත්නම්, නිවන් අවබෝධ කර ගන්න අවශ්‍ය වන මහා විද්‍යා සිද්ධාන්තයක් වන දුක්ඛ ආර්ය සත්‍යය දැක්කා කියල ඔප්පු කරන්න බෑ.

එහෙනම්, දුක දැක්කෙ නැත්නම්, ඒක දුක කියලවත් තේරුම් ගත්තෙ නැත්නම්, දුක හට ගන්න හේතු කොහොම දැනගන්නද? යමක් දුකයි කියල දැන ගන්න ක්‍රමයක් තියෙනව නම්, ඒක ආර්යයන් විසින් නිවන් අවබෝධ කරගන්න දකින විද්‍යා සිද්ධාන්තයක් වන ඒ දුක්ඛ ආර්ය සත්‍යය නම්, ඒක කෙනෙකුට වැටහෙන්නෙ නැත්නම්, මෙන්න මේකයි ඔය දුක්ඛ ආර්ය සත්‍යය කියන එක හේතු සාධක ඇතිව තේරුම් ගන්න බැරි වුනා නම්, කොහොමද ඒක හට ගන්නෙ මෙහෙමයි කියල නිගමනය කරන්නෙ? ඒක නැති කරන්නෙ මෙහෙමයි කියල නිගමනය කරන්නෙ කොහොමද? ඒක නැති කරන මාර්ගය මේකයි කියල කොහොම නිගමනය කරන්නද? හැබැයි වචන ටික නම් අපිට කට පාඩමින් කියාගෙන එන්න පුළුවන්.

දුක්ඛ සමුදය ආර්ය සත්‍යය මොකක්ද? යායං තණ්හා, පෝනෝ භවිකා නන්දි රාග සහගතා තත්‍ර තත්‍රාභි නන්දිනී සෙය්‍යථීදං, කාම තණ්හා, භව තණ්හා, විභව තණ්හා... මම දුක්ඛ සමුදය ආර්ය සත්‍යය දන්නව කියල ඔය වචන වැල කියාගෙන යන්න පුළුවන්. දුක්ඛ නිරෝධ සත්‍යය දන්නවද කියල ඇහුවම, යෝ තස්සායේව, තණ්හාය අසේස, විරාග නිරෝධා... යම් ආකාරයකින් මේ තෘෂ්ණාවේ ශේෂයක් නැතිව විරාගයට නිරෝධයට පත් වෙනවද, චාගයක් (ත්‍යාගයක් හෙවත් අතහැරීමක්), පිළිනොගැන්මක්, මිදීමක්, නොඇල්මක් එනවද, මේක දුක්ඛ නිරෝධ ආර්ය සත්‍යයයි කියල මෙහෙම වචනවලින් කියන්නත් පුළුවන්. තේරුම් කරල දෙන්නත් පුළුවන්. ඒ වගේම දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදා ආර්ය සත්‍යය ඇහුවම, අයමේව අරියෝ අට්ඨංගිකෝ මග්ගෝ සෙය්‍යථීදං සම්මා දිට්ඨි... සම්මා සමාධි... මේ විදිහට බුදු රජාණන් වහන්සේගේ දේශනය මාතෘකා වශයෙන් කැටි වෙලා තියෙන ඒ වාක්‍ය වැලෙන් කියන්නත් පුළුවන්.

දැන් ඉතින් ඔය ටික කොයි කාලෙක ඉඳන් කියාගෙන එනවද? ඉතින් **චතුරාර්ය සත්‍යයේ පළමු දර්ශනයවත් හම්බ වුනා නම් අපේ මේ බෞද්ධ කියන පිරිස මේ වෙනකොට කොච්චර සුද්ධවන්ත වෙලා තියෙන්න ඕනද? නමුත් එහෙම වෙලා තියෙනවද? ලෝක සම්මතයේ ධර්මධර කියල කියා ගන්නා පිරිසම අද වෙනකොට කොච්චර නම් වචන හරඹවල පැටලිලා එකිනෙකාට ප්‍රසිද්ධියේ චෝදනා අපහාස එල්ල කර ගන්නවද?** එහෙනම් ඔය වචන වැලයි, ඕකෙ සිංහල අර්ථයයි තියෙන අපිට, දුක්ඛ ආර්ය සත්‍යයයි කියල පෙන්වපු, අන්‍ය කෙනෙකුට ගෝචර නොවන බුද්ධියට ගෝචර වන ඒ මහා විද්‍යා සිද්ධාන්තය මොකක්ද කියල තේරුම් ගන්න නම්, අනික් අය නොබලපු ක්‍රමයකින් බලල යමක තියෙන දුක දකින්න ඕන. ඒකට වචන පදවලට කොටුවෙන්නෙ නැතිව, වචන පද ඉක්මවා ගිහින් නිදහස් නැණ නුවණින් විමර්ශනය කරල බලන්න පුරුදු වෙන්න ඕන.

එහෙනම් **ලෝකයා සැපයි කියන දේ තුල කවදහරි අපිට දුකක් දකින ක්‍රමයක් තිබුන නම්, අන්න එදාට**



**වැදගත් දෙයක් හම්බ වෙනවා.** මේ ලෝකයේ ජීවත් වෙන කිසිම කෙනෙක් තමන්ගෙ සාමාන්‍ය මානසිකත්වයට සැපයි කියල තියෙන දෙයක් තුල දුක දකින්නෙ නෑ. සැපයි කියන යමක් විද්‍යමාන වෙනව නම්, ප්‍රිය ස්වභාවයක්, මධුර ස්වභාවයක් ලෝකයේ විද්‍යමාන වෙනව නම් ඒවා සැපයි කියන නිගමනයේ ඉන්නවා. අන්න ඒවා තුල දුකක් සැඟවිලා තියෙනව කියල දකින්නෙ නෑ. මෙන්න මේක තමයි සාමාන්‍ය ලෝකයා දකින්නෙ නැති, ඒ වගේම හරියාකාරව විද්‍යා සිද්ධාන්තයන්ට අනුව නිදහස් නැණ නුවණකින් බැලුවොත්, ඊට පස්සෙ ඒක නම් සම්පූර්ණ ඇත්ත තමයි කියල තමන්ට දුක වැටහෙන ක්‍රමය. ඊට පස්සෙ මහා දාහයකින් අසහනයකින් ලෝකයට දුන්න වටිනාකම බැහැල යනවා. ලෝකය වෙනුවෙන් පොර කන, ගහ මරාගන්න මානසිකත්වය නැතිවෙලා යනවා. එහෙම ක්‍රමයත් තියෙනවා. අන්න ඒක තමයි සැඟවිච්ච ක්‍රමය.

**කවදහරි මේ සැඟවිච්ච ක්‍රමය එළි දැක්කෙ නැත්නම් ඒ තාක් කල් වචන ටික කියව කියව ඉන්න පුළුවන්. ඕකෙ සිංහල තේරුම මේකයි කිය කියා ඉන්න පුළුවන්.** හැබැයි දුක්ඛ ආර්ය සත්‍යය පිළිබඳ, දුක පිරිසිඳ දැන ගැනීම සඳහා යම් වැඩපිළිවෙලක් ඇත්ද, අවබෝධ කර ගැනීමක් ඇත්ද, ඒක දකින කල් දුක්ඛය පිළිබඳ අවබෝධයක් එන්නෙ නෑ. එතකල් දුක්ඛ ආර්ය සත්‍යය පිළිබඳ අවබෝධයක් ලැබෙන්නෙ නෑ. **යම් කිසි දෙයක තියෙන ප්‍රියභාවය හෙවත් පිරිය සිඳ දකින්න පුළුවන් නම් ඒක තමයි පිරිසිඳ දකිනවා කියන්නෙ. එතකොට යමකට තණ්හාවෙන් ආසාවෙන් හදා ගත්ත ප්‍රියභාවය මානසික වශයෙන් සිඳල දැම්මම ඒ කෙරෙහි තියෙන දාහය, අසහනය, වටිනාකම දුරු වෙලා යනවා.**

එහෙනම් තියෙන අඩුපාඩුව මොකක්ද? **අපි සැපයි, හොඳයි, මනාපයි, යහපතයි කියල හිතාගෙන ඉන්න ඒවා තුල යම් කිසි දුකක් තියෙනවද, අන්න ඒක දකින ක්‍රමයක් තියෙන්න ඕන.** ස්වභාවයෙන්ම ලෝකයේ තියෙන දුක නම් කවුරුත් දකිනවා. ඒක දකින්න ලොව්තුරා බුදුන් වහන්සේ පහල වෙන්න ඕන නෑ. ඔය ටිකෙන් දුක දකින්න පුළුවන් නම්, ඔය වගේ විද්‍යා සිද්ධාන්තයන් ඉදිරිපත් කරන්න ඕන නෑ. ඒකෙ දුක නැතිව නෙවෙයි. කවුරුත් දකින දුක ඒකෙ තියෙනවා. **ජරාවට පත් වෙන එක, මැරෙන එක, කැමති දෙයක් නොලබන එක, අකමැති අය සමග එකතු වෙන්න සිද්ධ වෙන එක... ඔය වගේ දේවල් දුකයි කියල දැන ගන්න ලොව්තුරා බුදුන් වහන්සේ ලෝකයට පහල වෙන්න ඕන නෑ. ඒක සාමාන්‍ය ලෝකයාටත් ගෝචරයි.**

එහෙනම් මොකක්ද දකින්න ඕන? **අපිට ක්‍රමයක් තිබුනොත්, අර කැමති අය සමග එකතු වීමෙන්, කැමති අය ළං කර ගැනීමෙන් දුකක් එනව කියල අන්න ඒකෙ විශේෂත්වයක් තියෙනවා. නමුත් එහෙම දෙයක් ගැන මේ දක්වා අපි හිතල නෑ. අපි අකමැති අය, අකමැති දේවල් සමග එකතු වෙන්න සිද්ධ වුනොත් දුකක් එනව කියල විතරයි දන්නෙ.** එතකොට මොකද වෙන්නෙ? ආස්වාදයට, සැපට, ප්‍රිය මනාපයට මුල යමක් දුක සහිතව තියෙනව නම්, අන්න ඒ දුක යමකින් වහල තියෙනවා. අන්න ඒ වහල තියෙන එකේ ආස්වාදයේ එල්ලිලා අපි දුකක් පසුපස යනවා. නමුත් ඒක අපි දන්නෙ නැති දෙයක්, අපි හිතපු නැති දෙයක්. හිතන්න ඉස්සර වෙලා අපේ හිත මුලාවට පත් කරන එක්තරා ධර්මතාවයක් තියෙනවා. ලෝකයේ ප්‍රිය, මධුර කියල ස්වභාවයක් තියෙනවා. මෙන්න මේ ප්‍රිය, මධුර ස්වභාවය එක්තරා මායා දර්ශනයක් වශයෙන් දුක් ගොඩක් වටලලා, පටලලා අන්න ඒ තුල ලස්සන සුන්දර වස්තුවක් හැටියට මතු කරල තියෙනවා.

එහෙනම් මේ සුන්දර වස්තුවක් හැටියට පෙන්වල තියෙන දුක පිළිබඳව විග්‍රහ කරල තේරුම් ගන්න ඕන. එතකොට අපිට පුළුවන්කම ලැබෙනවා දුක්ඛ ආර්ය සත්‍යය මොකක්ද කියල තේරුම් ගන්න. එහෙනම් **සුන්දර ලෝකය දුකයි කියල දකින්න පුළුවන් ක්‍රමයක් න්‍යාය ධර්මයට අනුව යම් දවසක ආව නම්, අන්න ඒ වෙලාවෙදි අපිට තෝරගන්න පුළුවන් වෙනවා, ආර්යන් විසින් දැකිය යුතු දුක.** එහෙම නැත්නම් මහා බුද්ධියක් ඇති මහා විද්‍යාඥයා විසින් පෙන්වා දුන්න, කිසි දවසක වෙනස් නොවන විද්‍යා සිද්ධාන්තයක් තුලින්, දුක්ඛ ආර්ය සත්‍යය අපි දැක්කා කියල සතුටු වෙන්න පුළුවන් අවස්ථාවක් ලැබෙනවා. හැබැයි තවම දුක්ඛ ආර්ය සත්‍යය විග්‍රහ කළේ නෑ. යම් කිසි විදිහකින් හඳුන්වා දීමක් කළා විතරයි.

ඒ නිසා හොඳින් තේරුම් ගන්න ඕන, මේ ලෝකෙ හැමෝම දකින දුක නම් දුක්ඛ ආර්ය සත්‍යය නෙවෙයි. ඒක පෙන්වන්න ලොව්තුරා බුදුන් වහන්සේ වගේ මහා විද්‍යාඥයෙක් ලෝකයට පහල වෙන්න ඕන නෑ. සැපයි සැපයි කියන ඒවා තුල ලෝකයාට හොයාගන්න බැරි සැඟවිච්ච දුකක් තියෙනවා. අන්න ඒ දුකයි අපි හොයා ගන්න ඕන. මෙන්න මේ වෙලාවෙදි අපි දැනගන්න ඕන වැදගත් දෙයක් තියෙනවා. දුකක් බව තේරුම් ගන්න බැරි විදිහට වැහිල තියෙන දුකක් තියෙනවා. අන්න ඒක තෝරාගන්න ඕන. අපි මෙච්චර කල් දුකක් බව දන්නෙ නැතිව සැපක් කියල හිතාගෙන විඳපු දුකක් තියෙනවා. මොකද විමර්ශනය කරල බැලුවෙ නෑ. දුකක් විඳල තියෙන්නෙ මොකටද කියල අපි විමර්ශනය කරල බැලුවෙ නෑ. ඒ විඳපු දුක මොකක්ද? ඇත්ත වශයෙන්ම ඇයි අපිට ඒක වැටහුනේ නැත්තෙ කියන මෙන්න මේ කාරණය තේරුම් ගන්න ඕන. ඒක සුළු දේකින් විග්‍රහ කරන්න බෑ. බොහෝ උදාහරණ උපමා අවස්ථා අරගෙන විග්‍රහ කරන්න වෙනවා.

මේ සැපයි කියන ඒවා අතරේ අපි මෙතෙක් කල් නොදැකපු දුකක් තියෙනවා. තවත් විදිහකින් කියනව නම් සැප වට කරල, යට කරල තියෙන දුකක් තියෙනවා. අන්න ඒකයි මේ විද්‍යා සිද්ධාන්තය තුලින්

# ලෝකයේ හට ගැනීම සහ විනාස වීම පිළිබඳ කෙටි විග්‍රහයක්...



යම් භෞතික ලෝකයක් සහමුලින්ම වැනසිලා ගිහින් යළි පහල වීම ඉබේටම හෝ ආවේණික ගති ලක්ෂණ නිසා හෝ සිද්ධ වෙන දෙයක් නෙවෙයි. තණ්හා - උපාදාන - භව - ජාති කියන සිද්ධාන්තය අනුව සිද්ධ වෙන හේතු ඵල ක්‍රියාවලියක්. විනාසයට පත්වෙච්ච සතර මහා භූතයන්ගේ සියුම් පරමාණු හෙවත් සුද්ධාෂ්ටකත් විනාස වෙලා ගිහින් අන්තඃකල්ප 20 ක් වැනසිලා තියෙන කාලය ලෙසත්, එබඳුම අන්තඃකල්ප 20 ක් ගොඩ නැගෙන කාලය ලෙසත් ඇවිත් මනුස්ස ලෝකය පහල වීම සඳහා ක්‍රියාත්මක වෙනවා. ලෝකයේ විනාසය සහ යළි පහල වීම බුදු දහම තුල මේ විදිහට පෙන්වා තියෙනවා.

ලෝකයේ මිනිස්සු, සත්තු, ද්‍රව්‍ය, වස්තු ලෝක විනාසයේදි විනාස වෙලා ලෝකය සහමුලින්ම දැවිල අළු බවටත්, දූලි බවටත්, දූලි සුනු බවටත්, සුනු විසුනු බවටත් පත්වෙන්න අන්තඃකල්ප 20 ක් ගත වෙනවා. මේ කාලය මහා කල්පයකින් 1/4 ක පංගුවක්. අන්තඃකල්පයක් කියන කාලයට බුදු රජාණන් වහන්සේ ආනන්ද හාමුදුරුවන්ට කරපු විස්තරයකදි උපමාවක් පෙන්වමින්, ගිජ්ජකූට නම් මේ මහා පර්වතය අවුරුදු සීයකදි කසී සළුවකින් වරක් පිරිමදිනවද, ඒ විදිහට පිරිමැදීම හේතු කොටගෙන යම් කාලයක අබ ඇටයක් තරම්වත් ඉතිරි නොවෙන්න පර්වතය ගෙවිල යනවද, අන්තඃකල්පයේ තවත් ශේෂයක් ඉතිරි වෙන බව දේශනා කරල තියෙනවා. මෙබඳු අන්තඃකල්ප 20 ක් ලෝකය විනාස වෙන්න යන කාලයක්. ඊළඟට එබඳු අන්තඃකල්ප 20 ක කාලයක් ලෝකය විනාස වෙලා පවතිනවා.

ලෝකය විනාස වෙනකොට ධර්මතාවයෙන්ම ලෝකාන්තරික නරකයේ නිරි සතුන් සහ ප්‍රථම ධ්‍යාන තලයෙන් ඉහල බ්‍රහ්ම ලෝක හැර සතර අපාය ඇතුළු අනෙක් සියලු ලෝකවල සතුන් ආභස්සර බ්‍රහ්ම ලෝකයේ ඉපදෙනවා. ඊට පස්සෙ ක්‍රමයෙන් ආභස්සර බ්‍රහ්ම ලෝකයෙන් චුත වෙනකොට පෙර තිබ්ච්ච කාම ලෝකය මතකයට ඇවිත් බ්‍රහ්ම කල්පික මනුස්සයින්ගේ භව ශක්තියේ ක්‍රියාවලිය නිසා, මේ මනුස්ස ලෝකයේ මිනිස් මූලිකයන්ගේ පහල වීමට තවත් එබඳුම අන්තඃකල්ප 20 ක් ගත වෙනවා. එතැන් පටන් මිනිස්සු දස අකුසල් කරමින් සතර අපාගත වෙමින් මිනිස්, සත්ත්ව වාසය විදිහට අන්තඃකල්ප 20 ක් පවතිනවා. ඒ අතරෙම තවත් කොටසක් දස පුණ්‍ය ක්‍රියා කරමින් වඩන දේව සංඛාර නිසා දේව ලෝකත් පහල වෙනවා.

ඊට පස්සෙ මනුස්සයින්ගෙ ලෝභ, ද්වේශ, මෝහ වැඩි වෙලා ලෝකය ගිනි ගෙන විනාස වෙමින් ඒ වගේම අන්තඃකල්ප 20 ක් පවතිනවා. අන්තිමට සතර මහා භූත, සුද්ධාෂ්ටක පරමාණු බවට පත් වෙලා සුද්ධාෂ්ටකත්

›

---

හොයාගන්න ඕන. ඒ තුලින් තමයි සැනසීම උදා කරගන්න ඕන. ඒ ටික වැටහුනා නම්, පාපයෙන් දුශ්චරිතයෙන් වෙන් වෙන්න අමුතුවෙන් ආධාරකයක් හොයන්න දෙයක් නෑ. අමුතු ආයාසයක් ගන්න දෙයක් නෑ. කාගෙවත් අණකට, බය කිරීමකට යටත් වෙලා පාපයෙන් දුශ්චරිතයෙන් වෙන් වෙනව නෙවෙයි. අවබෝධයෙන් තමන් විසින්මයි වෙන් වෙන්නෙ. දුක්ඛ ආර්ය සත්‍යය කෙනෙකුට වැටහුනා නම්, එතන දුකට හේතුව වැටහීමත්, දුක්ඛ නිරෝධය වැටහීමත්, දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදාව වැටහීමත් තියෙනවා. ඒ සියල්ලම එතන තියෙනවා. මොකද එකක් වැටහුනොත්, ඉතිරි ආර්ය සත්‍ය තුනත් වැටහෙනවා කියන කාරණය ඒ සිද්ධාන්ත මාලාවෙම පෙන්වා තියෙනවා. අන්න ඒ සිද්ධාන්තය, සත්‍යය හොඳින් විග්‍රහ කරල තේරුම් ගත්තට පස්සෙ ආර්ය මාර්ගය තුල පරප්‍රත්‍ය රහිතයි. ඒ කියන්නෙ ඊට පස්සෙ සහමුලින්ම සැනසීම කරා යන්න අනුන්ගෙ ආධාරයක් ඕන නෑ, කාගෙවත් කියමනක්, බල කිරීමක් අවශ්‍ය නෑ. තමන්ටම විද්‍යා සිද්ධාන්ත තුලින් නිගමන එනවා. ඥාන දර්ශනය නැගිල එනවා. ඒ ඥාන දර්ශනයට ලෝකයේ යථා ස්වභාවය වැටහෙනවා.

සැනසුම් බුදු දම් මග පිහිටන විට සදහම්
ආලෝකය වෙනවා

සැනසුම් ගුණ දම් දම් කඳ දුටු විට
සිවුසස් අවබෝධය දෙනවා

සැනසුම් නැණ දම් මග වැටහුන විට ලෝ
දුක් කරදර දුරු වෙනවා

සැනසුම් අම දම් නිවන් දකින විට භව
ගිනි දුරු වී සැනසෙනවා

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කළ සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

විනාස වෙලා යනවා. විනාස වෙච්ච ලෝකය විනාස වෙලා පවතින කාලයත් අන්තඃකල්ප 20 යි. ඒ කාලය තුල සුද්ධාෂ්ටක පරමාණුත් නෑ. මේ විදිහට සිද්ධ වෙච්ච වාර අනන්ත බවත්, මෙය විශ්වයේ නිර්මාණ චක්‍රය බවත්, මේ චක්‍ර ක්‍රමය අනාදිමත් බවත් දේශනා කරල තියෙනවා. ලෞකික වූ යෝගී ඍෂිවරයෙකුට මේ අන්තඃකල්ප 40 කට වැඩි අතීතයක් පේන්නෙ නැති බවත් පෙන්වා තියෙනවා.

හැබැයි මේ කියන සුද්ධාෂ්ටක පරමාණුව නවීන විද්‍යාවේ එන පරමාණුවට වඩා අති සියුම්. සම්මත වශයෙන් හඳුන්වන්න ඕන නිසයි මෙතනදි පරමාණු කියන වචනය භාවිතා කළේ. නැත්නම් නියම වචනය තමයි සුද්ධාෂ්ටක. ආපෝ, තේජෝ, වායෝ, පඨවි, වර්ණ, ගන්ධ, රස, ඕජා කියන සුද්ධ වූ කොටස් 8 කින් හැදිච්ච නිසා තමයි සුද්ධාෂ්ටකය කියන්නෙ. නවීන විද්‍යාවේ සම්මත පරමාණුව මේ සුද්ධාෂ්ටක පරමාණුව වගේ සිය දහස් ගණනක් විසාලයි. මනුස්සයෙක්ගෙ මස් ලේ ඇහින්, අන්වීක්ෂ වගේ උපකරණවලින් මේ සුද්ධාෂ්ටක පරමාණුව බලන්න බැරි වුනත් මේවත් රූප කලාපයන්මයි.

හැබැයි මේ සුද්ධාෂ්ටකයත් සදාතනික නෑ. ඒකටත් ආයු කාලයක් තියෙනවා. මොකද සුද්ධාෂ්ටක හදන්නෙත් පටිච්ච සමුප්පාද චක්‍රයෙන්. පටිච්ච සමුප්පාදය ක්‍රියාත්මක වෙනකොට සත්ත්වයින්ගෙන් උතුජ රූප කලාප නිකුත් වෙලා භ්‍රමණය වීම තුල තමයි ඒවා හට ගන්නෙ. කාම ලෝකයට අදාළ උතුජ රූප කලාප නිකුත් වෙන්න නම් මේ ලෝකයේ පංච කාමය උලාගෙන කන පිරිසක් ඉන්න ඕන. නමුත් සතර අපා, මනුස්ස, දිව්‍ය ලෝක විනාස වුනාට පස්සෙ කාම ලෝකයේ එහෙම උලාගෙන කන එක සත්ත්වයෙක්වත් නෑ. එතකොට දේව, මනුස්ස, සතර අපාගත කියන කාමාවචර ලෝක පහල වෙන්න හේතු වෙන පටිච්ච සමුප්පාද චක්‍රයක් නැගෙන්නෙ නෑ. එතකොට ඊට අදාළ උතුජ රූප කලාප නිපදවීමත් තාවකාලිකව නතර වෙනවා.

සමහරෙක් පවසන විදිහට නවීන විද්‍යා පරමාණුව වඩා සියුම් කළාම වේදනා, සංඥා ආදී නාම, ශක්ති බවට පත්වෙනවා. ඒ මේ කාලයේ පවතින එක්තරා වැරදි මතයක්. **සෘද්ධි බල සහ දිවැස් තියෙන මහ රහතන් වහන්සේලාගේ දිවැසටත් පේන්නෙ නැති ප්‍රේතයන් ගිජ්ජකූට පර්වතය පාමුල ඉන්න බවත්, මුගලන් මහ රහතන් වහන්සේට සහ බුදු රජාණන් වහන්සේට විතරක් දිවැසට පෙනුන බවත් දේශනා කරල තියෙනවා.** එබඳු ප්‍රේත ශරීරත් රූප කලාපම මිසක් නාම කලාප නොවෙන කොට, යමෙක් අල්ප වූ මනසකින් සූක්ෂම රූප කලාප ඉක්මවල ප්‍රත්‍යක්ෂයෙන් නාම කලාප හැදෙන හැටි දැක්ක නම්, ඔහු බුදු රජාණන් වහන්සේටත් වඩා ඉහල ඥානයක් තියෙන කෙනෙක් විය යුතුයි. නමුත් ඒක කිසි දවසක සිද්ධ වෙන දෙයක් නෙවෙයි. ඒ නිසා අන්ත මුළා අදහස්වලට රැවටිලා අනෙක් අයත් රැවටීම ලෝකයටම සිද්ධ වෙන මහා විනාසයක් විදිහටත්, ධර්මයේ වැනසීමට හේතුවෙන පිළිලයක් විදිහටත් වටහාගෙන ධර්මානුකූල නිගමනයකට බහින්න උත්සාහ කරන්න ඕන.

ලෝක විනාසයේදී, සතර මහා භූත නවීන විද්‍යා සම්මත පරමාණුවේ ප්‍රමාණයට වඩා සිය දහස් ගුණයෙන් සූක්ෂම වෙච්ච සුද්ධාෂ්ටකයට යනකල්ම වැනසිලා, අන්තිමට චිත්ත ශක්තියට ගෝචර වෙලා හට ගත්ත එකදු පරමාණු සම්පිණ්ඩනයක්වත් ඉතිරි නොවී ඒ සුද්ධාෂ්ටකත් ඇතුළුව සකස් වෙච්ච සියල්ල වැනසුනාම, රූප සූක්ෂමයන්ගෙන් හට ගත්ත කිසිවක් ඉතිරි නොවී විනාස වෙනවා. යම් වේදනා, සංඥා, සංඛාර හෝ විඤ්ඤාණ ධාතුවක් ඒවායින් හැදුන නම් ඒ සියල්ලත් විනාස විය යුතුයි.

නමුත් **අසංඛ්‍ය කල්ප ගණනින් ලෝකය කොච්චර වාරයක් විනාස වුනත්, එකම මතක සටහනක (නාම ගෝත්‍ර) අංශු මාත්‍රයක්වත් විනාස වෙලා නැති බව, ලොව්තුරා ගෞතම බුදු රජාණන් වහන්සේ සාරා සංඛ්‍ය කල්ප ලක්ෂයකට පෙර සුමේධ තාපසතුමා වෙලා ඉඳෙද්දි දීපංකර බුදු රජාණන් වහන්සේගෙන් විවරණ ලබපු ආකාරය සිහි කළ දේශනා කතාවෙන් පැහැදිලි වෙනවා. ඒ මතක සටහන් විනාස වෙලා තිබුන නම් එහෙම සිහි කරන්න බෑ.**

අනන්ත අතීතය මෙනෙහි කරන්නෙ මතක සටහන් හෙවත් නාම ගෝත්‍රවල නොදිරන බව නිසා. "නාම ගොත්තං නජීරති" කියල දේශනා කළේ ඒ නිසා. මේකටත් "නාමය නොදිරයි" කියල අද වැරදි විදිහට අරුත් අරගෙන තියෙනවා. වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ නාම නම් මේවා එක චිත්තක්ෂණයකදි උප්පාද, ඨිති, භංග කියල වැනසිලා යන බව දේශනා කරල තියෙන බුද්ධ දේශනාවට ඒ කාරණය කොහොම ගලපන්නද?

ඒ නිසා **නොදිරන්නෙ නාමය නෙවෙයි, නාම ගෝත්‍රය බව දැනගන්න ඕන. නාමය එකක්, නාම ගෝත්‍ර හෙවත් මතක සටහන තව එකක්.** මේවා සසර සැරිසරන සත්ත්ව පැවැත්මට තණ්හා උපාදාන ඇති කරන්න හේතුවෙන ධර්ම නිසා සරන ධර්ම කියලත් පෙන්වල තියෙනවා. මේ සරන ධර්ම මොහොතක් නෑර කාලය සමග අතීත ගතවන නිසා ඒකීය ස්ථානගත පැවැත්මක් වෙන්නෙ නෑ. අතීතය කරා පරිනාමය වෙනවා. මේවා තණ්හා උපාදාන ඇතිව ඇසුරු කළොත් භවය පහල කරන්න හේතු වෙන, සංසාර දුක ගෙනත් දෙන, ඊට ඇද හෙලන ධර්ම නිසා, සාරත්වයක් ලබන්න පුළුවන් ධර්ම නොවන නිසා, අනත්ත (අනාථ) බව දේශනා කරල තියෙනවා. මේවා නාම ගෝත්‍ර, මතක සටහන්, සරන ධර්ම කියන නම්වලින් හඳුන්වනවා.

ඒ වගේම හීන ලෝකය අපි කවුරුත් දකින ලෝකයක්. නමුත් තමන්ගෙ හීන ලෝකය තමන්ට, අනික් කෙනාගෙ හීන ලෝකය ඔහුට. දෙන්නෙක් හීන ලෝකයකදි හමුවෙන්න පුළුවන්. නමුත් අවදි වෙලා දෙන්න මුණ ගැහිල ඇහුවොත් කිසිම දෙයක් දන්නෙ නෑ. ස්කන්ධ සංස්ථිති නියමය අනුව මතක සටහන්වලට විශ්වයේ ඉඩ තියේ නම් මේ හීන ලෝකයත් විශ්වය තුලම තියෙන ඉඩකඩක් තුල තිබිය යුතුයි. ඒ මට්ටමේ හීන දකින අනික් අයටත් හීන ලෝකයේදි එකිනෙකා හමුවෙන්න පුළුවන් විය යුතු භෞතික හේතු ඔප්පු කළ යුතුයි.

ඒ නිසා මේ මනෝ ස්වභාවයන්, ද්‍රව්‍ය වස්තු සහිත ලෝකයේ කැබලිවලට අමුණන්න ගියොත් දහම විකෘති වෙලා මුළාවට පත්වෙන්න පුළුවන්. සත්‍යය වැනසුවොත් බුද්ධාන්තරයකින් මෙපිට නැවත මතු කරගන්න බැරි මහා අපරාධයක් වෙනවා. ඒ නිසා ඒ කාරණය ගැන බොහොම ප්‍රවේසමෙන් සළකල බලල, දහම පිළිබඳව නොදන්න දේවල් කියන්න යනකොට, ඥානගෝචර නොවන තමන්ගෙ මත පළ කිරීමෙන් වැළකී සිටීම හැමෝටම වැඩදායකයි.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කළ සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# නිවන් ලැබ දෙන කමටහන්...

07 කොටස



දහමට අනුව ලෝකයේ යථා ස්වභාවය අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් තේරුම් ගත්තට පස්සෙ, එතනින් එහාට සසර ගමන කෙළවර කර ගන්නත්, ඉහාත්ම සුඛ විහරණය සඳහා දැහැන් වඩන්නත්, ආර්ය සමාධි ලබන්නත් පොදුවේ සියලු පින්වතුන්ට වැදගත් වන, වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේට සමාධියෙන් නැගුන ආලෝක කමටහන් කිහිපයක් මෙවර සටහන් කරනවා.

**විශේෂයෙන් බණ අහල මූලික මට්ටමට අභ්‍යන්තරයෙන් සුද්ධ වුනත්, භාවනාව හරියට වැඩෙන්නෙ නැති පින්වතුන් ඉන්නවා. මොකද සමහරවිට විවිධ හේතු මත හිර වෙලා කළු කිරණවලින් කය අසුද්ධ වෙලා තිබුනොත් එහෙම වෙනවා. අන්න ඒ වගේ අවස්ථා සුද්ධ කරගන්න මේ ආලෝක කර්මස්ථාන වැදගත් වෙනවා.** උදාහරණයක් විදිහට ලන්තෑරුමක් හරියට පත්තු කළත්, චිමිනිය වටේ දැලි කුණු බැඳිල තියේ නම් හරියට එළිය විහිදෙන්නෙ නෑ. ඒ වගේ වෙලාවට ඒ බැඳිච්ච දැලි කුණු සුද්ධ කළාම එළිය විහිදෙන්න පැතිරෙන්න ගන්නවා. අන්න ඒ වගේ දෙයක් තමයි මේ ආලෝක කර්මස්ථාන වැඩීමෙන් සිද්ධ වෙන්නෙ.

සමහර කර්මස්ථාන බැලු බැල්මට බොහෝ දුරට එක හා සමාන වගේ පෙනුනත්, සුළු සුළු වෙනස්කම් සහිතව සඳහන් කරල තියෙන්නෙ, ඒ ඒ පුද්ගලයන්ට ගැලපෙන විදිහට අවස්ථානුකූලව සමාධියට නැගිච්ච ආකාරය අනුව. ඒ වගේම මේ කර්මස්ථානවල සඳහන් සමහර කර්මස්ථාන වාක්‍ය 3 වතාවක් වඩන්න කියල පොදුවේ සඳහන් කරල තිබුනත්, තමන්ට පහසු විදිහට කැමති වාර ගණනක් වඩන්න පුළුවන්. අනෙක් කර්මස්ථාන වාක්‍යත් එහෙමයි. කාලයක් වඩාගෙන යනකොට තමන්ට වඩාත් හොඳින් ගෝචර වන සහ වැඩෙන කර්මස්ථාන වැඩි වැඩියෙන් භාවිතා කිරීමෙන් ඒ ඒ පින්වතුන්ගේ හේතු වාසනා අනුව ඉහල ප්‍රතිඵල අත්පත් කරගන්න පුළුවන්.

113. අවිදු අඳුර බිඳෙත්වා
අමා එළිය නැගෙත්වා
සසර දුකෙන් මිදෙත්වා
අමා නිවන් දකිත්වා

114. සම්මා සම්බුදු සරණයි
සූර්යාලෝක වෙමි ///
සූර්යාලෝක වෙත්වා ///
ආලෝක වෙත්වා ///

115. සම්මා තිසරණ සරණයි
බුද්ධ සූර්යාලෝක වෙමි
බුද්ධ සූර්යාලෝක වෙත්වා
බුද්ධ ආලෝක වෙත්වා ///

116. ප්‍රභාස්වරත්වයේ ආලෝකයෙන්
බුද්ධ සූර්යාලෝක වෙමි
සූර්යාලෝක වෙත්වා

117. සූර්යාලෝක වෙමි

118. බුද්ධ සූර්යාලෝක වෙමි
බුද්ධ සූර්යාලෝක වෙත්වා

119. සූර්යාලෝක වෙමි ///
ආලෝක වෙමි ///
ආලෝක වෙත්වා ///

120. සූර්යාලෝක වෙමි
බුද්ධ සූර්යාලෝක වෙමි
සූර්යාලෝක වෙත්වා
ආලෝක වෙත්වා
බුද්ධාලෝකයෙන්
ආලෝක වෙත්වා
බුද්ධ බෝධි ආලෝකයෙන්
ආලෝක වෙත්වා ///

121. සියලු දෝසාන්ධකාර
නිරෝධ වෙත්වා ///
ප්‍රභාස්වරත්වයේ ආලෝකයෙන්
ආලෝක වෙත්වා
ඒකාලෝක වෙත්වා ///

122. ප්‍රභාස්වරත්වයේ ආලෝකයෙන්
සූර්යාලෝක වෙත්වා ///

123. සම්මා තිසරණ සරණයි
මමද සියලු ලෝක
සියලු සත්ත්වයෝ
සම්මා තිසරණ සරණින්
ආලෝක වෙත්වා ///

නිබ්බාන පරම සුඛයෙන්
සුඛිත වෙත්වා ///

124. අවිජ්ජා විත බන්ධන
දෝසාන්ධකාර
නිරෝධ වෙත්වා
අවිජ්ජා නීච බන්ධන
දෝසාන්ධකාර
නිරෝධ වෙත්වා
බුද්ධාලෝකයෙන්
ආලෝක වෙත්වා ///

125. මමද සියලු ලෝක
සියලු සත්ත්වයෝ
අනන්ත සම්මා
සම්බුද්ධාලෝකයෙන්
ආලෝක වෙත්වා
සියලු මාර බන්ධනවලින් මිදෙත්වා
නිබ්බාන පරම සුඛයෙන්
සුඛිත වෙත්වා ///

126. මමද සියලු ලෝක
සියලු සත්ත්වයෝ
සම්මා සම්බුද්ධරතනාලෝකයෙන්
ආලෝක වෙත්වා
සම්මා සද්ධම්මරතනාලෝකයෙන්
ආලෝක වෙත්වා
සම්මා සංඝරතනාලෝකයෙන්
ආලෝක වෙත්වා

සම්මා නිබ්බානරතනාලෝකයෙන්
ආලෝක වෙත්වා
නිබ්බාන පරම සුඛයෙන්
සුඛිත වෙත්වා ///

127.මමද සියලු ලෝක
සියලු සත්ත්වයෝ
අනන්ත සම්මා සම්බුද්ධ
ආලෝකයෙන්
ආලෝක වෙත්වා
සියලු මාර බන්ධනවලින් මිදෙත්වා
සියලු මාර බන්ධන
නිරෝධ වෙත්වා
නිබ්බාන පරම සුඛයෙන්
සුඛිත වෙත්වා ///

128.ප්‍රභාස්වරත්වයේ ආලෝකයෙන්
ඒකාලෝක වෙත්වා

129.සම්මා තිසරණ සරණයි
සැවොම අනන්ත සම්මා
සම්බුද්ධරතනාලෝකයෙන්
ආලෝක වෙත්වා ///
සැවොම අනන්ත සම්මා
නිබ්බානරතනාලෝකයෙන්
ආලෝක වෙත්වා ///

130.මමද සියලු ලෝක
සියලු සත්ත්වයෝ
අනන්ත සම්මා
සම්බුද්ධරතනාලෝකයෙන්
ආලෝක වෙත්වා
සකල ක්ලේශ
අතහැරීම නාථයි
අතහැරීම වෙත්වා
නොඇල්ම නාථයි
නොඇල්ම වෙත්වා
මිදීම නාථයි - මිදීම වෙත්වා
නිවනම නාථයි - නිවනම වෙත්වා
නිබ්බාන පරම සුඛයෙන්
සුඛිත වෙත්වා ///

131.සැවොම අනන්ත සම්මා
සම්බුද්ධරතනාලෝකයෙන්
ආලෝක වෙත්වා
සැවොම අනන්ත සම්මා
සද්ධම්මරතනාලෝකයෙන්
ආලෝක වෙත්වා
සැවොම අනන්ත සම්මා
සංඝරතනාලෝකයෙන්
ආලෝක වෙත්වා
සැවොම අනන්ත සම්මා
නිබ්බානරතනාලෝකයෙන්
ආලෝක වෙත්වා

132.සම්මා සම්බුදු සරණයි
ඉතිපි සෝ භගවා... තී
මමද සියලු ලෝක
සියලු සත්ත්වයෝ කෙරෙහි
අවිජ්ජා බන්ධන නිරෝධ වෙත්වා
අවිජ්ජා නීව බන්ධන
නිරෝධ වෙත්වා
අවිජ්ජා මාර බන්ධන
නිරෝධ වෙත්වා
බුද්ධ බෝධි ආලෝකයෙන්
ආලෝක වෙත්වා ///

133.ඉතිපි සෝ භගවා... තී
මමද සියලු ලෝක
සියලු සත්ත්වයෝ කෙරෙහි
අවිදු අඳුර බිඳෙත්වා
අමා එළිය නැගෙත්වා

**(අවසන් කොටස් දෙක වැඩි වාර ගණනක් වඩන්න)**

134.සම්මා සම්බුදු සරණයි
ඉතිපි සෝ භගවා... තී
මමද සියලු ලෝක
සියලු සත්ත්වයෝ
අවිදු අඳුරෙන් අතමිදෙත්වා
බුද්ධාලෝකයෙන්
ආලෝක වෙත්වා ///

135.ඉතිපි සෝ භගවා... තී
මමද සියලු ලෝක
සියලු සත්ත්වයෝ
අවිද්‍යා පටලයෙන් අතමිදෙත්වා
බුද්ධාලෝකයෙන්
ආලෝක වෙත්වා ///

136.සියලු දෝසාන්ධකාර බන්ධන
නිරෝධ වෙත්වා ///
ප්‍රභාස්වරත්වයේ ආලෝකයෙන්
ඒකාලෝක වෙත්වා ///

137.ප්‍රභාස්වරයි - ආලෝකයි

138.රාග නිවන මගෙ සිත ආලෝකයි
රාග නිවන මගෙ ගත ආලෝකයි
ද්වේශ නිවන මගෙ සිත ආලෝකයි
ද්වේශ නිවන මගෙ ගත ආලෝකයි

මෝහ නිවන මගෙ සිත ආලෝකයි
මෝහ නිවන මගෙ ගත ආලෝකයි
නිවන් දකින මගෙ සිත ආලෝකයි
නිවන් දකින මගෙ ගත ආලෝකයි

139.රාග නිවන මගෙ සිත ආලෝකයි
ද්වේශ නිවන මගෙ සිත ආලෝකයි
මෝහ නිවන මගෙ සිත ආලෝකයි
නිවන් දකින මගෙ සිත ආලෝකයි

140.සම්මා තිසරණ සරණයි
සමිඳු පුදන මගෙ ගත ආලෝකයි
සමිඳු පුදන මගෙ සිත ආලෝකයි
සමිඳු පුදන මගෙ ගත සැහැල්ලුයි
සමිඳු පුදන මගෙ සිත සැහැල්ලුයි

141.සම්මා සම්බුදු සරණයි
පව් නොකරන මගෙ
ගත සැහැල්ලුයි
පව් නොකරන මගෙ
සිත සැහැල්ලුයි
පව් නොකරන මගෙ
ගත ආලෝකයි
පව් නොකරන මගෙ
සිත ආලෝකයි

142.සම්මා තිසරණ සරණයි
තරහ නොයන මගෙ
සිත ආලෝකයි
තරහ නොයන මගෙ
ගත ආලෝකයි
තරහ නොයන මගෙ
සිත සැහැල්ලුයි
තරහ නොයන මගෙ
ගත සැහැල්ලුයි

143.නොඇලුනු නොබැඳුනු
හිත ආලෝකයි
නොඇලුනු නොබැඳුනු
ගත ආලෝකයි

144.ඇලුම් බැඳුම් නැති හිත ආලෝකයි
ඇලුම් බැඳුම් නැති ගත ආලෝකයි

145.මටද හැම දෙනාටද
රාගක්‍ෂය වී ආලෝක වෙත්වා
ද්වේශක්‍ෂය වී ආලෝක වෙත්වා
මෝහක්‍ෂය වී ආලෝක වෙත්වා
මාරක්‍ෂය වී ආලෝක වෙත්වා

146.මමද සියලු ලෝක
සියලු සත්ත්වයෝ
රාගක්‍ෂය වී ආලෝක වෙත්වා
ද්වේශක්‍ෂය වී ආලෝක වෙත්වා
මෝහක්‍ෂය වී ආලෝක වෙත්වා
මාරක්‍ෂය වී ආලෝක වෙත්වා

147.සියලු රාග බන්ධන
නිරෝධ වෙත්වා
හැම දෙනා සම්මා සම්බුද්ධ
ආලෝකයෙන් ආලෝක වෙත්වා
සියලු ද්වේශ බන්ධන
නිරෝධ වෙත්වා
හැම දෙනා සම්මා සම්බුද්ධ
ආලෝකයෙන් ආලෝක වෙත්වා
සියලු මෝහ බන්ධන
නිරෝධ වෙත්වා
හැම දෙනා සම්මා සම්බුද්ධ
ආලෝකයෙන් ආලෝක වෙත්වා
සියලු මාර බන්ධන
නිරෝධ වෙත්වා
හැම දෙනා සම්මා සම්බුද්ධ
ආලෝකයෙන් ආලෝක වෙත්වා

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# පෙළ දහමේ සැඟවුණු තැන් සොයා...



19 වන කොටස

## මජ්ජිම නිකාය - 2

### කන්දරක සූත්‍රය - 2 පිටුව

පෙස්ස නම් ඇතරු පුත් හා කරන්දරක පරිබ්‍රාජක බුදු රජුන් ළඟදී තුන් කල් බුදු පිරිසේ ගුණ ගයා සිටි විට, බුදුන් වහන්සේ භික්ෂූන්ගේ සතර සතිපට්ඨානයට අනුකූල පැවැත්ම පෙන්වා කළ දේශනාවකි. අත්තන්තප (තමන් තැවීම) හා පරන්තප (අනුන් තැවීම) යන පිළිවෙත් පිළිබඳව විස්තර ඇත.

### අට්ඨක නාගර සූත්‍රය - 20 පිටුව

දසම ගැහැවි (ගෘහපතිය) ආනන්ද හිමියන්ගෙන් අනුත්ත යෝග ක්ෂේමය (අරිහත්වය) ලබන දහම් ක්‍රමවේදයක් විමසූ විට ක්‍රමවේද 11 ක්ම දෙසූ ධර්මය මෙහි සඳහන් වේ. එනම්, රූපාවචර දැහැන් 4 යි, මෙත්තා, කරුණා, මුදිතා, උපේක්ඛා, චේතෝ විමුක්ති 4 යි, පළමු අරූප දැහැන් 3 යි. (නේවසඤ්ඤානාසඤ්ඤායතනය හැර)

### සේඛ සූත්‍රය - 28 පිටුව

කිඹුල්වත්පුර සාක්‍ය වංශිකයන් අභිනවයෙන් සන්ථාගාරයක් සාදා බුදුන් ප්‍රමුඛ මහා සංඝයා වැඩමවා සිටියා. එවිට සේඛ භික්ෂුව ගැන (සෝවාන් මාර්ග අනුගාමිකයාගේ පටන් අරිහත් මාර්ග අනුගාමිකයා දක්වා) දේශනාවක් කරන්න ආනන්ද හිමියන්ට දැන්වූ විට, මහානාම සාක්‍ය කුමාරයා මුල් කරගෙන කළ විග්‍රහය ඇත. නිබඳ පිරිපුන් සිල් ඇති බව, ඉන්ද්‍රිය සංවරය, බොජුන්හි පමණ දැන වැළඳීම, නිදි වැරීම, සප්ත සද්ධර්මය, සතර දැහැන් ආදිය පෙන්වා කළ දේශනාව ඇත.

### පෝතලිය සූත්‍රය - 38 පිටුව

පෝතලී ගෘහපතියාට බුදු පියාණන් වහන්සේ විසින් කළ දේශනාවක් ඇත. ආර්ය විනයෙහි ව්‍යවහාර සමුච්ඡේදය (ව්‍යවහාරය සිඳීම) සඳහා කරුණු 8 ක් විග්‍රහ කර ඇත. එනම් ප්‍රාණවධ නොකිරීමට හෙවත් ප්‍රාණවධය නමැති ව්‍යවහාරය සිඳීමට ප්‍රාණවධ හළ යුතුය. නුදුන් දෑ නොගැනීමට අයිනාදන් හළ යුතුය. සත්බස නිසා මුසාවාද හළ යුතුය. ගේධ සංඛ්‍යාත ලෝභය (බලවත් ඇල්ම හෙවත් ගිජු වීම නමැති ලෝභය), නින්දා සහ රොස් බව, ක්‍රෝධය හා උපායාස, අතිමානය... මේවායින් වෙන්වීමට මේවා හළ යුතුය. මේ පිළිබඳ විස්තර ඇත.

### ජීවක සූත්‍රය - 54 පිටුව

ජීවක වෙදැදුරු බුදු පියාණන්ගෙන් මස් මාංශ භෝජනය ගැන ඇසූ තොරතුරු මෙන්ම පවත්ත (පාංශුකූල) මාංශය හා භික්ෂුවගේ නිරවද්‍ය භාවය විස්තර කර ඇත.

### උපාලි සූත්‍රය - 60 පිටුව

දීගතපස්සි නුවටු (නිගන්ඨනාථ පුත්තගේ ගෝල) බුදු රජුන්ගෙන් ඇසූ ධර්ම විස්තරයකි. බුදුන් වහන්සේ නිගන්ඨනාථපුත්තගේ පව්කම් කිරීමට, පව්කම් පැවැත්මට කෙතෙක් කර්ම පනවා ඇතිදැයි විමසූ විට, නිගන්ඨගේ අදහස නම් කාය දණ්ඩ, වාග් දණ්ඩ, මනෝ දණ්ඩ යනුවෙන් පවසා ඇත. බුදුන් වහන්සේ චේතනා මූලිකව පනවන කාය කර්ම, වාග් කර්ම, මනෝ කර්ම විග්‍රහ කර ඇත. උපාලි ගෘහපති බුදුන් සමග වාදාරෝපණයට යැවීම, උපාලි ගෘහපති සෝතාපන්න වීම හා නිගන්ඨනාථ පුත්ත ඉදිරියේ බොහෝ ගාථාවලින් බුදු ගුණ ගැයීම ආදිය විස්තර වේ.

### කුක්කුරවතිය සූත්‍රය - 84 පිටුව

ගෝ වෘත සමාදන් වූ කෝලිය පුත් පුණ්ණ හා බලු වෘත සමාදන් වූ සේනිය යන අය සමග කළ සාකච්ඡාවකි. ඒ වෘත අනුව ගවයෙක් සහ බල්ලෙක් වෙන අයුරුද පෙන්වයි.

### අභය රාජකුමාර සූත්‍රය - 92 පිටුව

නිගන්ඨනාථපුත් අභයරාජ කුමරු කැඳවා, බුදුන් වහන්සේ අප්‍රිය වචන කතා කරනවා දැයි අසා වාදයක් කරන්න යැවූ හැටිද, ඒ දේශනාව අවසානයේ අභයරාජ කුමරු උපාසකයෙක් වූ අයුරුද විග්‍රහ කර ඇත.

### බහුවේදනීය සූත්‍රය - 100 පිටුව

පංචකංග නම් වඩුදෙටු හා උදායි හිමියන් අතර වේදනා පිළිබඳව වූ වාදයක් විනිශ්චයෙන් තොරව නිමවීම මුල් කරගෙන බුදුන් වහන්සේ 108 ක් වේදනා නැගෙන අයුරු පෙන්වා ඇත. (වර්තමානයේ 108 යන සංඛ්‍යාව නිතර භාවිතා වේ. ආවර්තිතා වගුවේ මූල ද්‍රව්‍යද 108 කි. යම් කිසි ආකාරයකින් බන්ධනයක් කපන්නත්, ජීවමක් කිරීමේදීත් 108 සංඛ්‍යාත්මකව යොදා ගැනේ. පටිච්ච සමුප්පාදය අනුව වේදනා ප්‍රත්‍යයෙන් තණ්හා වන නිසා වේදනා 108 ක් නම් තණ්හාද 108 ක් තිබිය යුතුය. තණ්හා කියන්නේ ඇලෙන භාවෙන තැන්. ඒ අනුව මේ අතර සම්බන්ධයක් ඇති බව පැහැදිලිය.)

**අපණ්ණක සූත්‍රය - 108 පිටුව**

ශාලා ගම්වැසි බමුණු පිරිසට අපණ්ණක (ඒකාන්ත වූ සත්‍ය වූ ස්ථිර වූ) දහම් පිළිබඳව කළ දේශනාවක් ඇත.

**අම්බලට්ඨික රාහුලෝවාද සූත්‍රය - 130 පිටුව**

රාහුල හිමියන්ට පාත්‍රයේ අත සේදූ දිය මුල් කරගෙන හතර ආකාරයකින් මුසාවාදයෙහි හිස් බව පෙන්වූ දෙසුමද, සිතින් කයින් වචනයෙන් අවැඩ දැන අතහරිමින් පවිත්‍ර බවට පත්වන අයුරුද පෙන්වා ඇත.

අත සේදූ දිය බඳුනෙහි තිබූ අල්ප වූ දිය ශේෂය පෙන්වා, යම් කෙනෙකුට දැන දැන මුසාවාද කීමෙහි ලැජ්ජාවක් නැත්ද ඔවුන්ගේ ශ්‍රමණ ධර්මය අල්ප වන බවත්, දිය බඳුනෙහි අල්ප වූ දිය ශේෂය බැහැරකොට පෙන්වා, යම් කෙනෙකුට දැන දැන මුසාවාද කීමෙහි ලැජ්ජා නැත්ද ඔවුන්ගේ ශ්‍රමණ ධර්මය බැහැර කරන ලද බවත්, දිය බඳුන යටිකුරු කොට තබා පෙන්වා, යම් කෙනෙකුට දැන දැන මුසාවාද කීමෙහි ලැජ්ජාවක් නැත්ද, ඔවුන්ගේ ශ්‍රමණ ධර්මය යටිකුරු කරන ලද බවත්, දිය බඳුන උඩුකුරු කොට තබා පෙන්වා, යම් කෙනෙකුට දැන දැන මුසාවාද කීමෙහි ලැජ්ජා නැත්ද, ඔවුන්ගේ ශ්‍රමණ ධර්මය හිස් වූ රික්තයක් සේ තුච්ඡ වන බවත් පෙන්වා ඇත.

**මහා රාහුලෝවාද සූත්‍රය - 142 පිටුව**

අතීත, අනාගත, වර්තමාන, හීන, ප්‍රණීත ආදී 11 ආකාර වූ පංචස්කන්ධය පිළිබඳව නේතංමම, නේසෝ හමස්මි, නමේ සෝ අත්තාති... ආදී ලෙස වඩන භාවනා ක්‍රමයද, මහත්ඵල මහානිසංස ලැබෙන ආනාපාන සති භාවනාවද විග්‍රහ කර ඇත. (මේ අනුව මහත් ඵල මහානිසංස නොලබන ලෞකික ආනාපාන සති භාවනා ක්‍රමයක්ද ඇති බව පැහැදිලි වේ.)

**චූල මාලුංක්‍ය සූත්‍රය - 152 පිටුව**

චූල මාලුංක්‍ය හිමිට, ලෝකය සාස්වතද අසාස්වතද ආදී ලෙස බුදු පියාණන් බහා තැබූ කරුණු ගැන දැනගන්න අවශ්‍ය විය. ඒවා උන්වහන්සේ වෙතින් දැනගන්න බැරි වුනොත්, ගිහි වෙමියි කියා ඒ ප්‍රශ්න ඇසූ හැටිත්, උන්වහන්සේ ඒවායේ නිසරුව පෙන්වා දහම් දෙසා, මේ ප්‍රශ්න නොවිසඳුවොත් සසුනෙන් පිටව යන බවට ප්‍රතිඥාවක් දුන්නේ හෝ ගත්තේ හෝ නැති බවත් පෙන්වා එම දොසට නිගරු කර චතුරාර්ය සත්‍යයේ වටිනාකම පෙන්වා කළ දේශනාව මෙහි ඇත.

**භද්දාලි සූත්‍රය - 174 පිටුව**

බුදු හිමි ඒකාසනික භෝජනයේ (එකම ආසනයක හිඳ දන් වැළඳීම) ගුණ පෙන්වන විට භද්දාලි හිමි එය නොපිළිගත් හැටිද, තුන් මසකට පසුව කමා කළ අයුරු හා සික්ෂා පූර්ණ කරන භික්ෂුවට විශේෂ ගුණ වැඩෙන අයුරුද පෙන්වා ඇත. භද්දාලි භික්ෂුව මුල පටන් සික්ෂා පූර්ණ නොකළ නිසා ධර්මාවබෝධය නොවූ බව පවසන විට, එයම හේතුව නොවේ, එයම ප්‍රත්‍යය නොවේ, ඔබ අවධානයෙන් ධර්මය ශ්‍රවණය නොකළ නිසා යැයි කළ දෙසුම ඇත.

**ලටුකිකෝපම සූත්‍රය - 190 පිටුව**

උදායී හිමි බුද්ධානුසාසනාවෙහි ගුණ මෙනෙහි කරමින් සතුටුව බුදු රජුන් හමු වී, මීට පෙර උන්වහන්සේ උදේ, දවල්, සවස විකාලයේ වැළඳූ බවද, නමුත් සික්ෂා පැනවූ පසු ගරු බිය ලජ්ජාව සිහි කර හික්මුනු බවද කී විට, බුදුන් වහන්සේ, මේ සාසනයෙහි භික්ෂුවට ඇතිවන ප්‍රබල බන්ධන ඇති බවත්, සංවර සික්ෂා ගරුක භික්ෂූන්ට ඒ පැනවීම ඉතා සුළු බන්ධනයක් බවත් ලෙහෙසියෙන්ම සිඳෙන අයුරුත් පෙන්වා ඇත.

**චාතුම සූත්‍රය - 206 පිටුව**

සැරියුත් හිමිගේ ගෝල පිරිස වූ අළුත පැවිදි වූ භික්ෂූන් පන් සියයක් අධික ලෙස හඬ නගන අයුරු දැක කෙවුලන් මෙනැයි ගරහා දුරස් කළ අයුරුත්, පසුව සංවර වූ ඒ භික්ෂූන් බුදු රජුන් සමග විසූ අයුරුත්, එසේ මුලදී පිටමං කළ අවස්ථාවේ සැරියුත් හිමිගේ අදහස අසා එබඳු සිතක් නොඉපදවන ලෙසත්, මුගලන් හිමියන්ගේ අදහස අනුමත කළ අයුරුත් පෙන්වා ඇත. දියට බට කෙනෙකුට ඇතිවන බිය 4 ක් පෙන්වා ඌමි භය, කුම්භීල භය, ආවට්ට භය, සුසුකා භය යන 4 ට අනුව නවක සාසනික භික්ෂූන්ට ඇතිවන බිය 4 ක්ද උපමා කර ඇත.

දියට බස්නා පුද්ගලයා මේ සතර බියට කැමති විය යුතුය. එසේම ගිහි ගෙයින් නික්ම සසුනෙහි පැවිදි වූ ඇතැම් පුද්ගලයන් මේ සතර බියට කැමති විය යුතුය.

ඌමි බිය කවරේද යත්, එසේ පැවිදි වූ අය ජාති දුකින්, ජරායෙන්, මරණයෙන්, ශෝකයෙන්, පරිදේවයෙන්, කායික දුකින්, මානසික දුකින්, උපායාසයෙන් දුකට බැස දුකින් මඩනා ලද්දේ වෙයි, මේ හැම දුක්ඛ රාශීන්ගේ කෙළවර කිරීමක් පැනවේ නම් ඉතා යහපතයි කියාය. එසේ පැවිදි වූ ඔහුට සබ්‍රහ්මචාරීහු තොප විසින් මෙසේ ඉදිරියට යා යුතුය, පෙරලා යා යුතුය, ඉදිරියට බැලිය යුතුය, අත් පා හැකිළිය යුතුය, අත්පා දිගු කළ යුතුය, සඟල පා සිවුරු දැරිය යුතුය යනුවෙන් අවවාද අනුසාසනා කරන විට ඔහුට මෙබඳු සිතක් පහළ වෙයි.

අපි පෙර ගිහි ගෙයි වැසි වූවෝ අනුන්ට අවවාදත් කරයි, අනුසාසනාත් කරයි. මොවුන් අපේ පුතුන් වැනිය. මුණුබුරන් වැනිය. අප අවවාද අනුසාසනා කටයුතු කොට සිතන්නාහයි හේ ඌමි බයෙන් බියපත්ව සික්ෂා ප්‍රත්‍යාඛ්‍යානකොට (ප්‍රතික්ෂේප කොට) හීන වූ ගිහි බවට වැටෙයි.

කුම්බීල බිය කවරයත්, එසේ ගිහි ගෙයින් නික්ම පැවිදි වූ ඔහුට, සබ්‍රහ්මචාරීන් විසින් තොප විසින් මෙය නොකෑ යුතුයි, බිඳිය යුතුයි, නොවිඳිය යුතුයි, මේ තොප විසින් ආස්වාද කටයුතුය, මේ ආස්වාද නොකටයුතුය... යනාදී වශයෙන් අවවාද අනුසාසනා කරන විට ඔහුට මෙබඳු සිතක් ඇති වෙයි.

අපි පෙර ගිහි ගෙයි වසන විට යමක් කැමති නම් එය කළහ, නොකැමති නම් එය නොකළහ, යමක් කැමති නම් එය අනුභව කළහ, නොකැමති නම් අනුභව නොකළහ, යමක් කැමැත්තේ නම් එය ආස්වාද කළහ, නොකැමැත්තේ නම් ආස්වාද නොකළහ... ආදී වශයෙන් සික්ෂා ප්‍රත්‍යාඛ්‍යානකොට ගිහි බවට වැටෙයි. මේ කිඹුල් බියෙන් හෙවත් කුම්බීල බියෙන් බිය පත් වී ගිහි බවට පැමිණියේ යැයි කියනු ලැබේ.

එසේම ආවට්ට බය කවරයත්, පිඬු සිඟා වඩින විට පස්කම් ගුණයෙන් යුතු ඉඳුරන් පිනවන ගැහැවියෙකු දැක, අපි පෙර ගිහි ගෙයි වසන කල පස්කම් ගුණයෙන් යුක්තව ඉඳුරන් පිනවා කුල භෝග ඇතිව භෝගයන් පරිභෝග කරන්නටද පිං කරන්නටද හැකි යැයි සිතා සික්ෂා ප්‍රත්‍යාඛ්‍යානකොට ගිහි බවට වැටෙයි, එය දිය සුළි හෙවත් ආවට්ට බයෙන් බියපත් වූයේ වෙයි.

එසේම සුසුකා බය කවරයත්, නොරක්නා ලද කය ඇතිව, නොරක්නා ලද වචන ඇතිව, නොඑළ වූ කායගියාසී ඇතිව (කායගතා සතිය නැතිව) සංවර නොකළ ඉඳුරන් ඇතිව පිඬු සිඟා

වඩින විට මාගමක නපුරු කොට හැඳියා හෝ පෙරවියා දැක (අඟ පසඟ පෙනෙන සේ ඇඳ ගත් ස්ත්‍රියක දැක) රාගය ඔහුගේ සිත ක්ලාන්ත කෙරෙයි. හේ රාගයෙන් කලකුළු (විනාස වූ) සිතින් සික්ෂා ප්‍රත්‍යාඛ්‍යානකොට ගිහි බවට වැටෙයි. මේ සැඩ මසුන්ගේ හෙවත් සුසුකා බිය යැයි දක්වා ඇත.

<u>නලකපාන සූත්‍රය - 216 පිටුව</u>

භද්දිය, අනුරුද්ධ, ආනන්ද... ආදී ඉතා තරුණ කල පැවිදි වූ කුල පුතුන් අරභයා කළ දේශනාවක් මෙහි සඳහන් වේ. භික්ෂුවගේ ඵාසු විහරණයට ධ්‍යාන සුවය පෙන්වා ඇත.

<u>ගුලිස්සානි සූත්‍රය - 228 පිටුව</u>

ඕදාරික ගති පැවතුම් ඇති ආරණ්‍යයේ වසන ගුලිස්සානි භික්ෂුව උදෙසා සැරියුත් හිමි කළ දේශනාවකි. සඟ මැදට පැමිණෙන ආරණ්‍යගත භික්ෂුවක් හැසිරිය යුතු ආකාරය පෙන්වා කළ දේශනාවක් අවසානයේ, මුගලන් හිමියන්ගේ ප්‍රශ්නයකට පිළිතුරු ලෙස ආරණ්‍යවාසී භික්ෂූන්ට එසේ නම් ග්‍රාමවාසී භික්ෂූන් ගැන කියනු කවරේදැයි විස්තර කර ඇත.

<u>කීටාගිරි සූත්‍රය - 236 පිටුව</u>

කීටාගිරියෙහි විසූ අස්සජි හා පුනබ්බසුබ භික්ෂූන්ගේ ලිහිල් පිළිවෙත් සහ ධර්ම ශ්‍රවණයට ප්‍රිය නොවූ ගති නිසාම රාත්‍රී භෝජන තහනම් කර ඇති බව කී විට, එය ගණන් නොගෙන වහසි බස් කීම මුල් කරගෙන කළ බුද්ධ දේශනාවක් මෙහි අඩංගුය. ඒ භික්ෂූන්ට ශ්‍රද්ධා මාත්‍රයක් හෝ යහපත් සේ පිළිපන් කිසි මගක් නැති බව පැවසූ විට ඔවුන් එය පිළිගත් අයුරු පෙන්වා ඇත. පළමු කොටම රහත් බවෙහි පිහිටීම නොකියන බවත්, අනුපූර්ව සික්ෂාවෙන්, අනුපූර්ව ක්‍රියාවෙන්, අනුපූර්ව ප්‍රතිපදාවෙන් අරිහත්වයේ පිහිටීම වන බවත් පෙන්වා ඇත.

<u>තේවිජ්ජ වච්ඡ ගොත්ත සූත්‍රය - 252 පිටුව</u>

වච්ඡ ගොත්ත පරිබ්‍රාජක බුදු පියාණන් වහන්සේගෙන්, නිතරම පවතින සර්වඥතා ඥානය ඇතැයි සමහරු කියන බැවින් එහි සත්‍යතාවය ඇසූ විට, නිතර පවතින සර්වඥතා නුවණක් නැති බව කරුණු සහිතව පවසා, භවත් ගෞතමයන් වහන්සේ ත්‍රිවිද්‍යා ඇති කෙනෙකියි පවසන්න සුදුසු බව දේශනා කර ඇත.

මේ කාරණය "ආවජ්ජනා පටිබද්ධත්ථා සබ්බඤ්ඤුත ඥානං" යනුවෙන් තවත් තැන්වල පෙන්වා ඇත. එනම්, සර්වඥතා ඥානය ආවර්ජනා කිරීම හා ප්‍රතිබද්ධයි. තවත් විදිහකින් කියතොත්, ආවර්ජනා කළ විටයි පෙර අත්බැව් හෝ වෙනත් ඕනෑම යමක් දකින්නෙ. එහෙම නැතිව හැමතිස්සෙම දකින්නෙ නෑ. දකින්න නම් ආවර්ජනය කළ යුතුයි.

එසේම ගිහිව ගිහි බැඳුම් සහිතව කය බිඳී මරණින් පසු දුක් කෙළවර කළ කෙනෙක් නැති බවත්, ස්වර්ගයට ගිය බොහෝ දෙනා ඇති බවත්, එහෙත් ස්වර්ගයට ගිය එක් ආජීවකයෙක් හැර කිසි ආජීවකයෙක් කය බිඳී මරණින් මතු සුගතියට නොගිය බවත් පෙන්වා ඇත. කල්ප 91 ක් බැලීමෙන්ද නොදුටු බව පෙන්වා ඇත. එක් ආජීවකයෙක් පමණක් සුගතියට ගියේ, ඔහු කර්මවාදී ක්‍රියාවාදී වූ නිසාය. එනම්, කර්ම ඵල පිළිගත් නිසාය. අනෙක් ආජීවකයන් කර්ම ඵලවත් පිළිනොගෙන සිටීම නිසා සුගතිගත වී නැත. (සුගති අත්බැවක් ලබා ගැනීමේ ඇති දුර්ලභ බවත් මෙයින් සනාථ වේ)

<u>අග්ගි වච්ඡ ගොත්ත සූත්‍රය - 256 පිටුව</u>

වච්ඡ ගොත්ත පරිබ්‍රාජක බුදුන් වහන්සේගෙන් ලෝකය සාස්වතද, අසාස්වතද, අන්තවත්ද, අනන්තවත්ද... ආදී කරුණු ඇසූ හැටිත්, බුදුන් වහන්සේ ඒ ප්‍රශ්න නිෂ්ප්‍රභා කළ හැටිත්, ඒවා හිස් වූ දුක් සහිත වූ දෘෂ්ටීන් බව පෙන්වා සත්‍ය දහම් දෙසූ අයුරුත් පෙන්වා ඇත. පිරිනිවන් පෑ රහතන් වහන්සේ කොහි ගියේදැයි ඇසූ විට, විමුක්ත සිත් ඇති මහණහුගේ (රහතන් වහන්සේගේ) මරණින් මතු ස්වභාවය ගින්නක් උපමා කර විග්‍රහ කර ඇත.

ඒ උපමාව අනුව තමන් ඉදිරියේ ගින්නක් දැල්වේ නම් ඒ දැල්වෙන බව දන්නේ දැයි ඇසූ විට, දන්නේ යැයි වච්ඡ ගොත්ත උත්තර දෙයි. ඒ ගින්න කුමක් නිසා දැල්වේ දැයි අසන විට, තණකොළ රොඩු උපාදානය නිසා දැල්වේ යැයි උත්තර දෙයි. ඒ ගින්න තමන් ඉදිරියේ නිවේ නම් නිවුන බව දන්නේ දැයි අසන විට, දන්නේ යැයි උත්තර දෙයි. ඒ ගින්න නිවුනේ නම් කවර දිසාවකට ගියේද පෙරදිගට හෝ අවර දිගට හෝ උතුරු දිගට හෝ දකුණු දිගට හෝ ගියේ දැයි ඇසුවොත් කුමන උත්තරයක් දෙන්නේද යනුවෙන් ඇසූ විට, ස්වාමීනි එය නොයෙදෙයි, යම් හෙයකින් ඒ ගින්න තණකොළ රොඩු උපාදානය නිසා දැල් වුනිද ඒ උපාදානයේ ක්ෂය වීමෙන්ද අන්‍ය උපාදානයක නොඇලවීමෙන්ද අප්‍රත්‍යව නිවුනයි කියා වච්ඡ ගොත්ත උත්තර දෙයි. එසේම රහතන් වහන්සේගේ පිරිනිවීමත් ගින්න නිවුනා හා සමානයි යනුවෙන් බුදුන් වහන්සේ වච්ඡ ගොත්තට පෙන්වා දුනි.

<u>මහා වච්ඡ ගොත්ත සූත්‍රය - 266 පිටුව</u>

වච්ඡ ගොත්ත පරිබ්‍රාජකට කුසල් අකුසල් සැකෙවින් සහ විස්තර ඇතිව කළ දේශනාව ඇත. භික්ෂු භික්ෂුණී උපාසක උපාසිකා ආදී අයට අරිහත්වය, අනාගාමීත්වය ආදිය ලැබීම ගැනද දෙසා ඇත. ඒ දේශනා විස්තර ඇත. වච්ච ගොත්ත පරිබ්‍රාජකගේ පැවිද්ද හා අරිහත්වයට එනතුරු විස්තරද ඇත.

<u>දීඝනඛ සූත්‍රය - 280 පිටුව</u>

දීඝනඛ පරිබ්‍රාජක, සියල්ල මට නොරුස්නේය යන දෘෂ්ටි ඇත්තෙකැයි කී විට ඒ පිළිබඳව අඩුපාඩු පෙන්වා කළ දේශනාවක් මෙහි ඇත. එසේම මේ කරජ කය අනිච්ච, දුක්ඛ, රෝග, ගණ්ඩ, ශල්‍ය, අඝ, ආබාධ, පර, නැසෙන, ශූන්‍ය, අනත්ත... ආදී ලෙස දකින අයුරුත්, වේදනා ආදියද අසාර ලෙස දැන අත්හැරී ගිය විට නිවන ලැබෙන අයුරුත් පෙන්වා ඇත.

<u>සන්දක සූත්‍රය - 308 පිටුව</u>

ආනන්ද හිමියන් සන්දක පරිබ්‍රාජකට බ්‍රහ්ම චරිය වාසය පිළිබඳව කළ බුද්ධ දේශනාවක් මෙහි ඇත. ඥානවන්තයෙක් නොවසන සතර බ්‍රහ්ම චරිය වාසයත්, ඒවායෙහි අසාර බවත් පෙන්වා සාසනික බ්‍රහ්ම චරියාව සහ රහතන් වහන්සේ නොකරන කරුණු 5 ක්ද පෙන්වා ඇත. අරිහත්වයට පත් වී ඇති බවට ඥාන දර්ශනය හැම කල්හිම එළඹ සිටී දැයි ඇසූ පැනයට පිළිතුරු ලෙස, අතක් පයක් අහිමි වූවෙක් උදාහරණයට ගෙන පෙන්වා ඇත.

අතපය අහිමි වූවෙකු ඇවිදින, සිටින, නිදාගන්නා, නිදි වරන හැමවෙලේම ඒ අතපයද නැත. නමුත් ප්‍රත්‍යවේක්ෂා කරන විට ඔහුට අතපය නැති බව හැඟෙයි. ප්‍රත්‍යවේක්ෂා නොකළත් අනෙක් සියලු වෙලාවන්වලද අතපය නැත. එමෙන්ම අරිහත් ඥාන දර්ශනයද හැම කල්හිම තිබුනත් ප්‍රත්‍යවේක්ෂා කරන විට පමණක් එය ඇති බව දැනෙයි.

<u>මහා සකුළුදායී සූත්‍රය - 332 පිටුව</u>

සකුළුදායී පරිබ්‍රාජක බුදු රජුන්ට, අජිත කේසකම්බල,

# වරද්දන බුදු බණ



**01 කොටස**

මේ යුගයේ තරම් ධර්මයට, ආර්ය උතුමන්ට නිගරු කරන කාලයක් මේ ගෞතම බුද්ධ සාසන ඉතිහාසයේවත් තිබිල නැතිව ඇති. ධර්මයට පහර ගහපු තවත් අධර්මයක් ගැනයි මේ ලිපියෙන් කරුණු ඉදිරිපත් කරන්න බලාපොරොත්තු වෙන්නෙ.

එක අවස්ථාවක වහරක අභයරතනාලංකාර ස්වාමීන් වහන්සේගෙන් ශ්‍රාවකයෙක් ප්‍රශ්නයක් අහල තියෙනවා, අනාගාමි භව සහ අනාගාමි ඵලයේ තියෙන වෙනස මොකක්ද කියල.

මේකට පිළිතුරු පැහැදිලි කරන වහරක හාමුදුරුවො, මේ ප්‍රශ්නය ඉතා වැදගත් බවත් මතක් කරල, ශ්‍රාවකයා අහපු ප්‍රශ්නයට බුද්ධ වචනයට එකඟව මේ විදිහට ධර්මානුකූල පිළිතුරක් දීල තියෙනවා.

යම් සෝතාපන්න ප්‍රඥාවත් ආර්ය ශ්‍රාවකයෙක් ප්‍රථම ධ්‍යානය හෝ ඉන් එහා ධ්‍යානයක් ලබල ඒ මට්ටමේ ඉඳල ජීවිතය අවසන් වුනොත්, ඒ ඒ ධ්‍යානයට අයිති බඹ තලයේ ඉපදිලා එහිදිම පිරිනිවන් පානවා. ඒ ආර්යන් වහන්සේ නැවත කාම ලෝකයට නොඑන නිසා ඒ උතුමා අනාගාමි (අනාගාමි භව) කියල හඳුන්වන්න පුළුවන්.

තවත් යම් ප්‍රඥාවත් ආර්ය ශ්‍රාවකයෙක් කාම රාග පටිඝ සංයෝජන ප්‍රහීණ කරල අනාගාමි ඵලයට පත්වෙලා සුද්ධාවාස බඹ තලයක ඉපදිලා එහිදී අරිහත් ඵලය පූර්ණ කරගෙන පිරිනිවන් පානවා. ඒ අනාගාමි උතුමා සුද්ධාවාසයේ ඉපදුනාට පස්සෙ නැවතත් කාම ලෝකයේ උපතට නොඑන නිසා ඒ උතුමත් අනාගාමි කියල හඳුන්වනවා. මේ විදිහට අනාගාමි පුද්ගලයො දෙන්නෙක් ඉන්නවා.

බුද්ධ දේශනාවට එකඟව මේ විස්තර කළ විවරණය සාවද්‍ය බව කියමින්,අභයරතනාලංකාරහාමුදුරුවො මිත්‍යා දෘෂ්ටිකයෙක් කියල එක්තරා පුද්ගලයෙක් අපහාසයකුත් කරල තියෙනවා.

අනාගාමි පුද්ගලයො දෙන්නෙක් නැති බවත්, සෝතාපන්න පුද්ගලයෙක් මොන ලෝකයක ඉපදුනත් නැවත කාම ලෝකයේ උපදින බවත් ඒ අය සඳහන් කරනවා. සෝවාන් පුද්ගලයන්ගේ ධ්‍යාන සහිත හා ධ්‍යාන රහිත වශයෙන් පුද්ගල කොට්ඨාස දෙකක් ඉන්න බවවත් මේ විරුද්ධ කතා කියන පුද්ගලයට වැටහිලා නැති බව මෙයින් පැහැදිලි වෙනවා.

ධ්‍යාන නැති සෝවාන් මග ඵල ලාභීන් නැවත කාම ලෝකයේ උපදිනවා කියන එක ගැන විවාදයක් නෑ. ඒක බීජ, කෝලංකෝල, සත්තක්ඛත්තු පරම වශයෙන් සෝවාන් පුද්ගලයන් අතර කොටස් තුනක් ඉන්න බව කියවෙනවා. ඒක බීජ කියන්නෙ දෙවෙනි අත්බැවේදි ඉතිරි මගඵල ලබල මිනිස් සුගතියේ හෝ ධ්‍යාන තිබුනොත් බඹ ලොවකදී හෝ නිවන් පූර්ණ කරගන්න පුද්ගලයා. දෙව් මිනිස් දෙගතියේ අත්බැව් දෙකක් හෝ තුනක් ගිහින් මග ඵල පූර්ණ කරන කෙනා කෝලංකෝල කියල හඳුන්වනවා. කෙත් හත පූර්ණ කරල සසර ගමන නිමා කරන කෙනා සත්තක්ඛත්තු පරම පුද්ගලයා විදිහට නම් කරනවා. (<u>ධාතු කතා - පුග්ගල ප්‍රඥප්තිය</u> - 273 පිටුව)

---

මක්ඛලීගෝසාල ආදී අයගේ පිරිස් බහුලත්වය හා ඒ අයගේ පිරිස් අතර ඇති ගති ලක්ෂණද පෙන්වා ඒවායේ අසාරත්වයද කියා බුද්ධ සාසනයේ ගුණ වර්ණනාවක් කර ඇති කතාව ඇත.

තවද සකුළුදායී පරිබ්‍රාජකගේ බුද්ධ ප්‍රසාදයට කරුණු අසන විට, බුදුන් වහන්සේ අල්පාහාර ඇති බව, ඉතිරීතර (තියෙන දෙයින් සතුටු වීම) චීවර ඇති බව ආදිය කී විට, ඒවා එසේ නොවන අයුරුත්, ශ්‍රාවකයෙක් බුදුන් වහන්සේ කෙරෙහි පැහැදෙන කරුණුත් පෙන්වා ඇත. **(වර්තමානයේද බොහෝ අය භික්ෂූන්ගේ මතුපිටින් බලා ගුණ තීරණය කිරීම නිවැරදි නොවන බවට මෙය කදිම නිදසුනකි.)**

<u>සමණමණ්ඩික සූත්‍රය - 366 පිටුව</u>

පංචකංග වඩුදෙටු, සමණමණ්ඩික පුත්ත උග්ගාහමාන පරිබ්‍රාජක සමග කළ සාකච්ඡාවකදී සතර කරුණින් උත්තම ප්‍රඥප්තියට පත් ශ්‍රමණ යැයි පැනවීම පිළිබඳ විස්තර කතාවද, පංචකංග වඩුදෙටු හට බුදුන් වහන්සේ නියම ශ්‍රමණ පහදා දුන් අයුරුද මෙහි සඳහන් වේ. (මේ අනුව ශ්‍රමණ කොටස් 2 ක් ඇති බව මින් පැහැදිලි වේ.)

***පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් දින පොතක සටහන් තබන ලද කරුණු ඇසුරිනි.***

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

අභිධර්ම පිටකයේ ධාතු කතා පුග්ගල පඤ්ඤත්තියේ සත්තක්ඛත්තු පරම පුද්ගලයා තෝරල තියෙන්නෙ මෙන්න මේ විදිහට. "කතමෝ පුග්ගලෝ සත්තක්ඛත්තු පරමෝ : ඉධේකච්චෝ පුග්ගලෝ තිණ්ණං සංයෝජනානං පරික්ඛයා සෝතාපන්නෝ හෝති : අවිනිපාත ධම්මෝ නියතෝ සම්බෝධි පරායනෝ, සෝ සත්තක්ඛත්තු, දේවේච මනුස්සේච සන්ධාවිත්වා සංසරිත්වා දුක්ඛස්සන්තං කරෝති අයං වුච්චති පුග්ගලෝ සත්තක්ඛත්තු පරමෝ"

සත්තක්ඛත්තු පුද්ගලයා කියන්නෙ කාටද? සක්කාය දිට්ඨි, විචිකිච්ඡා, සීලබ්බත පරාමාස කියන තුන් සංයෝජන ප්‍රහීණ කරපු, සතර අපායේ නොයන, නියත වුන නිවන දක්වා අවබෝධය කරා යන, කෙත් හත පූර්ණ වෙනතුරා දෙව් මිනිස් දෙගතියේ සැරිසරන කෙනා සත්තක්ඛත්තු පරම කියල හඳුන්වනවා.

ධ්‍යානලාභී සෝවාන් මග ඵල ලබපු උතුමන් ඒ ඒ ධ්‍යානයට අදාළ බ්‍රහ්ම ලෝකයේ ඉපදිලා ඉතිරි මග ඵල එහිදීම පූර්ණ කරගෙන පිරිනිවන් පානවා. මේ ආර්ය උතුමන් වහන්සේලාත් නැවත කාම ලෝකයට එන්නෙ නැති නිසා අනාගාමි කියල හඳුන්වනවා. අනාගාමි කියන වචනයේ තේරුම (න + ආගාමි = අනාගාමි) නැවත නොඑන්නා කියන එක. නැවත කාම ලෝකයට උප්පත්ති වශයෙන් නොඑන දෙන්නෙක් ඉන්නවා. එක් කෙනෙක් ධ්‍යානලාභී සෝවාන් පුද්ගලයා. අනෙක් කෙනා කාම රාග පටිඝ ප්‍රහීණ කළ අනාගාමි ඵල ලාභියා.

මේ විදිහට අනාගාමි පුද්ගලයො දෙන්නෙක් නැති බවත්, එහෙම ගැනීම මිත්‍යා දෘෂ්ටියක් බවත්, සෝවාන් කෙනෙක් කොහේ ඉපදුනත් නැවත කාම ලෝකයට එන බවත් මේ විදිහට විරුද්ධව මත ප්‍රකාශ කරන පුද්ගලයා පැහැදිලි කරනවා.

දැන් අපි බලමු, මොහුගේ මේ මතය බුද්ධ දේශනාවට එකඟද කියල. අ. නි. 2 චතුක්ක නිපාතයේ 243 වෙනි පිටුවේ පුග්ගල කියල සූත්‍ර දේශනාවක් තියෙනවා. එහිදී තථාගතයන් වහන්සේ ඉහත කාරණයට පැහැදිලි පිළිතුරක් දීල තියෙනවා.

මහණෙනි, මේ සාසනයේ ඇතැම් කෙනෙක් ප්‍රථම ධ්‍යානය ලබාගෙන වාසය කරනවා. ඔහු ඒ ධ්‍යානයෙන් පිරිහෙන්නෙ නැතිව බ්‍රහ්ම කායික දෙවියන් අතර උපදිනවා. තථාගතයන් වහන්සේගේ ශ්‍රාවකයා ඒ බ්‍රහ්ම ලෝකයට අයිති ආයුස ගෙවල ඒ භවයෙම පිරිනිවන් පානවා. (තස්මිං යේව භවේ පරිනිබ්බායති)

බුද්ධ සාසනයෙන් බැහැර පෘතජ්ජන පුද්ගලයා ප්‍රථම ධ්‍යානය ලබල එයින් පිරිහෙන්නෙ නැතිව බ්‍රහ්ම ලෝකයේ ඉපදිලා ඒකෙ ආයුස ගෙවුනම එයින් චුත වෙලා සතර අපායෙත් උපදිනවා. **ආර්ය උතුමන් ධ්‍යාන ලබල බඹ ලොව ඉපදුනොත් නැවත එන්නෙ නැති බවත්, අනාර්යන් ධ්‍යාන ලබල බඹ ලොව ඉපදුනොත් නැවත කාම ලෝකයට එන බවත්, සතර අපායෙන් නිදහස් නැති බවත් පුග්ගල සූත්‍රයේ විස්තර වෙනවා.** අස්‍රුතවත් පෘතජ්ජනයා සහ ස්‍රුතවත් ආර්ය ශ්‍රාවකයාගේ වෙනස මේකයි කියල තථාගතයන් වහන්සේ දේශනා කරනවා.

තථාගත ශ්‍රාවකයෙක් ප්‍රථම ධ්‍යානාදිය ලබල බඹ ලොව ඉපදුනොත් එහිදී පිරිනිවන් පාන නිසා නැවත කාම ලෝකයට එන්නෙ නෑ. ඒ නිසා නැවත නොඑන අර්ථයෙන් ඒ ආර්ය ශ්‍රාවකයත් "අනාගාමී" කියල හඳුන්වනවා.

ඕරංභාගීය සංයෝජන ප්‍රහීණ කරල අනාගාමි ඵලයට පත්වෙච්ච ආර්ය ශ්‍රාවකයා සුද්ධාවාස බඹ තලයක ඉපදිලා එහිදී පිරිනිවන් පානවා. (ඕරං භාගියානං සංයෝජනානං පරික්ඛයා ඕපපාතිකෝ හෝති තත්ථ පරිනිබ්බායී අනාවත්ති ධම්මෝ තස්මා ලෝකා. අ. නි. 5 ඨාන නිස්සය සූත්‍රය - 488 පිටුව)

අ. නි. චතුක්ක නිපාතයේ එන පුග්ගල සූත්‍රය සහ ඨාන නිස්සය සූත්‍රය අනුව අනාගාමි පුද්ගලයන් දෙන්නෙක් ඉන්න බව සනාථ වෙනවා. අනාගාමි භව සහ අනාගාමි ඵලය කියල දෙකක් තියෙන බව වහරක හාමුදුරුවො විග්‍රහ කළේ ඉහත සූත්‍ර දෙකේ විස්තර වෙන අනාගාමි දෙන්නා ගැන. එක්කෙනෙක් සෝවාන් වෙලා ප්‍රථම ධ්‍යානය හෝ ඉන් එහා ධ්‍යානයක් ලබල ඊට අදාළ බඹ තලයේ ඉපදිලා එහිම පිරිනිවන් පාන කෙනා. අනෙක් කෙනා ඕරංභාගීය සංයෝජන ප්‍රහීණ කරල අනාගාමි ඵලයට පත් වෙලා සුද්ධාවාස බඹ ලොව ඉපිදලා එහිදී පිරිනිවන් පාන කෙනා.

දැන් වහරක අභයරතනාලංකාර හිමියන්ගෙ දහම් විවරණය සූත්‍ර දේශනා සමග ගැලපෙන බව මේ විස්තරයෙන් ඉතා පැහැදිලි වෙනවා. **බුද්ධ දේශනා ගැනවත් හරි වැටහීමක් නැතිව තමයි නිවැරදි ධර්ම විවරණවලට මිත්‍යා දෘෂ්ටි කියල ගැරහීමට ලක් කරන්නෙ.**

දැන් මේ ගරහන්නෙ කාටද? තථාගතයන් වහන්සේට, උතුම් ශ්‍රී සද්ධර්ම රත්නයට, උතුම් මහා සංඝ රත්නයට නෙවෙයිද? තථාගතයන් වහන්සේ දේශනා කළ දෙයක් එහෙම නෙවෙයි කියන පුද්ගලයා සහ දේශනා නොකළ දෙයක් දේශනා කළා කියන පුද්ගලයා යන දෙදෙනාම බුදු රජාණන් වහන්සේට අභූතයෙන් චෝදනා කරන්නෙක් කියල අ. නි. දුක නිපාතයේ 118 පිටුවේ සඳහන් වෙන දේශනාවක විස්තර වෙනවා. දැන් පේනවා, මිත්‍යා දෘෂ්ටියේ ඉන්නෙ වහරක හාමුදුරුවොද, උන්වහන්සේගේ දහම් විවරණවලට විරුද්ධව මත ප්‍රකාශ කරන අයද කියල.

**අවජ්ජේ වජ්ජ මතිනෝ**
**වජ්ජේචාවජ්ජ දස්සිනෝ**
**මිච්ඡා දිට්ඨි සමාදානා**
**සත්තා ගච්ඡන්ති දුග්ගතිං**

(ධම්ම පදය - නිරය වග්ගය)

නිවරද වරද ලෙසත්, වරද නිවරද ලෙසත් දකින කෙනා මිත්‍යා දෘෂ්ටිකයෙක්. ඔහු දුගතියට යන බව ඉහත ධම්ම පද ගාථාවෙන් විස්තර කරල තියෙනවා. මේ අනුව මිත්‍යා දෘෂ්ටියේ ඉන්නෙ කවුද කියල තීරණය කරන්න ඔබටම බාර කරනවා.

"මිච්ඡා දිට්ඨිං භික්ඛවේ පරමානි වජ්ජානි" ආනන්තරීය පාප කර්මවලටත් වඩා බලවත්ම පාපය තමයි මිත්‍යා දෘෂ්ටිය. ලෝක විනාසයෙදි සියලු සත්ත්වයන්ටම ධර්මතාවයෙන් ආභස්සර බඹ ලොව ඉපදෙන්න අවස්ථාව උදා වෙන නමුත් නියත මිත්‍යා දෘෂ්ටික අයට ඒ අවස්ථාවත් අහිමි වෙලා ලෝකාන්තරික නිරයේ ඉපදෙන්න සිද්ධ වෙනවා. මිත්‍යා දෘෂ්ටියේ තියෙන බරපතලකම කොච්චරද කියල මේකෙන් වැටහෙනවා. "මිච්ඡා පණිහිතං චිත්තං පාපියෝනං තතෝ කරේ" වැරදි විදිහට පිහිටු වන ලද සිත පාපියෙක් කරන අතර "සම්මා පණිහිතං චිත්තං සෙය්‍යසෝනං තතෝ කරේ" නිවැරදිව පිහිටුවන ලද සිත් ඇති කෙනා ශ්‍රේෂ්ඨයෙකු කරයි.

**පූජ්‍ය කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**
**නිග්‍රෝධාරාම සේනාසනය,**
**පොල්පිටිය, මැටිකුඹුර, පොල්ගහවෙල.**
**0716839346**

# නොපළ වූ ගුණ කඳ XVI



වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ

**අභයරතනාලංකාරය - 87**

## කාශ්‍යප බුදුන් දවස කළ අකුසලයක් මෙකල විපාක දුන් හැටි...

මේ අනන්ත සංසාරයේ අපි කොච්චර කල් නම් මේ වෙනකොට සැරිසරල තියෙනවද කියල කියන්න පුළුවන්කමක් කිසිවෙකුටත් නෑ. දිව්‍යස් අභිඥා තියෙන ශ්‍රාවකයන් වහන්සේ නමකටවත් පෙර අත්බැව් සිහි කරල බැලුවත්, එක්තරා සීමාවකින් එහාට බලන්න බෑ. අපි මැරී මැරී ඉපදිච්ච වාර ගණන අනන්තයි අප්‍රමාණයි. ඒ සම්බන්ධයෙන් බුදුන් වහන්සේ පෙන්වා දුන්න උදාහරණ, උපමා සූත්‍ර දේශනානුසාරයෙන් මේ සඟරාවේ මීට පෙරත් පළ කරල තියෙනවා.

ඉතින් අද අපි මොන විදිහෙ තත්ත්ව තානාන්තර දැරුවත්, මොන විදිහෙ හොඳ වැඩ කළත්, මොන විදිහෙ සුද්ධවන්තයින් විදිහට පෙනී හිටියත්, අනන්ත සසරේ කරල තියෙන අකුසල් නම් සුළුපටු නෑ. ඒ අකුසල්වල විපාක ඇවිත් නොයෙක් තිරිසන්ගත සත්තු වෙලා තවත් සතුන්ට ගොදුරු වෙච්ච, රීරි මාංසයෙන් වන්දි ගෙවපු අවස්ථා අනන්තයි අප්‍රමාණයි. ඒ වගේම අටමහ නරකවල, ඔසුපත් නරකවල කල්ප ගණන් ලැගපු වාර අනන්තයි. කාපු දුක් ගිනි මෙච්චරයි කියල කියන්න බෑ. මනුස්ස වෙලා අතපය කඩාගෙන, බෙලි කැපුම් කාල නොයෙක් අබ්බගාතයො විදිහට ඉපදිලා, ඇස් අන්ධ වෙලා, කන් බිහිරි වෙලා, දරුණු ලෙඩ රෝගවලින් පීඩා විඳල මියගිය වාර අනන්තයි. පෙර අත්බැව් දකින නුවණක්, දිව්‍යසක් නැති නිසා අද අපිට අනන්ත සසරෙ වෙච්ච ඒ සිදුවීම් එකක්වත් මතක නෑ. ඒ නිසා අපි දන්නෙ මේ අත්බවයේ ඉපදුනා, මෙච්චර කාලයක් ජීවත් වුනා කියන්න විතරයි. නමුත් ලෝකයට කාලයෙන් කාලයට පහල වෙන ලොව සත්‍යය යථාර්ථය දත් ශ්‍රමණ බමුණන්, දිව්‍යස් අභිඥාලාභීන් තමන්ගෙ පෙර අත්බැව් දකින නුවණින් මේ වගේ දේවල් දැකල ලෝක සත්ත්වයා කෙරෙහි අනුකම්පාවෙන් ඒවායේ තියෙන බරපතලකම පෙන්වා දෙනවා. මේ අත්බවයේ ප්‍රබල කර්ම විපාකවලට හේතු වෙලා තියෙන පෙර කරන ලද අකුසල්වල හේතු ඵල රටාව පෙන්වා දෙනවා.

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ කියන්නෙ මේ කාලයේ ලෝකයට පහල වෙලා, බුදු පියාණන් වහන්සේ දේශනා කොට වදාළ මාර්ගය අනුගමනය කරමින්, නිවන් දකින දහම විතරක් නෙවෙයි, කර්ම විපාකවල භයානකත්වය පවා පෙර අත්බැව් දකින නුවණින් හේතු ඵල දහම අනුව පෙන්වා දුන්න උත්තමයෙක්. උන්වහන්සේට තමන්ගෙ විතරක් නෙවෙයි, අනෙක් කෙනෙක්ගෙ වුනත් පෙර අත්බැව් සහ කරන ලද අකුසල කර්මවල විපාක දකින නුවණක් තිබුනා. එහෙම දැකල ප්‍රකාශ කරපු අවස්ථා සහ ඒවායේ හේතු ඵල සම්බන්ධයත් සමග සසර බරපතලකම පෙන්වා දුන්න අවස්ථා මේ සඟරාවෙ මීට පෙරත් ඕන තරම් පළ කරල තියෙනවා. අනෙක් අයගෙ විතරක් නෙවෙයි, තමන් වහන්සේත් පෙර කර ගත්ත අකුසල කර්මවලින් නොයෙක් ආකාරයෙන් තිරිසන් වෙලා දුක් වින්ද හැටි, මනුස්ස වෙලා දුක් වින්ද හැටි, අවසානයේ මේ අත්බවයේ පවා ඒ සමහර අකුසල කර්මවල ශේෂ මාත්‍ර විපාක දුන්න හැටි උන්වහන්සේ කිසිම සැඟවීමකින් තොරව හෙළිදරව් කරල තියෙනවා. මේ සංසාරයේ තියෙන අති භයානකත්වය පෙන්වන්නමයි උන්වහන්සේ ඒ කරුණු කාරණා හෙළිදරව් කළේ.

උන්වහන්සේ මහණ දිවියට ඇතුල් වෙන්න පෙරත් තමන්ගෙ කාලය, ශ්‍රමය බොහෝ කොටම වැය කළේ ලෝක සත්ත්වයන්ට යහපත උදා කරන්න. ඒ කරපු කටයුතුත් සාසනය මුල් කරගෙනමයි සිද්ධ කළේ. ඒකෙ එක අවස්ථාවක් තමයි විවිධ ලෙඩ රෝගවලින් පෙළෙන රෝගීන්ගේ පෙර අත්බැව්වල කර්ම විපාක බලල, ඒ කර්ම විපාක ගෙවා හැරෙන්න සාසනික ප්‍රතිකර්මවලට යොමු කරල, අවසානයේ බෙත් සමාධියෙන් ඊට අවශ්‍ය බෙත් හේත් නියම කිරීම. ඒ විදිහට පෙර අත්බැව්වල කර්ම විපාක බලල බෙත් හේත් ලබා දුන්න අවස්ථා මීට පෙරත් මේ සඟරාවෙන් හෙළිදරව් කරල තියෙනවා.

ඒ වගේම සමහර කර්ම විපාක බලවත් නම් සාසනික ප්‍රතිකර්මවලින් පවා විපාක ගෙවෙන්නෙ එක්තරා ප්‍රමාණයකට විතරයි. ශේෂ වන ඉතිරි ටික විඳවන්නම වෙනවා. ඒ වගේ එන සමහර කර්මජ රෝග බෙත් හේත්වලින් සනීප කරන්න බැරි අවස්ථාත් තියෙනවා. කර්ම විෂය අචින්ත්‍ය නිසා ඒ කාරණය අපිට නිගමනය කරන්න බෑ. අන්න ඒ විදිහට පෙර අත්භවයක කරපු කර්ම විපාකයක් නිසා මේ අත්බවයේ ඇස් අන්ධ වෙච්ච පුතෙක් ගැන මීට පෙර 85 කලාපයේ පළ වූ අභයරතනාලංකාරය තුලින් තොරතුරු හෙළිදරව් කළා. ඒ අවස්ථාවෙදි උන්වහන්සේ ළඟින් ඇසුරු කරපු භික්ෂූන් වහන්සේලා ඇතුළු කිහිප දෙනෙක් එක්ක ප්‍රකාශ කරල තිබුනෙ, අකුසල කර්මය බලවත් නිසා ඇස්වල පෙනීම නම් ලබා ගන්න බැරි වෙයි, හැබැයි ඒ අන්ධභාවය මේ අත්භවයෙන් ඉවරයි කියල. නමුත් උන්වහන්සේ එදා බෙත් ගන්න ආපු රෝගින්ගේ මානසිකත්වය බලල සමහර අවස්ථාවල ඒ වගේ දෙයක් එළිල කරලම කියන්නෙ නැති අවස්ථා තිබුනා. මොකද ඒ අයට ඒක දරාගන්න බැරි නම්, දැඩි මානසික පසුබෑමකට ලක්

වෙනව කියල දැනෙනව නම්, ඒ අයගෙ හිත සැනසෙන විදිහට කතා කරල කර්ම වේග ගෙවා හැරෙන්න සාසනික ප්‍රතිකර්ම දෙන ගමන් දහම් මගට එන්න පුළුවන් විදිහට උත්තර දෙන අවස්ථා තිබුනා. රෝගය සනීප නොවුනත් කවදහරි දහම් මගට එන්න ඒක උපනිශ්‍රය වෙනවා. **ඒ වගේ යම් කිසි කෙනෙක්ගෙ මානසිකත්වය එක්තරා ආකාරයකට දැනගන්න පුළුවන් සියුම් සමාධියකුත් උන්වහන්සේට තිබුනා.** ඒ වගේම කර්ම විෂය අචින්ත්‍ය නිසා, ලොව්තුරා බුදුන් වහන්සේට හැර ශ්‍රාවකයෙකුට 100% ක් ගෝචර නොවන නිසා, යමක් හරියටම එල්ල කරල කියන්න බැරි අවස්ථාවලදිත්, සමහර විට සනීප වෙන්න ඉඩ තියෙනවා, මේ ප්‍රතිකර්ම ටික කරල බලමු... ආදී වශයෙන් අනියමාර්ථයෙන් කියපු අවස්ථාත් තියෙනවා. කොහොම හරි ඒ වගේ අවස්ථාවලදී දකින්න ලැබිච්ච වැදගත් කාරණයක් තමයි, භෞතික කයේ රෝගය සනීප නොවුනත් කර්ම වේගය ගෙවා හැරෙන්න දෙන සාසනික ප්‍රතිකර්ම තුලින් පුද්ගලයාට කවදහරි දහම් මගට අවතීර්ණ වෙන්න අවස්ථාව සැලසීම.

ඒ නිසා පහතින් එන කතාවෙදි මේ අම්මයි පුතයි කියන විස්තරත් එක්ක එදා පළ වෙච්ච තොරතුරු අතර පරස්පරතාවයක් ඇති කර නොගත යුතුයි. මොකද ඒ ඒ අවස්ථාවට අනුකූලව තමයි උන්වහන්සේ යමක් ප්‍රකාශ කළේ. දැන් ඒ කතාවේ සම්පූර්ණ විස්තරයක් තමයි මේ ඉදිරිපත් කරන්නෙ. **මේ සසර ගමන යනකොට අන්‍ය සත්ත්වයින්ට දැන හෝ නොදැන කරන හිංගි හිංසාවල බරපතලකම තේරුම් ගන්නත්, ඒ වගේම දෙමව්පියන්ට කරන ලද හිත් රිදවීම්, අපහාස කිරීම් ආදියේ බරපතලකම තේරුම් ගන්නත් මේ කතාව බොහොම වැදගත් වේවි. අම්මා තාත්ත කියන්නෙ නිකම්ම පිරිමියෙක් ගැහැණියක් නෙවෙයි, තමන්ට විශේෂ පුද්ගලයො බවත් ඒ අනුව තේරුම් ගන්න ඕන.** දස වස්තුක සම්මා දිට්ඨියෙත් ඒ කාරණය විග්‍රහ වෙනවා. විශේෂයෙන් මේ කාලයේ තියෙන සමහර භෞතිකවාදී මතවාද නිසා මේ වගේ කාරණා සුළුකොට තැකුවත්, ඒවා සුළුවෙන් හිතන්න හොඳ නැති බවත් මේ වගේ කතාවලින් තේරුම් ගත යුතුයි.

මේ සිදුවීම ගැන වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ මීට පෙර එක්තරා අවස්ථාවකදි කෙටියෙන් කරුණු පැහැදිලි කිරීමක් කළත්, එදා ඒ කාරණා ටික විස්තරාත්මකව සටහන් කරගන්න බැරි වුන නිසා, මේ සිදුවීමට මුහුණ දුන්න ඒ පුතා සහ අම්මා ඉදිරිපත් වෙලා ඒ කතාව මේ විදිහට හෙළිදරව් කළා.

ඔවුන්ගෙ පදිංචිය තිහාරියේ. ඒ සිදුවීමට මුහුණ දුන්න පුතා මේ වෙනකොට විවාහ දිවියටත් ඇතුලත් වෙලා දරුවන් ඉන්න පියෙක්. වහරක හාමුදුරුවො ගිහි කාලෙ මුණ ගැහෙනකොටත් ඔහුගෙ වයස අවුරුදු 25 ක්. ඒත් ඇස් අන්ධ නිසා දෙමව්පියන්ගෙ පිහිටෙන් තමයි වැඩ කටයුතු කර ගෙන තියෙන්නෙ. ඔහුගේ මව කරුණාවතී රාජපක්ෂ මහත්මිය ඒ අතීත කතාව ගෙනහැර දැක්වුවේ මේ විදිහට.

වහරක අභයරතනාලංකාර හාමුදුරුවො උපාසක මහත්තය කාලෙ මට එතුමන් හමුවෙන්න මග සැලසුනේ මගෙ වැඩිමහල් දරුවා නිසා. ඉපදිලා මාස 7 ක් විතර යනකොට තමයි අපි දැනගත්තෙ දරුවට පෙනීමේ ආබාධයක් තියෙනව කියල. පස්සෙ අපි ඇස් රෝහලේ වෛද්‍යවරුන්ටත් දරුවා පෙන්නුවා. වෛද්‍යවරු කිව්වෙ දරුවා මගේ කුසට ඇවිත් මාස දෙකේදි මට වැළඳුන පැපොල රෝගය නිසා දරුවගෙ පෙනීමේ නහර, ස්නායු අප්‍රාණික වෙලා තියෙනව කියල. කාලයක් යනකොට පෙනීම ලැබෙන්න පුළුවන් කියලත් කිව්වා. ඒ වගේම රෝගය වැළඳුන බව මුලදිම දැනගත්ත නම් කළලය ඉවත් කරන බවත් කිව්වා. හැබැයි ඇස් නරක් වෙන්න පුළුවන් නිසා සිංහල වෛද්‍යවරුන්ට පෙන්වන්න එපා කියලත් කිව්වා.

කාලයක් යනකොට පෙනීම ඇතිවෙන්න පුළුවන් කියපු නිසා අපි ඒ අවස්ථාව ලබා ගන්න බොහෝ ඇප කැප වෙලා වැඩ කටයුතු කළා. හැබැයි සිංහල වෛද්‍යවරු ළඟට යන්න එපා කියපු නිසා ඒ වගේ තැන්වලට නොගිහින් දන්න විදිහට බෝධි පූජා උපහාර පවත්වමින්, දෙවියන්ගෙනුත් පිහිට පතමින් මේ වගේ ලෙඩ සුව කරන්න පුළුවන් අය ඉන්නවද කියලත් හොයල බැලුවා. ඒ සඳහා නොයෙක් තැන්වලට ගිහින් සෑහෙන කාලයක් ගොඩක් වෙහෙසුනා. මේ කියන්නෙ 1992 සැප්තැම්බර් - ඔක්තෝබර් වගේ මාසවල. දවසක් අපට හිතවත් අම්මා කෙනෙක් අපේ ගෙදර ආවා. අපේ පුතා දැක්ක ගමන් ඒ අම්මා මෙහෙම කිව්වා. "අනේ නෝනා ඇයි මේ පුතා මෙහෙම තියාගෙන ඉන්නෙ? ඇස්වලට බේත් කරන්නෙ නැත්තෙ ඇයි? අපේ ගෙවල් ළඟ මහත්තයෙක් ඉන්නවා, පුදුම විදිහට බෙහෙත් කියනවා, ධර්ම දේශනා කරනවා, පෙර අත්බැව්වල කරපු කර්ම විපාක පවා කියනවා. මේ පුතත් එතැනට එක්කරගෙන ගිහින් බෙහෙත් ගන්න."

ඒ වුනත් මම ඒ අම්මා කියපු දේ ඒ තරම් ගණන් ගත්තෙ නැත්තෙ, පුතා ගැන අනුකම්පාවෙන් ඔය වගේ දේවල් කියල ඒ අනුව ඒ තැන්වලට ගිහින් කටයුතු කරල රැවටිලා බොහෝ අයට අහුවෙලා අපි අසරණ වෙලා හිටපු නිසා. ඒ නිසා මම කිව්වා, අනේ මට ඕව වැඩක් නෑ අපිට ඕව කරල දැන් ඇතිවෙලා තියෙන්නෙ කියල. එතකොට ඒ අම්මා නැවතත් මට මෙහෙම කිව්වා. "අනේ නෝනා ඒ මහත්තයා එහෙම කෙනෙක් නෙවෙයි. මැරිච්ච අය ඉපදුන තැන් පවා කියනවා. අපේ කෙනෙක් මැරුනා. එයා නැවත ඉපදිලා ඉන්න බවත් කියල, ජීවත් වෙලා ඉන්න කාලෙ මූණෙ තිබිච්ච ළප කැළැල් පවා කිව්වා. ඒ නිසා පුතා එක්ක හෙටම යන්න."

ඇය එහෙම කිව්ව නිසා ඊට දවස් 2 - 3 කට පස්සෙ මම පුතත් අරගෙන තවත් ඥාති කෙනෙක් එක්ක පාර හොයාගෙන ඒ කියපු තැනට ගියේ මේ තරම් වින්ද දුක් වේදනාවලට මෙතනටවත් ගිහින් බලනවා කියන අදහස ඇතිව. ඒ අම්මත් බෙහෙත් කරන තැන ළඟපාත පදිංචි වෙලා හිටපු නිසා පාර පෙන්වන්නම් කියල මගදි අපිත් එක්ක එකතු වුනා. ඒ තරම් බලාපොරොත්තු තිබුනෙ නැති නිසා අපි පුද පඬුරු මොකුත් ගෙනිච්චෙත් නෑ. උදේ 8.00 ට විතර අපි ඒ ස්ථානයට යනකොට ඒ නිවසට යන පාර දෙපැත්තෙ අරළු, බුළු, නෙල්ලි වගේ දුර්ලභ බෙහෙත් ගස් වර්ග තිබුනා. වත්තට ඇතුල් වෙනකොට යම් කිසි ගුප්ත බවකුත් දැනුනා. තරමක ගෙයක් තිබුනත් ඒ ළඟම තවත් දිගට හදපු පරණ ශාලාවක් තිබුනා.

අපි ඒ ශාලාවෙ ඉන්නකොට සුදු ඇඳ ගත්ත මහත්තයෙක් ඇවිත් එතැන එළල තිබිච්ච පැදුරක අපිටත් වාඩිවෙන්න කිව්වා. අපි එතුමාට වැඳ නමස්කාර කරල වාඩි වුනා. එතුමා අපෙන් පුද පඬුරු ආදී කිසිම දෙයක් ගැන ඇහුවෙ නෑ. ඒ වෙලාවෙ නම් අපි හිස් අතින් ගිය එක වැරදියි කියල අපිට හිතුනා. අපිත් එක්ක ගිය ඒ අම්මා කිව්වා, අනේ මහත්තයා මේ පුතාගෙ ඇස් පේන්නෙ නෑ, පෙනීම නැත්තෙ පොඩි කාලෙ ඉඳලමයි, මෙයා විශ්වවිද්‍යාලෙ ඉගෙන ගන්න කෙනෙක්, අනේ

ඔබතුමා මේ පුතාගෙ ඇස් පෙනීම හදල දෙන්න කියල. මමත් කිව්වා, අනේ මහත්තයා මේ පුතාට දැන් වයස අවුරුදු 25 ක් වෙනවා, මෙච්චර කල් මම පුතාගෙ අතින් අල්ලගෙන තමයි හැම තැනම ගියේ, මේ දරුවට තනියම යන්න එන්න එක ඇහැක්වත් පාදල දෙන්න ඔබතුමාට බුදු බව ලැබෙනව කියල.

ඒ වෙලාවෙ එතුමාගෙ මුහුණේ තිබ්බ්ච කරුණාව පිරි බැල්ම, මඳ සිනාව අපිටත් දැනුනා. ඇත්ත වශයෙන්ම ඒ ගැන විස්තර කියන්න තරම් මම දක්ෂ නෑ. එතුමා අපේ කතාව අහගෙන නිහඬවම හිටියා. නැවතත් හිස මත දොහොත් මුදුන් තියාගෙන තෙරුවන් ගුණයට නමස්කාර කරල අපිට මෙහෙම කිව්වා. එතුමා ඇස් ඇරගෙන අපිත් එක්ක කතා කරනව වගේ තමයි අපිට මේ විස්තරය කිව්වෙ.

අපේ ගෙදරට එන පාරත් හරියටම කියල වත්ත මායිමේ පටන් හතර වටේටම තියෙන ගස් ගල්, වත්තෙ තිබ්බ්ච ලී කැබලි, බිඳිච්ච භාජන දාල තිබුන තම් ඒ හැම එකක්ම තියෙන තැන් හරියටම කිව්වා. කුස්සියේ පිඟන් මේසෙ ළඟත් වත්තෙ තවත් දෙපොළකත් කොඩිවින 3 ක් යට කරල තියෙන බවත් කිව්වා. එහෙම කරල තිබුනෙ අපේ ඉඩමට යාබදව තිබුන කෙනාගෙ ඉඩම වැඩි මුදලකට විකුණ ගන්න ඕන නිසා අපිව මේ ගෙදරින් ඉවත් කරගන්න කියලත් කිව්වා. ඒක කරවපු අය ඒ කොඩිවිනය තමන්ගෙ ගෙදර දවස් 7 ක් තියාගෙන ඉඳීම නිසා ඒකෙ දොස් ඒ අයටත් වැදිල තියෙන බවත්, අපිට වැදිල තියෙන්නෙ බල අඩු වෙලා දෙවැනි කොටස බවත් කිව්වා. ගෙදර මූලික අය, මේ ගෙදර ඉන්න බෑ, ගෙට එන්නත් බෑ කියනව නේද කියල එතුමා අපෙන් ඇහුවා. ඉතින් ඒ කතාව හරි. මොකද අපේ පුතාලගෙ තාත්ත නිතරම කියනවා, මගේ වෙළඳාම් ඔක්කොම කඩා වැටිල ඒව හරියන්නෙ නෑ මේ ගේ විකුණල යමු කියල. නමුත් එතුමා කිව්වා, ගෙට කිසිම දෙයක් කරන්න එපා, තෙරුවන් ගුණයට පහන් පත්තු කරන්න, මෙත් සිත වඩන්න, සීල සමාධි ගුණ පූර්ණ කරන්න, දහම් මග යන්න එතකොට ඒ දොස් සියල්ල දුරු වෙනව කියල. ඔය විදිහට උදේ 8.00 ට පටන් ගත්ත විස්තරය දවල් 11.00 විතර වෙනකල් කිව්වා. අපිට නැවතත් ඊළඟ දවසෙ උදේට එන්න කියපු නිසා පහුවදා නම් අපි බුලත් පඬුරු ආදිය අරගෙන පුතා ගැන කියන්නෙ මොනවද කියල හිත හිතා තමයි ගියේ. එදා කලින් දවස්වලටත් වඩා පුතා ගැන අපේ හිතේ බලාපොරොත්තු තිබුනා.

එදා අපි උදෙන්ම යනකොට බේත් ගන්න තවත් පිරිස් ඇවිත් හිටියා. එදත් එතුමා තෙරුවන් ගුණයට නමස්කාර කරල අපිට මේ විදිහට කිව්වා. මම ඊයෙ රෑ නිදා ගත්තෙ නැතිව මුළු රෑම සමාධි හිත යොමු කරල පුතා ගැන බැලුවා. කාශ්‍යප මහා බුදු පියාණන් වහන්සේගේ බුද්ධාන්තරය දක්වාම හිත යොමු කරල බැලුවා. එතකොට තමයි මේකට හේතුව දැක්කෙ. ඒ කාලෙ මේ පුතා යුධ සෙන්පතියෙක් වෙලා ඉඳල යුද්ධය ජය ගන්න ලේසියට ඊතලවලින් විදල මිනිස්සුන්ගෙ ඇස් අන්ධ කරල තියෙනවා. ඒ අකුසලයත් මේ අත්භවයේ බලපාල තියෙනවා. එහෙම වුනත් මිනිස්සු දුක් විඳිනව දැකල ඒ අදහස් අත්හැරල එදා මගේ ළඟට ආවා. ඒ කාලයේ මමත් මේ විදිහට ලෝක සත්ත්වයාගේ ලෙඩ රෝග සුවපත් කරමින් ප්‍රශ්න විසඳමින් අර්ථයෙන්, ධර්මයෙන් අනුසාසනා කරන කාලයක්. එදා මේ පුතා මාව මුණගැහෙන්න ඇවිත් කිව්වා, මේ මිනිස්සුන්ගෙ ඇස් අන්ධ කිරීම ගැන මට හරි දුකයි, මම එහෙම කළේ රාජ අණ නිසා යුද්ධය ජය ගන්න, මගේ අතින් සිද්ධ වෙච්ච මේ පාපයට මම මොකද කරන්නෙ කියල.

එතකොට මම කිව්වා, ඒ සඳහා දැන් මටත් වඩා හොඳ මහා උත්තමයෙක් පහල වෙලා ඉන්නවා, අභවල් තැන තියෙන විහාරස්ථානයේ කාශ්‍යප මහා බුදු පියාණන් වහන්සේ වැඩ ඉන්නවා එතැනට යන්න කියල. එතැනට ගියාම බුදු පියාණන් වහන්සේ මේ පුතාට ඒ පාප කර්ම ගෙවෙන්න කර්මස්ථානයක් දේශනා කළා වඩන්න කියල. (මේ කියන කාලයේ වහරක අභයරත්නාලංකාර හාමුදුරුවො වෛද්‍යවරයෙක් වෙලා රෝගීන් සුවපත් කරමින් ඉන්නකොට කාශ්‍යප බුදු පියාණන් වහන්සේ මුණගැහුනු අවස්ථාවක් ගැන විස්තරයක් හෙළ බොදු පියුම 50 කලාපයේ අභයරත්නාලංකාරය යටතේ පළ කරල තියෙනවා.)

ඒ කර්මස්ථානය පාළි භාෂාවෙන් අපිට අවබෝධ කරගන්න අපහසු නිසා වහරක අබේරත්න උපාසක මහත්තය ඒ වෙලාවෙම සමාධියට සම වැදිල ඒක කවියකට නගල අපට දුන්නා. ඒක එතුමාගේ අත් අකුරින්ම අපිට ලියලත් දුන්නා. ඒකෙන් යම් කිසි ආකාරයක මෙත් වැඩීමක් තමයි කියවෙන්නෙ.

**සසර දුක් විඳි සතෙක් කිසි විට හදේ**
**දුකකට පත් නොවේවා**
**රාග ද්වේශද මෝහ යන දුක් කිසිම**
**සතෙකුට අත්නො වේවා**
**දිනෙන් දින දියුණුවේ පියමං සියලු සත**
**හට අත්ම වේවා**
**හදේ දුක් ගිනි නිවා දෙනෙතේ පෙනුම**
**සත හට අත්ම වේවා**

මේ කවිය තේරුම් අරගෙන 7 සැරය බැගින් දවසකට තුන් වතාවක් කියන්න කිව්වා. එතුමා කිව්වා, පුතාගෙ ඒ අකුසල කර්ම බල මේ අත්භවයෙන්ම අවසන් වෙනවා, මතු භවයක උපතක් ලබනකොට ඇස් හොඳට පෙනීම ඇතිව තමයි ඉපදෙන්නෙ, මේ ලබල තියෙන්නෙ ජාති අන්ධභාවයක් (පටිසන්ධියකින් එන අන්ධ බව) නෙවෙයි කියල. ඒ වගේම කාලයක් යනකොට එක ඇහැක හරි පෙනීම එන්න ඉඩ තියෙනව කියලත් කිව්වා. ඒත් එක්කම එතුමා මේ පුතා අතින් වෙනත් අත්භවයකදිත් පාපයක් සිද්ධ වෙලා තියෙනව කියල මෙහෙම කතාවකුත් කිව්වා.

ඒ කාලෙත් මේ පුතාගෙ අම්ම වෙලා ඉඳල තියෙන්නෙ දැන් මේ ඉන්න අම්මමයි. ඒ කාලෙ බොහොම දුප්පත් අය. හිටියෙ පුංචි පැල්පතක් වගේ නිවසක. මහ වැස්සක් වැටුන දවසක මේ අම්ම තමන් විතරක් නිදා ගන්න තැන නොතෙමෙන්න හදාගෙන ඉඳල තියෙනවා. මේ පුතා තරුණ වයසෙ හිටපු කෙනෙක්. වැස්සෙ තෙමිල ගෙදරට එනකොට ඔහු ඉන්න තැන තෙමිල තිබුනා. ඒ පාර තරහ ගිහින් කිව්වා, උඹ ඉන්න තැන විතරක් නොතෙමෙන්න හොඳට හදාගෙන, ඇයි මම ඉන්න තැන තෙමෙනවා උඹ දැක්කෙ නැත්ද, උඹේ ඇස් පොට්ට වෙලාද කියල. මේ කියපු වචනයේ අකුසලයත් පුතාට බලපාල තියෙනවා. එහෙම වුනත් අම්ම වයසට ගියාම හොඳට ඇප උපස්ථාන කරල සළකපු පිනෙන් ඥාන ශක්තිය වැඩෙන්න හේතු වුනා.

එතුමා මෙහෙම කියල පුතාගෙන් පෙර අත්බවයක මවට කියවුන වචනවල අකුසල කර්මයට මා ලවා එතැනදීම කමා කෙරෙව්වා. එතුමා සමාධි කවි මාලාවකින්ම දේශනාව කළා. පුතාට ඉඳගන්න කියල එතුමාගේ සුරත පුතාගෙ හිස මත තියල පුතාගෙ හිසේ පටන් දෙපතුල දක්වා ශරීරයේ යම් පාප විසක් තිබුන නම් ඒ සියලු විස එතුමාගේ සුරතින් පහලට අරගෙන මහ පොළවට ඇදල දැම්මා.

එහෙම කළේ මහ පොළවටවත් මේ විස නොයාවා කියල මෙත් සිතින්මයි.

එතුමා පුතාට කිව්වා, නැගිටල අම්මට වෙච්ච වැරදිවලට, පෙරදින නොදැන කියවුන වචනවලට කමාව ඉල්ලන්න කියල. පුතා එක වරක් නැගිටල මගෙන් වෙච්ච වැරදිවලට කමාවෙන්න කියල කමාව ඉල්ලුවා. මට කිව්වා, හිසේ පටන් දෙපතුළට අත දිගු කරල කමාව දෙනව කියල තුන් වතාවක් කියන්න කියල. මේ විදිහට තුන් වතාවක් නැගිටල වැඳල වචනයෙන්ම කමා කරන්න කියල පුතාට කිව්වා. පුතයි මමයි ඒ කියපු විදිහටම කළා. පුතා සමාව ගත්තා, මම සමාව දුන්නා. ඒ විදිහට එදා එතුමා පුතාගෙ පාප කර්මය ගෙවල නිදහස් කළා.

ඒ සියල්ල කළේ පැය බාගයක් විතර එක දිගට වේගවත්ව සමාධියට නැගුන කවියෙන්මයි. එදා එතුමා දේශනා කළ ඒ කවි මාලාවේ එක පදයක්වත් දැන් මට මතක නෑ. නමුත් ඒ කවිවලින් එදා දේශනා වුන අදහස් මාලාව අහගෙන හිටපු අනෙක් පිරිසගේ ඇස්වලින් කඳුළු වැටුනා. ඒ තරමටම ඒ කාව්‍යමය දේශනා මාලාවෙන් කියවුන දේවල් සංවේදී වුනා. ඒ හැඟුම්බර දේශනාව පවත්වත්දි එතුමාගේ මුහුණ ශෝක බරිත බවකින් පිරිල තියෙනවත් අපි දැක්කා. ඇස් නොපෙනුනත් පුතාටත් එතුමාගේ හඬින් ඒ බව දැනිල තිබුනා.

ඊට පස්සෙ එතුමා කිව්වා, පුතාගෙ ඇස්වල නහර දුර්වලතා නැති කරල ප්‍රාණවත්භාවය ලබා ගන්න හෙමින් සීරුවේ තමයි බෙහෙත් කරන්න වෙන්නෙ, කර්ම ශක්තියත් එක්ක එන ආබාධයක් නිසා කුසල දහම් මගත් වැඩිය යුතුමයි කියල. හැබැයි කිසිම දවසක එතුමා ඇස්වලට දාන්න බේත් වතුර දුන්නෙ නෑ. එතුමා නියම කරන දවස්වලට බේත් ගන්න අපි ගියා. හිසට දාන්න හිස කුඩිච්චි වගේ ප්‍රතිකාර තමයි දුන්නෙ. මම වත්තෙ පිටියෙ, පාර අයිනෙ තියෙන ගස් වර්ග එහෙම ගලවගෙන ඇවිත් කොටල ඒ කියපු විදිහට තමයි බෙහෙත් කළේ. පුතත් ඉතින් හිසකුඩිච්චි දාගෙන පැය ගණන් ඔහේ ඉන්නවා. හරිම කීකරුයි. කියන දේ කළා. ඒක මට හරි පහසුවක් වුනා. නැත්නම් ඒ කාලෙ අපිට තිබ්බ කරදරවල හැටියට කොහොම මුහුණ දෙන්නද? එහෙන් ගෙවල් දොරවල්වල ප්‍රශ්න. ළමයින් දෙතුන් දෙනෙකුට උගන්වන්නත් ඕන. ළමයින්ගෙ තාත්තා උදේ පාන්දරම නැගිටල වෙළඳාමට කොළඹ යනවා. මම



චිරාත් නිරෝෂන් රාජපක්ෂ මහතා

ඇස් පේන්නෙ නැති පුතා අල්ලගෙන සමහර දවස්වලට බස් එකේ කැළණි විශ්වවිද්‍යාලයට ගෙනිහින් ඇරලවනවා.

අපි එතුමා විසින් පවත්වපු බොහෝ දාන සීල භාවනා වැඩසටහන්, බෝධි පූජා, සමාධි දේශනා, ආශිර්වාද පූජා පසුපස්සෙම ගියේ ඒ හැම සාසනික කටයුත්තකින්ම අපිට අප්‍රමාණ සෙතක් සුවයක් ලැබිච්ච නිසා. අපේ ඇස් අන්ධ පුතාගෙ මස් ලේ ඇහැ සුවපත් කරන්න ගිහින් අපේ පවුලේ හැම දෙනාටම ප්‍රඥා ඇස පාදගන්න පුළුවන් වුනා. අපේ පුතාට මස් ලේ ඇහින් මෙලොව එළිය දකින්න බැරි වුනත් මනසින් ලබා ගත්ත දහම් ප්‍රඥා ලෝකය නම් අප්‍රමාණයි. එතුමා ලබා දුන්න බෙහෙත් ඖෂධ හරියාකාරව ගත්ත නම් සමහරවිට පුතාගෙ ඇස් පෙනීම ලබා ගන්නත් තිබුනා. කොහොම හරි පුතා නිතරම ගෙදර හිටියෙ නැති නිසා අපිට ඒ බෙහෙත් ඖෂධ හරියාකාරව කරන්න බැරි වුනා. පුතා විශ්වවිද්‍යාල අධ්‍යාපන කටයුතු අවසන් කරල රැකියාවක් ලබා ගන්න කල්ම අපි හැමෝටමත් පුතාටත් දහම් අවබෝධයක් ආශිර්වාදයක් එතුමාගෙන් ලැබුනා.

ඉතින් මේ වගේ පෙර අත්බැව් කියන්න පුළුවන් මේ උතුමා කවුද කියල අපිට හිතුනා. දිවැස්, දිවකන් පහල වෙච්ච ඉසිවරයෙක්ම වෙන්න ඇති කියලයි අපිට හිතුනෙ. දිවැස්, දිවකන් ඥාන පහල වෙච්ච මගඵල ලාභී ආර්ය උතුමන් පෙර කාලෙ ලක්දිව පහල වෙලා හිටිය බව සඳහන් වුනත්, මේ කාලයේ ඒ වගේ උතුමන් ඉන්නවද කියල දැනගන්න අපිට කිසිම පිටිවහලක් ආරංචි මාර්ගයක්වත් ලැබිල තිබුනෙ නැති නිසා, එතුමා මේ වගේ දේවල් කියන්නෙ කොහොමද, එතුමා කෙබඳු කෙනෙක්ද කියල හිතාගන්න නම් බැරි වුනා.

බුදු පියාණන් වහන්සේ වැඩ හිටිය කාලයේ ලෝකයේ පහල වූ මහ රහතන් වහන්සේලා මේ වගේ දිවැසින් බලල පෙර අත්බැව්වල තතුත් අනාගත තතුත් දේශනා කළ බව අපි අහල තියෙනවා. එතුමා ගිහි වතක හිටපු නිසා අපිට ඒ වගේ දෙයක් හිතා ගන්නත් බැරි වුනා. ඒ වුනත් එතුමාගේ කරුණාබර මෛත්‍රී ගුණයට අපි නැමී හිටියා. අපිට කරන්න පුළුවන් යම් පුද පූජාවක් තිබුන නම් පුළුවන් උපරිම ගරු සිතින් කළා. සත්ත්වයා කර්මයම උප්පත්ති කරගෙන, කර්මයම නෑයා කරගෙන, කර්මයම පිළිසරණ කරගෙන එන හැටි එතුමා අපිට දේශනා කළා. සිත, කය, වචනයෙන් කරපු කියපු දේවල් එක්රැස් කරගෙනම සසර සැරිසරන ආකාරය පහදල දුන්නා. බුදු ගුණ කඳම සිහි කරගෙන කල්‍යාණ මිත්‍ර උතුමන්ගේ අනුසාසනා අනුව කටයුතු කරමින් අකුසලයන්ගෙන් මිදිල දහම් මාර්ගයේම යන්න කිව්වා. එදා පටන් එතුමා මහණ වෙනකල්ම අපි ඒ බෝධි පූජා, දහම් සාකච්ඡා... ආදියට සහභාගි වුනා. මම පුතත් එක්ක ගියපු වෙලාවට එතුමා නිතරම අහනවා, දැන් ඇස් පෙනීම කොහොමද, මේ කියන දහම තේරෙනවද කියල.

පෙර දවස දරු දුකින් පෙළුන පටාචාරාවගේ, කිසා ගෝතමියගේ දරු දුක නිවල සසර දුකත් නිවාගන්න බුදු පියාණන් වහන්සේ ශ්‍රී සදහම් ජලාශය විහිදුවල පැතිරෙව්වා. එදා ඒ අය තමන්ගෙ දරුවන් කර හොවාගෙන ඇවිද්ද වගේම, අපිත් පුතාගෙ මළ නෙතට ප්‍රාණය හොයාගෙන පුළුවන් හැම තැනම ඇවිද්දා. අන්තිමට අපේ දුක් ගිනි කඳ නිවා ගන්න උපකාර වුනේ, බුදු පියාණන් වහන්සේගේ ශ්‍රී ධර්මස්කන්ධය අහල දරා ගත්ත උතුම් බුදු පුතෙක්මයි.

මේ සිද්ධියෙන් කියවෙන ඇස් අන්ධ පුතා මේ වෙනකොට විවාහ වෙලා එක්දරු පියෙක්. ඒ වගේම රජයේ පාසලක උගන්වන ගුරුවරයෙක්. ඔහු නමින් චිරාත් නිරෝෂන් රාජපක්ෂ මහතා. ඇස් දෙක නොපෙනුනත් මේ සම්බන්ධයෙන් ඔහුගෙනුත් වචනයක් ලබා ගන්න ඕන නිසා ඒ අතීත සිද්ධිය සමග වර්තමානයේ තොරතුරුත් ඔහුගෙන් විමසිය යුතුයි කියල කල්පනා කළා. ඒ අනුව අහපු ප්‍රශ්න කිහිපයකට ඔහු මේ විදිහට පැහැදිලි කිරීම් කළා.

මම රත්මලාන අන්ධ විද්‍යාලයේ තමයි 10 පන්තිය දක්වා ඉගෙන ගත්තෙ. ඊට පස්සෙ බත්තරමුල්ලෙ පාසලකට ඇතුල් වෙලා උසස් පෙළ හදාරල විශ්වවිද්‍යාලයටත් තේරුනා. එදා ඒ පාසලේ කලා අංශයේ හිටපු සිසුන්ගෙන් විශ්වවිද්‍යාලයට තේරුනේ මම විතරයි. වහරක අබේරත්න උපාසක මහත්තය මුණගැහෙනකොට මම කැළණිය විශ්වවිද්‍යාලයෙන් කලා ශාස්ත්‍රවේදී උපාධියත් සම්පූර්ණ කරල ගුරු පත්වීමකට ඉල්ලුම් කරල හිටියෙ. එතුමා මුණගැහුනම කිව්වෙ, කාලයක් යනකොට සමහරවිට එක ඇහැක් හරි පෙනෙයි කියල. හැබැයි එතුමා ඇහැට බෙහෙත් කිරීමක් කළේ නෑ. ශරීරයේ තිබ්බ්ච යම් විසක් තිබුන නම් ඒක ඉවත් කරන්න තමයි අධ්‍යාත්මික ශක්තියකින් යමක් කළේ. නමුත් අද වෙනකලුත් මට ඇස් පෙනීම ගැන නම් කිසිම දැනීමක් නෑ. **ඒත් එතුමා මුණගැහුනට පස්සෙ තමයි ඇත්ත වශයෙන්ම දහම ගැන හොඳ පැහැදිලි අවබෝධයක් ලබා ගත්තෙ. මේ දහම පිළිබඳ හොයන්න, විමර්ශනය කරන්න ලොකු උනන්දුවක් ඇති වුනේ ඊට පස්සෙ. දැන් ඉතින් මේ ලෝකය ගැන මට හොඳ අවබෝධයක් තියෙනවා. මස් ලේ ඇස් දෙකේ පෙනීම නැති වීම ගැන කිසිම කම්පාවක් සෝකයක් නෑ. ඒක මට ගැටළුවක් වුනේ නෑ. එතුමා නිසා ජීවිතය කියන්නෙ මොකක්ද කියල ඒ පිළිබඳව බොහෝ කරුණු දැනගත්තා. ජීවිතයේ ගැටළුවලට මුහුණ දෙන ආකාරය ධර්මානුකූලව හිතන්න පුරුදු කළේ එතුමා. දහම සම්බන්ධයෙන් විභාග සමත් වෙලා උපාධි ලබල තිබුනට මගේ ප්‍රඥා ඇස පහල වුනේ එතුමා නිසා. ඒක බය නැතිව කියන්න ඕන.**

**මේ ඇස් අන්ධ වෙන්න මම කරපු අකුසල කර්මය එතුමාගෙන් දැනගත්තට පස්සෙ මේ විපාකවල තියෙන බරපතලකම තේරුම් ගත්තා. මේ සංසාරය කියන්නෙ සෙල්ලමක් නෙවෙයි කියල අවබෝධ කර ගත්තා. කර්ම විපාක එනකොට ඉතින් පොලී පිටින්ම තමයි ලැබෙන්නෙ කියල දැන් දන්නවා. පෙර අත්බැවක වෙච්ච වරදට එදා මම අම්මගෙන් සමාව ගත්තමත් හිතට ලොකු සහනයක් දැනුනා.**

ඉතින් ඊට පස්සෙ මට ගුරු පත්වීමක් ලැබුනා. දැන් අවුරුදු 25 ක කාලයක පටන් මම නිට්ටඹුව කිත්තම්මහර මහා විද්‍යාලයේ 6 - 11 දක්වා පන්තිවලට සිංහල උගන්වනවා. සමහර කාලවලට බුද්ධාගමත් උගන්වනවා. අබේරත්න උපාසක මහත්තය ගිහි ගෙය හැරල මහණ වුනාට පස්සෙ නම් මට උන්වහන්සේත් එක්ක පුද්ගලිකව වචනයක්වත් කතා කරන්න ලැබුනෙ නෑ. හැබැයි පෝය දවසට වහරක විහාරස්ථානයට නම් බණ අහන්න බොහෝ අවස්ථාවල ගියා. කොහොමත් උන්වහන්සේ මහණ වෙන්න පෙර කියල තිබුනා, මහණ වුනාට පස්සෙ පුද්ගලිකව මේ වගේ බෙත් හේත් ආදී කටයුතු කරන්නෙ ඒ ගැන හොයන්නෙ නෑ, සසර ගමන කෙළවර කරගන්න කටයුතු කරගන්නව කියල. මම ඉතින් දැනටත් පටිගත කරපු ඒ බණ දහම් අහනවා. බණ අහන්න ප්‍රිය වුනේ එතුමාගේ ඇසුර නිසා. පුළුවන් තරම් ඉක්මනින් මේ භව ගමන ඉවර කරගන්න තියේ නම් ඒක ලොකු දෙයක්. ඒ සඳහා උත්සාහ නොකර ඉන්නෙත් නෑ.

## සාසනය උදෙසා පඬුරු ගැට ගැසීම සම්බන්ධයෙන් තවත් අත්දැකීම්...

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ ගිහි කාලයේ පටන් ළඟින් ඇසුරු කළ ආරණ්‍යවාසී භික්ෂූන් වහන්සේ නමක් පසුගිය කලාපයෙන් හෙළිදරව් කළ පඬුරු ගැට ගැසීම සම්බන්ධයෙන් තවත් අත්දැකීම් කිහිපයක් මේ විදිහට ඉදිරිපත් කළා.

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ ගිහි වතේ ඉඳෙද්දි වගේම පැවිදි වුනාට පසුවත්, රෑ දවල් දෙකේම ලෝක සත්ත්වයාගේ සියලු අභිවෘද්ධිය වෙනුවෙන් දයානුකම්පාවෙන් යුක්තව, අප්‍රමාණ වෙහෙස මහන්සියකින් ඇප කැප වීමෙන් කටයුතු කළ ආකාරය උන්වහන්සේ ඇසුරු කළ වැඩි පිරිසක් දන්න කාරණයක්. සාංසාරික ගමන තුල පාරමී දම් පුරාගෙන ආපු හේතු වාසනාවන්තයින්ට සිරි සදහම් දේශනා තුලින් සසර දුකින් නිදහස් වෙන්න උපදෙස් දුන්න වගේම, ඒ සඳහා තවත් ගුණ ධර්ම වත්පිළිවෙත් පූර්ණ කළ යුතු අයටත් අවවාද අනුසාසනා කරමින් උන්වහන්සේ කටයුතු කළ ආකාරය ප්‍රසංසනීයයි.

උන්වහන්සේ බොහෝ දෙනාගේ ගුණ ධර්ම පූර්ණ කර ගැනීම සඳහා අතීතයේ තිබුන, නමුත් වර්තමානය වෙනකොට දහම් අර්ථ යටපත් වෙලා තිබුන වටිනා පිංකම් ඇතුළු විවිධ ආගමික වත්පිළිවෙත් වගේම චාරිත්‍ර වාරිත්‍ර, සිරිත් විරිත්, ඇවතුම් පැවතුම් ආදියත්, ඒවායේ ඇතුලත් දහම් අර්ථ ඉදිරිපත් කරමින් ලෝක සත්ත්වයා වෙනුවෙන් කටයුතු කළා. ඒ වගේ අවස්ථා රාශියක් අතරින් එක අවස්ථාවක් තමයි ගියවර “සාසනය උදෙසා පඬුරු ගැට ගැසීමේ නොදුටු පැතිකඩ” යන ලිපියෙන් ඉදිරිපත් කළේ. ඒ ලිපිය තුලින්, ඇති හැකි අයට වගේම නැති බැරි අයටත් සාසනයේ තියෙන මහා පිංකම්වලට සහභාගි වෙලා අතහිත දීගන්න පුළුවන් බව පැහැදිලි කළා. ලොකු වෙහෙස මහන්සියක් දරන්නෙ නැතිව, මහා පීඩාවකට අසහනයකට පත් නොවී, සියලු බලාපොරොත්තු අත්හැරල පුංචි රුපියලක් දෙකක් සාසන අභිවෘද්ධිය සඳහාත්, භික්ෂු මහා සංඝ රත්නයේ සිව්පසය සඳහාත්, වෙහෙර විහාරස්ථානවල ප්‍රතිසංස්කරණය සඳහාත් වෙන් කරල පඬුරක් ගැට ගහන්න බැරි කෙනෙක් නෑ. ඒ තුලින් දිනපතා විහාරස්ථානවල සිදු කරන මහා පින් අනුමෝදනාවන්ගේ කොටස්කරුවෙක් වෙලා එයින් ලැබෙන සාසන ආශිර්වාදයෙන් තම තමන්ගේ ලෞකික ගැටළුත් බොහෝ දුරට විසඳගෙන නිවන් මාර්ගය පූර්ණ කර ගන්නත් මහා ආධාරයක් උපකාරයක් වෙනවා. අන්න ඒ වගේ පිංකමක් තමයි ඒ විදිහට ඉදිරිපත් කළේ.

තමන්ගෙ යහපත් අධිෂ්ඨාන, සාධාරණව සහ ධර්මානුකූලව සිදු කරන ප්‍රාර්ථනා ඉටු වෙන්න කියල සාසන අභිවෘද්ධිය උදෙසා පඬුරු ගැට ගහනකොටත් ඉතාමත් බුද්ධිවන්තව සහ විමසිලිමත්ව කටයුතු කරන්න ඕන. මොකද පඬුරු ක්‍රියාත්මක වෙනකොට සමහර විට අපි හිතන්නෙ පතන්නෙ නැති විදිහට තමයි ඒවා ක්‍රියාත්මක වෙන්නෙ.

අපි දවසක් වහරක අබේරත්න උපාසක මහත්තය එක්ක විවිධ දහම් කරුණු කාරණා සාකච්ඡා කරන අවස්ථාවකදි එතුමා අපිට මේ විදිහෙ කතාවක් කිව්වා. ස්වාමීන් වහන්ස,



දෙළොස්මහේ පහන් පින්කමකට සම්බන්ධ වී

මේ ළඟදි මම සාසනික කටයුතු අවසන් කරල ඉන්න වෙලාවක එදා පූජාවට සහභාගි වෙච්ච අය බොහෝ දෙනෙක් ආපසු තම තමන්ගෙ ගම් රටවල් බලා ගිහින් හිටියෙ. එක් කෙනෙක් දෙන්නෙක් වගේ කිහිප දෙනෙක් විතරයි ඉතිරි වෙලා හිටියෙ. මම ඉතින් ඒ අයත් එක්ක ධර්ම සාකච්ඡා කර කර ඉන්නකොට තරුණ ළමයි 7 - 8 දෙනෙක්ගෙ විතර කණ්ඩායමක් මොනවහරි කතා කර කර අපි ඉන්න පැත්තට ආවා. මමත් බැලුවා මේ ස්ථානයේ සිද්ධ කරන සාසනික කටයුතු සියල්ල අවසන් වෙලා ඒ සඳහා සහභාගි වෙච්ච අයත් සියලු දෙනාම වගේ ආපසු ගෙවල් දොරවල්වලට ගිහින් තියෙද්දි ඇයි මේ ළමයි එන්නෙ කියල. ඒ අය ටිකක් අපි ඉන්න තැනට ආසන්නයට එනකොට අපිට තේරුනා, මේ ළමයි අහවල් ගමේ අය, නමුත් බණ අහන්නවත් භාවනා කරන්නවත් පුද පූජාවලට සම්බන්ධ වෙන්නවත් නෙවෙයි එන්නෙ කියල. ඒ වුනත් කමක් නෑ, ආපු අයට යන්න දෙන්න එපා, කොහොම හරි කොටු කරගෙන ටික වෙලාවක් හරි තියාගන්න කියල තමයි මගේ හිත කිව්වෙ. ඒ නිසා මමත් ඉතින් ඒ ළමයින්ට කිව්වා, හා හොඳයි ඔය ළමයි එන්න ඇවිත් වාඩිවෙන්න, අපි අද දවසේ සාසනික කටයුතු නම් අවසන් කරල තියෙන්නෙ, ඒ වුනත් කමක් නෑ තරුණ ළමයි බණ අහන්න ධර්ම සාකච්ඡා කරන්න ප්‍රමාද වෙලා හරි සහභාගි වුන එක නම් බොහොම හොඳයි කියල. මම එහෙම කිව්වම ඒ අය එක එක්කෙනාගෙ මුහුණ බලාගෙන මොනව හරි හෙමිහිට කිව්වා.

මමත් ඒ කියන ඒවා ඇහුනෙ නෑ වගේ අඟවමින් පුංචි පුංචි දහම් කරුණු කිහිපයක් කිව්වම, ඒ අය බොහොම අමාරුවෙන් තමයි ඒ ටික වෙලාව අහගෙන හිටියෙ. ඊට පස්සෙ මේ ළමයි කියනවා, නෑ මහත්තයා අපි ආවෙ වෙන උවමනාවකට කියල. මහත්තය මෙහාට යන එන අයට විවිධ සෙත් ශාන්ති, ගුරුකම් කටයුතු කරනවා කියල අපිට ආරංචියි, ඒ කරල දෙන ඒවත් හරියනව කියල තමයි හුඟ දෙනෙක් කියන්නෙ, ඒ නිසා අපිත් ආවෙ ලොකු උවමනාවකට තමයි කියල මේ ළමයි මට කිව්වා. මමත් ඉතින් ඇහුවා, හා හොඳයි ඔය ළමයින්ට එහෙනම් මගෙන් මොනවද කෙරෙන්න ඕන කියල. එතකොට ඒ එක ළමයෙක්, මහත්තයා මට ස්ත්‍රී වශියක්, ඉනා බන්ධනයක් කරගන්න ඕන කියල මේ විදිහෙ කතාවක් කිව්වා.

මම මෙන්න මේ නම තියෙන ගැහැණු ළමයෙක් එක්ක යාළුවෙලා ඉන්නවා. ඒ ළමයා මට වැඩිය කැමතිත් නෑ. ඒ වුනාට මම ඒ ළමයට කැමතියි. නමුත් ඒ ළමයගෙ ගෙදර වැඩිහිටි අය එහෙම කවුරුවත්ම මට කැමති නෑ. ඉතින් මට ඕන ඒ ළමයයි ගෙදර සෙසු අයයි කැමති කරගන්න. ඒ නිසා මට මොනව හරි ගුරුකමක් කරල දෙන්න කියල මේ ළමයා කිව්වා. අනෙක් ළමයි ඇවිත් හිටියෙ මේ ළමයගෙ සහයෝගයට. මම ඉතින් හා හොඳයි කියල මේ විදිහට කාරණය පැහැදිලි කරල දුන්නා.

ඒක මට කරල දෙන්න පුළුවන්. නමුත් මම ඉතින් යන්ත්‍ර මන්ත්‍ර ගුරුකම්, වශී ගුරුකම් ආදිය නම් කරන්නෙ නෑ. ඒ වුනාට වශී ගුරුකම්වලටත් වඩා බලවත් ගුරුකම් ක්‍රමයක් මගේ ළඟ තියෙනවා. නමුත් ඉතින් ඒවා ආවට ගියාට කරන්න බෑ. ඔය ළමයි කැමති නම් මම කියන විදිහට වැඩ කටයුතු කරන්න. ඔය ළමයින්ගෙ යහපත් බලාපොරොත්තු ඉටු කරගන්න ක්‍රමයක් මට කියල දෙන්න පුළුවන්.

මම ඔවුන්ට එහෙම කිව්වම, ඒ ළමයි ඒකට බොහොම කැමති වෙලා මට කියනවා, හා හොඳයි මහත්තය මොනව කරල දුන්නත් කමක් නෑ අපේ බලාපොරොත්තුව ඉෂ්ට කරල දෙන්න අපි මහත්තයට ඉල්ලන ගානක් දෙන්නම් කියල. මම ඉතින් ඔවුන්ට මෙහෙම කිව්වා. අපි සතියකට වරක් අද වගේ මහා විශේෂ ආශිර්වාද සෙත් බුද්ධ පූජාවක් තියනවා. එදාට ඔය ළමයි වේලාසන මේ ස්ථානයට එන්න. මට ඔය ළමයින්ගෙන් මුදල් හදල් එපා. මට දෙන්න හිතාගෙන ඉන්න මුදල්වලින් පුංචි රුපියලක් දෙකක් අරගෙන පුංචි සුදු රෙදි පටි කෑල්ලකුත් අරගෙන එන්න. ඇවිත් අතේ තියාගෙන අපි සිද්ධ කරන ආශිර්වාද සෙත් බුද්ධ පූජාව හොඳට අහගෙන ඉඳල, ඔය ළමයින්ට අවශ්‍ය කරන කාරණාවත් හිතල, අනන්ත ගුණ ඇති තුනුරුවන්ගේ ගුණ බලයෙන් සාසන ආශිර්වාදයේ රැකවරණයෙන් සුදුසු ආකාරයට යහපත් බලාපොරොත්තු විසඳේවා කියල පඬුරක් ගැට ගහන්න. එතකොට ඔය ළමයින්ගේ යහපත් බලාපොරොත්තු ඉටුවෙයි කියල මම ඔවුන්ට කිව්වා.

ඒ අය මුලින්ම ඒකට ඒ තරම් කැමැත්තක් දැක්වුවෙත් නෑ. මොකද ඒ අයට ඕන වුනේ රටේ තොටේ වෙනත් තැන්වල කරන විදිහට වශී ගුරුකමක් කරගන්න. මම ඔවුන්ට තෝරල දුන්නා, මම ඒවා කරන්නෙ නෑ, ඒ වුනාට ආශිර්වාද සෙත් බුද්ධ පූජාවලට ඉඳල පඬුරු ගැට ගහල මේ මේ විදිහට කටයුතු කරන අයගෙ යහපත් ධර්මානුකූල බලාපොරොත්තු ඉටු කර ගන්න පුළුවන් කියල. ඊට පස්සෙ මේ ළමයි, හා අපි එහෙම කරන්නම් කියල ගිහින් ඊළඟ සතියෙ ආශිර්වාද සෙත් බුද්ධ පූජාව කරන දවසෙ ඇවිත් ඒ බුද්ධ පූජාවටත් සහභාගි වෙලා පඬුරු ගැට ගහල ගියා.

ඔය විදිහට ගිහින් දවස් කිහිපයකින් මට ඇවිත් කියනවා, කෝ මහත්තයා තාම හරි ගියේ නැනෙ කියල. මම ඔවුන්ට මෙහෙම කිව්වා. ඔය ළමයි පඬුරු ගැට ගහල දින කීයද ගියේ! කලබල වෙන්න එපා. හරි ගියේ නැත්නම් තව පඬුරක් ගෙනත් බුද්ධ පූජාවට සහභාගි වෙලා අපි කියල දීපු විදිහටම ගැට ගහන්න. එහෙම නැතිව ගහකින් ගෙඩියක් කඩනව වගේ මම කොහොමද

ඕව එක පාරටම කරන්නෙ! ඒ නිසා ඔය ළමයි බය වෙන්න එපා, ඔය ළමයින්ගෙ ප්‍රශ්න විසඳෙනවා.

මම මෙහෙම කිව්වම ඒ ළමයිත්, හා අපි ගිහින් එන්නම් කියල ගියා. මේ විදිහට දවස් කිහිපයක්ම පඬුරු ගැට ගහල මේ ළමයින්ට මොකුත්ම ප්‍රතිඵලයක් ලැබුනෙ නෑ කියල මට ඇවිත් වරින් වර කියනවා. මමත් ඉතින් ඒ ළමයින්ට නැවතත් කිව්වා, කලබල වෙන්න දෙයක් නෑ සුදුසුම විදිහට තමයි පඬුරු ගැට ගැහුවම හරියන්නෙ, ඒ නිසා ටිකක් ඉවසීමෙන් ඉන්න මොනව හරි විශේෂ තොරතුරක් දැනගන්න ලැබෙයි, එතකොට මට ඇවිත් කියන්න කියල. මෙහෙම කියල ටික දවසක් යනකොට මහා පුදුම වැඩක් වෙලා. මේ අය යාළු වෙන්න බලාගෙන හිටිය ගැහැණු ළමය වෙන පිරිමි ළමයෙක් එක්ක හොර රහසෙම පැනල ගිහින් කිසිම කෙනෙක් දන්නෙ නෑ. මේ සිදුවීම අර භාරහාර වුන පඬුරු ගැට ගහපු ළමයින්ට ආරංචි වුනාම, ඒ ළමයි ඇවිත් හරි දුකෙන් කියනවා, හරි වැඩේ මහත්තයා ඒකි වෙන කොල්ලෙක් එක්ක පැනල ගිහින් ගමේවත් ගෙදර අයවත් කිසිම කෙනෙක් දන්නෙ නෑ කියල. තව ළමයෙක් කියනවා, කෝ මහත්තය පඬුරු ගැට ගැහුවට හරි ගියේ නැනෙ කියල. මම ඒ ළමයින්ට මෙහෙම කිව්වා.

ඔය ළමයි කලබල වෙන්න එපා. කෙනෙක් ආවාහ විවාහ කටයුත්තක් කරගන්නෙ ටික දවසක් ඉන්න බලාගෙන නෙවෙයිනෙ, මුළු ජීවිත කාලයේම එකට ජීවත් වෙන්න හිතාගෙනනෙ. ඒ නිසා ඒ වගේ කටයුතු කලබල වෙලා හදිස්සියට කරන්න හොඳ නෑ. ටිකක් හොයල බලල කල්පනා කරල තමයි කරන්න ඕන. කොහොම වුනත් ඔය ළමයින්ට කියන්න විශේෂ කාරණාවක් තියෙනවා. මම ඒක පස්සෙ කියන්නම්. එතකල් ඔය හොරෙන් පැනල ගිය ළමය ගැන ටිකක් සෝදිසියෙන් ඉන්න. ඊළඟට මොකද වෙන්නෙ කියල තව ටික දවසකින් මට ඇවිත් කියන්න. මෙහෙම කියල මම ඔවුන්ගෙ හිත සනසල යැව්වා.

මේ ළමයි ගිහින් නැවතත් ටික දවසකින් ඇවිත් බොහොම සතුටින් හිනාවෙලා මට කියනවා, අනේ මහත්තයෝ මගුල ප්‍රමාද වුන එකමයි හොඳ, ඒ කටයුත්ත සිද්ධ නොවුන එකමයි හොඳ කියල. මම ඇහුවා, ඇයි ළමයි එහෙම කියන්නෙ මොකක්ද හේතුව කියල. ඒ ළමයි කියනවා, අනේ මහත්තයා ඒකි කොල්ලෙක් එක්ක පැනල ගිහින් සතියකින් විතර ඒ කොල්ලටත් හොරා වෙනත් ගමක කොල්ලෙක් එක්ක ආයෙත් පැනල වෙනත් පළාතකට ගිහින් කියල. මේ විදිහට මාසයක් විතර යනකොට ඒ ගැහැණු ළමය පිරිමි ළමයි තුන් හතර දෙනෙක් එක්ක යාළු වෙලා අත්හැරල වෙනත් අය එක්ක හොරෙන් පැනල ගිහින්.

දැන් මේ ළමයි මට කියනවා, අනේ මහත්තයා අපිට මහා පුදුම වාසනාවක් වුනේ, මුලින් විවාහය ප්‍රමාද වෙන එකට මහත්තයත් එක්කත් අපි ටිකක් තරහින් හිටියෙ, ඒ වුනාට දැන් තමයි තේරෙන්නෙ ප්‍රමාද වුන එකේ වටිනාකම, මහා පුදුම කරදරයකින් තමයි අපිව බේරුනේ කියල. එහෙම කියල ඒ අය මට ස්තුති කළා. මම කිව්වා, ඔය ළමයින්ට මට ඔය ටික එක පාරටම කියන්න බැරිව තමයි හිටියෙ, ඒ නිසා මම ඔය ළමයින්ටම තේරෙනකල් හිටියෙ කියල. ඒ අය හිනා වෙවී මට කියනවා, අපිට වුනේ මහා පුදුම ලාභයක්, මහත්තය නැත්නම් අපිත් ඔය කරදරයට මැදි වෙනවා, ඒකි දැනටමත් කොල්ලො ගණනාවක් එක්ක හොරෙන් පැනල ගිහින්, දැන් ඉන්න තැනකුත් නෑ, ගෙදරට එන්න දෙන්නෙත් නෑ, නෑදැයො අතරත්, ගම්වාසින් අතරත් මහා අප්‍රසාදයකට පත් වෙලා, මේ වෙනකොට තව කී දෙනෙක් එක්ක හොරෙන් පැනල ගිහින්ද දන්නෙත් නෑ කියල.

මේ විදිහට එදා අබේරත්න උපාසක මහත්තය මේ සිදුවීම අපිත් එක්ක කියල තවදුරටත් මෙහෙම කියනවා. ස්වාමීන් වහන්ස, මේ ස්ථානයේ ගැට ගහන පඬුරු ක්‍රියාත්මක වෙනකොට අපි නොහිතන විදිහට තමයි ක්‍රියාත්මක වෙන්නෙ. සමහර අවස්ථාවල අලාභහානි පාඩු වගේ දැනෙනව තමයි. නමුත් දිගු කාලීනව බලනකොට ඒ පාඩුවම තමයි තමන්ට සිද්ධ වෙලා තියෙන ලොකුම ලාභය. **අපිට සිද්ධ වෙන සියලු කරදර බාධක දිහා හොඳට විමසිල්ලෙන් බලනකොට තේරෙනවා, ඒවා නරකටම සිද්ධ වෙන ඒවත් නෙවෙයි කියල. නරකත් හොඳට සිද්ධ වෙන අවස්ථා ඕන තරම් තියෙනවා. හැමදේම වෙන්නෙ හොඳටයි කියල සමහර අවස්ථාවල කියන්නෙත් ඔය හේතුව නිසා. පටාචාරාවට සියල්ල අහිමි වුනා. නමුත් අවසන් මොහොතේ බණ අහල දහම් අවබෝධය ලබන්නත් අවස්ථාව ලැබුනා.** ඒ නිසා නරකත් හොඳට යෙදෙන අවස්ථා ඕන තරම් තියෙන බව මෙයින් තේරුම් ගන්න ඕන කියල අබේරත්න උපාසක මහත්තය අපිත් එක්ක කිව්වා.

ඒ වගේම ඒ කාලෙ අපි දන්න කියන දායක පවුලක් හිටියා. ඒ ගෙදර හිටියෙ දෙමව්පියන් එක්ක අවුරුද්දක් විතර වයස කුඩා සිඟිති දැරියක් විතරයි. ඒ ගෙදරට නිතර යමින් එමින් හිටපු පැරණි හිතවතෙකුත් හිටියා. ඔහුගෙ වයස අවුරුදු 28 - 30 ක් විතර ඇති. ඔහු නිතර නිතර ඒ ගෙදරට යන එන නිසා තමන්ගෙම කෙනෙක් වගේ තමයි ඒ අය ඔහුව ඇසුරු කළේ. ඔහු ඒ ගෙදරට ආවම කුඩා සිඟිති දැරිය වඩාගෙන නිතර හුරතල් කරමින් කුළුපගව කටයුතු කළා. ටිකක් ලොකු මහත් වුනාම සමහර දවස්වලට පාසල් පවා එක්කගෙන ගියා. කොහොම හරි ඔය විදිහට අවුරුදු ගණනාවක් ගත වෙලා මේ කුඩා දැරිය තරුණ දියණියක් බවට පත් වුනා. ඒ ගෙදර වෙනත් දරුවො හිටියෙ නැති නිසා, උපරිමයෙන් ගරු සැළකිලි සහිතව මහා පුදුම බලාපොරොත්තු ගොන්නක් ඇතිව තමයි ඒ දෙමව්පියන් තමන්ගෙ එකම දියණිය හැදුවෙ.

නමුත් ඉතින් සිතූ පැතූ ආකාරයට මේ ලෝකයේ කිසිවක් නැති බව සනාථ කරමින් මේ තරුණ දියණිය තමන්ට වඩා අවුරුදු ගණනාවකින් වැඩිමහල්, අර තමන් පොඩි කාලෙ ඉඳන් දන්න කියන මැදි වයසෙ පුද්ගලයත් එක්ක හිතවත්කමක් හදාගෙන ඔහුත් එක්ක ආවාහ විවාහ කටයුතුවලටත් පොරොන්දු වෙලා කටයුතු කරන්න පටන් අරගෙන තිබුනා. ඒ වෙනකොට පාසල් අධ්‍යාපනයවත් අවසන් කරල නැති තමන්ගෙ එකම දියණියගේ මේ ක්‍රියා කලාපය දැන ගත්ත දවසෙ මව්පියන් මහා පුදුමයටත් සංවේගයටත් පත් වෙලා ඒ වෙලාවෙම තමන්ගෙ දියණියට අවවාද අනුශාසනා කළා. ඒ මව්පියන් එදා රෑ ආහාර වේලවත් ගන්නෙ නැතිව අඬා වැළපෙමින් ඒ අදහස් වෙනස් කරගන්න කිව්වත්, ඇගේ තිබිච්ච හිතුවක්කාර දරදඬු ගති නිසා දෙමව්පියන්ගෙ අවවාද අනුශාසනා තඹ දොයිතුවකටවත් පිළිනොගන්න තත්ත්වයක තමයි හිටියෙ.

මේ විදිහට ඒ දෙමව්පියන් මේ ප්‍රශ්නය විසඳගන්න විවිධාකාර කටයුතු කරමින් ඇඬූ කඳුලින් ඉන්නකොට, වහරක අබේරත්න උපාසක මහත්තය ඒ කාලෙ සිද්ධ කරපු සෙත් ශාන්ති, ආශිර්වාද සෙත් බුද්ධ පූජා...

# මාර බල පැරදූ ගාථා...



ජේතවනාරාමයේදී එක්තරා රාත්‍රියක වසවර්ති මාරයා ඇත් වේශයකින් ඇවිත් හෙණ පුපුරන්න වගේ කුංචනාද කරමින්, විසාල ගස් අතු කඩා දමමින්, බුදු පියාණන් වහන්සේ වැඩ හිටපු සුගන්ධ කුටියට යාබද වැසිකිළි ඉස්තෝප්පුවේ සැතපිලා රාත්‍රිය ගත කරමින් හිටපු රාහුල මහ රහතන් වහන්සේට බය තැති ගැනීම්, සන්ත්‍රාසය ඇති කරන්න තමන්ගෙ බල පරාක්‍රමය පෙන්වන්න උත්සාහ කළා. ඒ මොහොතේ තථාගත අරිහත් සම්මා සම්බුදු පියාණන් වහන්සේ විසින් එවැන්නක් සිදු කළ නොහැකි බවට මාරයාට සීහනාද කරල, අරිහත් උත්තමයාණන් වහන්සේලාගේ මහා ගුණ කඳ ගැන සැකෙවින් දේශනා කළා. එසේ දේශනා කළ මාර බල පැරදූ අති ගාම්භීර ශ්‍රී මුඛ ගාථා රත්න යුගලය සහ ඊට අනුකූල කතා වස්තුව සියලු දෙනාගේ යහපත පිණිස මේ විදිහට ගෙන හැර දක්වනවා.

ආදියට සම්බන්ධ වෙලා භාරහාර වෙලා සාසන අභිවෘද්ධිය සඳහා පඬුරු ගැට ගැහුවම තමන්ගෙ යහපත් ධාර්මික බලාපොරොත්තු ඉෂ්ඨ සිද්ධ වෙන බව සිහිපත් වුනා. මොකද ඒ අය වහරක හාමුදුරුවො මහණ වෙන්නත් පෙර පටන්ම ඒ සාසනික කටයුතුවලටත් උදව්පදව් කරමින් නිතර සම්බන්ධ වෙලා හිටියා. හැබැයි ඒ වෙනකොට වහරක අබේරත්න උපාසක මහත්තය පැවිදි දිවියට ඇතුලත් වෙලා හිටියෙ. ඉතින් වෙන කරන්න දෙයක් නැති නිසා, මේ කාරණය ගැන සාකච්ඡා කරල වහරක හාමුදුරුවො මුණගැහිල මේ ප්‍රශ්නය කියල යම් කිසි උපදේසයක් ලබා ගන්න ඕන කියල මේ දෙමව්පියො තීරණය කළා.

ඊට පස්සෙ ඒ පියා වහරක විහාරස්ථානයට ගිහින් වහරක හාමුදුරුවන්ට තමන්ගෙ දුක් ගැනවිල්ල කිව්වා. එතකොට හාමුදුරුවො මෙහෙම උපදෙස් දුන්නා. මොනව කරන්නද ඔය වගේ අවස්ථාවලට අපිට මුහුණ දෙන්න වෙන්නෙ අහඹු ලෙස නෙවෙයි, මේ එන දීර්ඝ සංසාර ගමනේ කරන කියන අයහපත් කටයුතුවල ප්‍රතිඵල විදිහට තමයි. ඒ වුනත් කමක් නෑ, මහත්තය අපි සිද්ධ කරන ආශිර්වාද සෙත් බුද්ධ පූජාවට සම්බන්ධ වෙලා සාසනය උදෙසා විශේෂ කිරිපැණි පූජාවකුත් කරල සාසන අභිවෘද්ධියට පඬුරක් ගැට ගහන්න. ඒ අවස්ථාවෙදි තමන් අධිෂ්ඨාන කරගන්න ඕන, තුනුරුවන්ගේ අසීමිත ගුණ බලයෙන් සාසන ආශිර්වාදයේ රැකවරණයෙන්, මේ දෙදෙනාටම විය යුත්තක් නම් වේවා, නොවිය යුත්තක් නම් සමගියෙන් සමාදානයෙන් විසිරී යාවා කියල.

උන්වහන්සේ මේ විදිහට උපදෙස් දුන්නම, ඒ දෙමව්පියන් ඒ කියපු විදිහටම සෙනසුරාදා පවත්වන විශේෂ ආශිර්වාද සෙත් බුද්ධ පූජාවකට සම්බන්ධ වෙලා කිරිපැණි දානයක් පූජා කරල සාසන අභිවෘද්ධියට පඬුරක් ගැට ගැහුවා. ඊට පස්සෙ ඒ නොගැලපෙන සම්බන්ධය ටිකෙන් ටික දුරස් වෙලා ගිහින් පසු කාලයකදි මව්පියන්ගේ පූර්ණ ආශිර්වාදය මැද මේ දියණිය සුදුසු සහකරුවෙක් එක්ක ආවාහ විවාහ කටයුතුවලට ඇතුලත් වුනා. ඒ අය මේ වෙනකොට බොහොම සාමකාමී ජීවිතයක් ගත කරනවා. ඇය දැන් දරුවො තුන් හතර දෙනෙක් ඉන්න අම්ම කෙනෙක්. කොහොම හරි එදා වහරක හාමුදුරුවන්ගෙ අවවාද අනුසාසනා මත කටයුතු කිරීමෙන් තමයි ඒ දියණියටත්, මව්පියන්ටත් ඒ වාසනාව සහ සැනසීම උදා වුනේ.

දැන් බලන්න වහරක හාමුදුරුවො පැත්තක් ගන්නෙ නැතිව බොහොම සර්ව සාධාරණව තමයි ඒ අයට උපදෙස් දුන්නෙ. ඒ නිසා තමයි තමන්ගෙ දායකයගෙ දියණියට විතරක් විශේෂයක් නොකර, දෙදෙනාටම විය යුත්තක් නම් වේවා, නොවිය යුත්තක් නම් සමගියෙන් සමාදානයෙන් විසිරී යාවා කියල කියන්න කිව්වෙ. ඒ කියන්නෙ මේ කර්ම විෂය අචින්ත්‍ය නිසා, සසර ගනුදෙනු තියෙන්න පුළුවන් නිසා, උන්වහන්සේ ඒ ගැන නිගමනය කරන්න යන්නෙ නැතිව ධර්මතාවයෙන්ම වෙන්න තියෙන දේ සිද්ධ වෙන්න ඉඩ දුන්නා. ඒ සඳහා සාසන ආශිර්වාදය රැකවරණය ලබා ගන්න හැටි විතරයි කියල දුන්නෙ. බලන්න ඒක මොන තරම් ගුණයක්ද කියල.

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

මහා රාහුල තෙරුන් වහන්සේට ඒ විදිහට වැසිකිළි දොර අසළ ඉස්තෝප්පුවේ සැතපෙන්න සිද්ධ වුනේ, පහුවදා බණ ඇසීමේ චේතනාවෙන් රෑ දෙගොඩ හරියේ ජේතවනාරාමයට පිටතින් වැඩිය සංඝයා වහන්සේලා කිහිප නමක් උන්වහන්සේව අවදි කරල සැතපෙන්න සුදුසු තැනක් ඉල්ලා සිටිය නිසා. ඒ අනුව රාහුල හාමුදුරුවො තමන් වැඩ හිටපු කුටිය ඒ හිමිවරුන්ට සතුටින් පූජා කළා.

මේ මොන තරම් ගුණයක්ද?

අරිහතුන් වහන්සේලා පරිත්‍යාගශීලී කරුණා සාසන ගුණ විදහා දැක්වීම තුළින් ලෝකයට දීල තියෙන පරමාදර්ශයන් අද කාලයට ඉතාමත් වටිනවා.

රාහුල හාමුදුරුවො කියන්නෙ සිව්පිළිසිඹියාපත්, අෂ්ට සමාපත්තිලාභී, ෂඩ් අභිඥාලාභී මහ රහතන් වහන්සේ නමක්. එහෙම උත්තමයෙක් ඒ විදිහට වැසිකිළියේ දොර ළඟ ඉස්තෝප්පුවේ සැතපිලා රැය පහන් කරන්න මොන තරම් අනතිමානී කෙනෙක් වෙන්න ඇත්ද? ඒ විදිහට ඒ ආගන්තුක භික්ෂූන් වහන්සේලාට තමන් භාවිතා කරන කුටිය පරිත්‍යාග කරල රාහුල මහ තෙරුන් වහන්සේ වැඩල තියෙන්නෙ ගෞතම බුදු පියාණන් වහන්සේ භාවිතා කරන වැසිකිළියේ ඉස්තෝප්පුවට.

වන ගොමුවලින් වට වෙච්ච රමණීය වන සෙනසුනක මහ රෑ යාමෙ එළිපහළියේ මොන තරම් සීතලක් තියෙනවද කියල කැලෑවල රෑ පහන් කරල තියෙන අය දන්නවා. ඒ වගේ පීඩා ඉවසා විඳ දරා ගැනීමත් මොන තරම් අගය කළ යුතු ගුණයක්ද?

හත් අවුරුද්දෙන් පැවිදි වෙලා, විසි වෙනි වියේදී අරිහත්වයට පත් වෙලා, පනස් වියේදී පිරිනිවන් පෑ රාහුල හාමුදුරුවො දිනපතා විහාරය ඇමදීම සිද්ධ කරල වැලි අහුරක් උඩ දාල, මේ වැලි කැට ගානට අද දවසේ මට අවවාදානුසාසනා ලැබේවා කියල පතන සිරිතක් තිබිල තියෙනවා. ගෞතම බුද්ධ සාසනයේ සික්ෂාකාමී භික්ෂූන් අතර අග තනතුරින් පිදුම් ලැබුවෙ උන්වහන්සේ.

අද කාලයේ අලි වංසෙන් වැඩ පෙන්වන, නායකත්වය අග්‍ර කරගෙන විස වදන්වලින් දෂ්ට කරන නාග බලවේගවලින් (ඇතාටත් නාග කියල භාවිතා වෙනවා) ආර්ය මාර්ගය වඩන පින්වත් පිරිස් වෙත එන හිංගි හිංසා දුරලීමේ ඇත් බලයක් මේ ගාථා යුගලයේ ගැබ් වෙලා තියෙනවා.

ඒ වගේ එන විස පාප වදන්, නීච නින්දා අපහාස හමුවේ ආර්ය වූ අකම්ප්‍යතාවය ඇති කර ගැනීම සඳහාත්, ආර්ය මාර්ගයේ යන අයට මේ ආකාරයෙන් බාහිර ලෝකයෙන් එන අනේකවිධ හිංගි හිංසාත්, ලොකුම හතුරුකම් කරමින් අපිව මේ සෝර සසරේ ඇවිද්දවන අපේ අභ්‍යන්තරයෙන් එන රාග, ද්වේශ, මෝහ කෙළෙස් පීඩාත් දුරින්ම දුරලීමට අවශ්‍ය රැකවරණය සඳහාත් මේ ගාථා රත්නයන් භාවිතා බහුලීකතා හැටියට ඇසුරු නිසුරු කිරීම යහපත උදා කරන බවට සහතිකයි.

සැරියුත් මහ තෙරුන් වහන්සේ, මුගලන් මහ තෙරුන් වහන්සේ, මහා කාශ්‍යප තෙරුන් වහන්සේ, රාහුල මහ තෙරුන් වහන්සේ, බක්කුල මහ තෙරුන් වහන්සේ, ලකුණ්ඨකබද්දිය මහ තෙරුන් වහන්සේ, මහා කච්චායනගොත්ත තෙරුන් වහන්සේ, මහා කොට්ඨිත තෙරුන් වහන්සේ... ආදී පරම්පරාවෙන් ආ, අපේ කාලයේ අපි දැකපු මහ තෙරුන් වහන්සේ නමක් වන වහරක අභයරතනාලංකාර තෙරුන් වහන්සේ ඇතුළු තුන් කාලික සියලුම මහා සංඝයා වහන්සේලාගේ ඒ අපරිමිත ගුණ කඳ පිදීමටත් මේ ගාථා යුගලය මහා අත්වැලක් වේවි. ඒ නිසා සියලු දෙනාම මේ ගාථා රත්නයන්ගෙන් යහපත උදා කර ගනිත්වා!

<u>ඉහත සිද්ධියට අදාළව මාරයා පැරදූ පළමු ගාථාව</u> :

**නිට්ඨංගතෝ අසන්තාසී**
**වීතතණ්හෝ අනංගණෝ**
**අච්ඡින්දි භවසල්ලානි**
**අන්තිමෝයං සමුස්සයෝ**

(ධම්ම පදය - තණ්හා වග්ගය)

යමෙක් සංසාරයේ කෙළවරට සපැමිණියේද, නිශ්ඨාවට පත් වූයේද, ජීවිත ආසාව නැති බැවින් තැති ගැනීම් නැත්තේද, (අසන්තාසි - සන්ත්‍රාසයක් හෙවත් තැති ගැනීම් නැත්තේද), පහ කළ තණ්හා ඇත්තේද (වීත තණ්හෝ), රාගාදී කෙළෙස් නැත්තේද (අනංගණ - අනංග කියන්නෙ කාම දෙවියා. ඒ අනුව කාමාදී කෙළෙස් ගති "ණ" හෙවත් දුරු කළ, ඒ වගේම අංග ගුලි කරගෙන ලෝකයා එක්ක සටන් නොකරන නිසා අනංගණ කියනවා), කර්ම සහ උප්පත්ති භවයට හේතු වන රාග, ද්වේශ, මෝහ උල් (භවස්සලානි - සල්ල කියන්නෙ උල), ඉතිරි නැතිවම උදුරා දැම්මේද (අච්ඡින්දති), මේ ඒ උත්තමයාගේ අන්තිම උපතයි (අන්තිමෝයං), මැන මැන මතු උපතකට හේතු වන රාගාදී "සං" උස්ස ගැනීම (සමුස්සයෝ) කරන්නෙ නෑ. ඒ අනුව නැවතත් තුන් භවයටම හේතු වන මතු උපතකට යාම කරන්නෙ නෑ. මොකද මේ අන්තිම ශරීරය නිසා. ඒ නිසා ඇත් වේශයෙන් ආ මාරයා සමගවත් ගැටෙන්න යන්න ඒ අරිහත් උත්තමයාට අවශ්‍ය නෑ.

(ඒ අනුව අන්තිමෝයං සමුස්සයෝ යන්න සජ්ජායනය කරනකොට අන්තිම දේහධාරී යන අදහස ගන්න)

<u>ඉහත සිද්ධියට අදාළව මාරයා පැරදූ දෙවෙනි ගාථාව</u> :

**වීතතණ්හෝ අනාදානෝ**
**නිරුත්තිපද කෝවිදෝ**
**අක්ඛරානං සන්නිපාතං**
**ජඤ්ඤා පුබ්බපරානි ච**
**ස වේ අන්තිම සාරීරෝ**
**මහාපඤ්ඤො මහාපුරිසෝති**
**වුච්චති**

(ධම්ම පදය - තණ්හා වග්ගය)

යමෙක් තණ්හාව මුළුමනින්ම දුරු කර ඇත්තේද, උපාදාන දුරු කර ඇත්තේද, අත්ථ, ධම්ම, නිරුක්ති, පටිභාන යන සිව්පිළිසිඹියා ඥාන පද (නිරුක්ති පද) පිළිබඳ විනිවිද යන (කෝවිදෝ) ඥානවලින් යුතු වේද, දහම් වචන පදවල අකුරු යෙදෙන / යෙදිය යුතු ප්‍රකාරයන් මැනවින් දන්නා (අක්ඛරානං සන්නිපාතං) වචන එසේ යෙදෙන / යෙදිය යුතු ප්‍රකාරයන් අනුව ඒවායේ මුල, මැද, අග අකුරු තිබිය යුතු ආකාර මැනවින් දන්නා, අන්තිම මස් ලේ සහිත ශරීරය දරන / අන්තිම දේහධාරී (ස වේ අන්තිම සාරීරෝ) ඒ උත්තමයා මහා ප්‍රාඥයෙකි, මහා පුරුසයෙකි.

නිවනම නාථයි නිවනම වෙත්වා!

**සටහන**
**අමිල සල්ගාදු**
**පක්ෂි සහ ස්වභාවික විද්‍යා සංචාරක**
**මාර්ගෝපදේශක**
**0777 591155**



# මෙලොව පරලොව නිවන යන තුන් අභිවෘද්ධියටම මං පාදන නිවැරදි බෝධි පූජාවකට උපදෙස්...

**02 කොටස**

අනන්ත සසර සැරිසැරූ ලෝ සතුන්ට මේ වෙනකොට ඇත්තාවූ මාරක අපල උපද්‍රව දෝසාන්ධකාර ගෙවා හරිමින් සාසන රැකවරණය, ආශිර්වාදය ලැබෙන ආකාරයට මෙලොව පරලොව අභිවෘද්ධියත්, අවසානයේ උතුම් නිවනත් සාක්ෂාත් කර ගැනීම උදෙසා පවත්වන නිවැරදි බෝධි පූජාවකට මග පෙන්වන ලිපි මාලාවේ දෙවන කොටස තමයි මේ ඉදිරිපත් කරන්නෙ. විශේෂයෙන් මේ වෙනකොට සැඟව ගිය කාරණාත් සමගින් ඉදිරිපත් කරන මේ ක්‍රමවේද, බෝධි පූජාවකින් වඩාත් සාර්ථක ප්‍රතිඵල ලබා ගන්න බොහොම වටිනවා.

ඒ වගේම මේ විදිහට අංග සම්පූර්ණව සුවිශේෂයෙන් පවත්වන්නට යෙදුන මහා බෝධි පූජාවක් ගැනත් පින්වතුන්ගේ දැනගැනීම පිණිස මතක් කරනවා. ඒ තමයි වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් 2007 ජූනි මස 4 වන දින පොල්ගහවෙල ගිජිදාගම ශෛල පබ්බතාරාමයේදී පවත්වන්නට යෙදුන මහා බෝධි පූජාව ඇතුළු අටවිසි බුද්ධ බෝධි සෙත් ශාන්තිය. උන්වහන්සේ විසින් පැවැත්වූ සියයකට ආසන්න මහා බෝධි පූජා අතරින් අවසාන මහා බෝධි පූජාව තමයි ඒ. රාත්‍රී 9.00 පටන් පසුදා අළුයම 3.00 දක්වා පුරා පැය 6 කට ආසන්න කාලයක් ලොව අති දුර්ලභ වූ පටිභාන කවීත්වය උපයෝගී කරගෙන සමවතින් සිදු කළ ඒ මහා බෝධි පූජාවට එදා දහස් ගණන් ජනතාව සහභාගි වුනා. එහිදී උන්වහන්සේ තමන් වහන්සේගේ අධ්‍යාත්මික ශක්තියෙන් ඒ බෝධි පූජාව බලගන්වපු ක්‍රමවේදයක් තියෙනවා.

සිදුහත් බෝසතාණන් වහන්සේ බුදු පියාණන් වහන්සේලාගෙන් නියත විවරණ ගන්න අවස්ථාවෙදි විශ්වයට නැගුන ශක්තිය අදටත් තියෙනවා. ඒ ශක්තිය ජය ශ්‍රී මහා බෝධින් වහන්සේට සම්බන්ධ කරල, ජය ශ්‍රී මහා බෝධින් වහන්සේගෙන් මනෝමය කිරණ රැනක් (හුයක්) ඇදල, බෝධි පූජාව පවත්වන ස්ථානයේ බෝධින් වහන්සේට සම්බන්ධ කරනවා. ඊට පස්සෙ ජය ශ්‍රී මහා බෝධින් වහන්සේට සම්බන්ධ කළ ශක්තිය කිරණ රැන හරහා මේ බෝධි පූජාව පවත්වන ස්ථානයේ බෝධින් වහන්සේට ඇද ගන්නවා. ඒ අනුව ජය ශ්‍රී මහා බෝධින් වහන්සේගේ මුල්, කඳ, පොතු, දළු, බෝපත්... ආදියෙන් නැගෙන ඒ අප්‍රමාණ ශක්තිය ඒ බෝධි පූජාව පවත්වන ස්ථානයේ තියෙන බෝධින් වහන්සේගේ මුල්, කඳ, පොතු, දළු, බෝපත්... ආදියට මහා අධිෂ්ඨානයකින් ඇදගෙන, ඒ බෝධින් වහන්සේගේ උතුරු පැත්තට ගිය අත්තකට නව පොටකින් යුත් පිරිත් නූලක් සම්බන්ධ කරල ඒ පිරිත් නූල එකට තියපු ඉරටු 3 ක් හරහා සෙත් පැන් බඳුනට සම්බන්ධ කරල ඒ හරහා නූල් පොට අතට අරගෙන, එහෙම නැත්නම් වටාපතේ ඔතාගෙන තමයි බෝධි පූජාව මෙහෙය වනනෙ. ඒ හරහා ඒ ශක්තිය ජලයට ගැබ් කරල සෙත් පැන් බවට පත් කරල තමයි ඒ සහභාගි වෙච්ච පින්වත් පිරිසට බෙදා දෙන්නෙ. මීට අවුරුදු 23 කට පෙර පැවැත් වූ බෝධි පූජාවල සෙත් පැන් පවා තවමත් සමහර පින්වතුන් ළඟ සුරක්ෂිතව තියෙනවා. මේ සම්බන්ධයෙන් තවත් වැදගත් කරුණු රැසක් හෙළ බොදු පියුම 50 වන කලාපයේ "අභයරතනාලංකාරය" යටතේ පළ කරල තියෙනවා.

මේ තියෙන්නෙ ඒ බෝධි පූජාවෙන් ශක්තිය අදින ආකාරය ගැන එදා උන්වහන්සේට සමවතින් නැගිච්ච කවි කිහිපයක්.

ජය සිරි මහ බෝ පිය රජිඳුන්නේ  
අපමණ ගුණ අද මෙතැන අදින්නේ  
මේ බෝ රජිඳුට එම බල ගන්නේ  
ජය සිරි බෝ රජ සහ සසඳන්නේ

අනත ගුණැති ජය සිරි බෝ රජිඳුනි  
මුල් බල මේ බෝ රජිඳුට දෙවමිනි  
මුලට මුලක් සසඳා ගෙන තබමිනි  
බාර කරමි බෝ රජිඳුට මෙලෙසිනි

කඳට කඳක් සම කර සසඳන්නේ
බෝධි රජිඳු කඳ බල මෙහි ගන්නේ
මෙබඳු බෝධි රජිඳුට තබමින්නේ
බෝධි කඳක් අද මෙහි සකසන්නේ

පොතුවෙත ඇති බෝ බල මෙහි අදිනෙමි
මේ බෝ රජිඳුගෙ පොතු වෙත තබනෙමි
ජය සිරි බෝ බල බෝ රජ වෙත දෙමි
අසිරි ලබමු බෝ රජ මෙහි මවනෙමි

අහසින් අරගෙන රූහැනද බඳිනෙමි
ජය සිරි බෝ රජ මේ තැන නගනෙමි
බෝධි රජුට මේ හුය ගෙන දෙවනෙමි
කරුණා මෙත් සිතකින් සෙත පතනෙමි

අපමණ ගුණ මේ හුය වෙත දෙන්න
මහ පාරමි පිරූ බුදු රජිඳුන්න
බලෙන් නැගුව බෝ රජ පුදමින්න
මේ ආසිරි ගන්නෙමි සෙත වන්න

අසම සමයි මුනිඳුගෙ ගුණ කියනෙමි
අසම සමයි පාරමි බල දකිනෙමි
අසම ගුණෙන් බෝ රජිඳුට අදිනෙමි
මෙහුයෙන්ගෙනමෙදියටසෙතදෙවනෙමි

අපමණ සක්වළ මේ සෙත යාවා
අපමණ සැම සත වෙත විහිදේවා
අපමණ සෙත් ආසිරි හිමි වේවා
සැම සත නිදුකින් නිවන් ලබාවා

මෙහුයෙන් මෙදියත තෙලටද එලෙසින
බෙහෙතට හේතට සැමටද විහිදන
දීපංකර මහ බුදු සෙත අරගෙන
තබමි දියට බෙහෙතට සැමටද ගෙන

එම බුදු බල බෝ සතුනා
බලය සමග ගෙන ඉතිනා
මෙදියට ගන්නෙමි සොඳිනා
ජය සිරි බෝ රජිඳු දැනා

මහ බෝ රජිඳුගෙ බල ගෙන
මේ බෝ රජිඳුට අදිමින
මෙහුයෙන් මෙදියට අරගෙන
පතුරමි සැමටම සෙත ගෙන

දෙතිස් මහා ගුණ තිබෙනා
විලසින් පුරිසැති ලකුණා
අරගෙන එම විලස මනා
මවා තබමි සැම ලෙසිනා

ඒ වගේම බුදුන් වහන්සේගේ දෙතිස් මහා පුරිස ලක්ෂණ පටිභාන කවිවලින්ම මනෝමය වශයෙන් මවමින්, අටවිසි බුදු පියාණන් වහන්සේලා පිට දුන් බෝධින් වහන්සේලාත්, ඒ බුදු පියාණන් වහන්සේලාත්, අප මහ බෝසතාණන් වහන්සේ විවරණ ගත් අවස්ථාත් සිහිපත් කරමින්, සියලු අණවින කොඩිවින බන්ධන පිපිරිලා, මාරක අපල උපද්‍රව දෝසාන්ධකාර දුරු වෙලා මනුස්ස, අමනුස්ස ඇතුළු දෙවි බඹුන්ටත්, දස දහසක් සක්වළටත් අනන්ත සක්වළටත් ශාන්තිය විහිදිලා පැතිරිලා යන්න අධිෂ්ඨාන කරල පවත්වපු ඒ බෝධි පූජාව අද්විතීයයි.

බෝධි පූජාවක් පැවැත්වීමේ පරමාර්ථය පුළුල් පරාසයක් දක්වා ව්‍යාප්ත වෙන විදිහට තමයි උන්වහන්සේ ඒ මහා බෝධි පූජාවන් සිද්ධ කළේ. ඒ වගේම ඒ නැගිච්ච පටිභාන කවිවලින් ප්‍රඥාවන්තයින් සඳහා බුදු දහමේ හරය පෙන්වන ත්‍රිලක්ෂණය, හේතු ඵල දහම, චතුරාර්ය සත්‍යය වගේ ගැඹුරු දහම් කරුණුත්, ඒ වගේම සාමාන්‍ය ජනතාවට මූලික ශ්‍රද්ධාව, සමාධිය වඩාගන්න හේතු වන අරුත්බර දහමකුත් තමයි කියවුනේ. අනන්ත වූ තෙරුවන් ගුණ උදෙසා භෞතික වශයෙන් වගේම මනෝමය වශයෙන් මවපු සිසිල් පැන්, අෂ්ට පාන, සුවඳ දුම්, මල්, පහන්, දැහැත්, ඖෂධ, කොඩි, සේසත්, වට තිර, උඩු වියන්... ආදී පූජාවන්ගෙන් සම්පූර්ණ ඒ බෝධි පූජාවේ තෙරුවන් ගුණ, විදර්ශනා සහ අවසානයේ මහා පුණ්‍යානුමෝදනාවකුත් අන්තර්ගතයි.

ඉතින් ඒ මහා ශාන්තිය ගමට, රටට, ලෝකයට විතරක් නෙවෙයි දස දහසක් සක්වළටම අනන්ත සක්වළටම විහිදෙන්න පැතිරෙන්න කියල අධිවේගවත් සමවත් කවි මාලාවකින් තමයි නැගුනෙ. ඒ වගේ අති දුර්ලභ මහා බෝධි පූජාවක් අද වෙනකොට සජීවීව දැක බලාගන්න අවස්ථාවක් නැතත්, එදා කළ ඒ අවසන් මහා බෝධි පූජාවේ පටිගත කළ දේශනාව "ලොව අති දුර්ලභ වූ පටිභාන කාව්‍යමය බෝධි පූජාව හා අටවිසි බුද්ධ බෝධි සෙත් ශාන්තිය" නමින් අන්තර්ජාලයට ඇතුලත් කරල තියෙනවා. අන්තර්ජාලයේ "පටිභාන බෝධි" යනුවෙන් පිරික්සීමෙන් හෝ www.waharaka.com වෙබ් අඩවියෙන් ඒ බෝධි පූජා මාලාව බාගත කරන්න පුළුවන්. ඒ වගේම වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයෙන් සංයුක්ත තැටියක් ආකාරයෙන් ලබා ගන්නත් පුළුවන්. උන්වහන්සේ ගිහි වතක සිටියදී සිද්ධ කළ ඒ වගේ තවත් මහා බෝධි පූජා කිහිපයක් සංයුක්ත තැටි ආකාරයෙන් ඉදිරියේදී පින්වතුන් අතට පත් කරන්න බලාපොරොත්තු වෙනවා.

ඉතින් ඒ වගේ මහා බෝධි පූජාවක් සියලු රැකවරණ ලැබෙන විදිහට අඩුවක් නැතිව සිද්ධ කරන්න නම් සසරේ පුරපු පාරමිතා බලයක්, අධ්‍යාත්මික ශක්තියක් තියෙන්න ඕන. වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ සසරේ පුරාගෙන ආපු ඒ පාරමිතා බලයෙන් නැගුනු අධ්‍යාත්මික ශක්තියෙන් තමයි ඒ වගේ මහා සෙතක් ශාන්තියක් ලෝකයට දුන්නෙ. නමුත් මේ වෙනකොටත් ඒ බණ දහම් අහල සමාධි වඩාගෙන යන උත්තමයන් වහන්සේලා ඉන්න නිසා, යම් කිසි ආකාරයකින් තම තමන්ට පුළුවන් ආකාරයට ඒ ශක්තිය නගන ආකාරය ගැන දැනුමක් අවබෝධයක් ලබාගෙන ලෝක සත්ත්වයාට සහනයක් සලසල දෙන්න ඒ මහා බෝධි පූජා ක්‍රමය වර්තමාන සහ පශ්චිම ජනයාටත් බොහොම ප්‍රයෝජනවත් වේවි.

ඒ වගේම සාමාන්‍යයෙන් බෝධි පූජාවක් කරනකොට මෙතෙක් උඩින් මත්තෙන් අනුගමනය කළ ක්‍රම රටාවට වඩා අර්ථාන්විතව ප්‍රතිඵල ලැබෙන විදිහට යොදාගන්න පුළුවන් තවත් ක්‍රමවේද කිහිපයක් පහතින් සටහන් කරනවා.

බෝධි පූජාවට පැන් කලයක් පෙරා ගන්නකොටත් අනුගමනය කරන්න පුළුවන් වඩා විධිමත් ක්‍රමවේද තියෙනවා. **පැන් කලය විතරක් නෙවෙයි, බෝධි පූජාවකට තියන වෙනත් ඕනම දෙයක් වුනත් තමන්ගෙ ගෙදර දොර වත්ත පිටියෙන් භූමියෙන් ලබාගන්න පුළුවන් නම් වඩා හොඳයි.** මොකද එතකොට ඒවාට පෙර උරුමකම් කියපු අයත් අද අනුමෝදන් වෙන්න පුළුවන් තැනක ඉන්නව නම්, අපි හදපු කියපු බලා හදාගත්තු ඒවායින් සාසනයට පූජා කරනවා කියල ඒ අයත් සන්තෝස වෙනවා. ඒ අයටත් ඒ පින විහිදෙනවා. ඒ වගේම ඒ අයගේ ආශිර්වාදයත් ලැබෙනවා. භූමි දෝස තියේ නම් ඒවා ඉවත් වෙන්නත් හේතු වෙනවා. පොල් ගෙඩියක් හරි කමක් නෑ, තමන්ගෙ වත්ත පිටියෙන් කඩාගෙන තෙල් ටික මිරිකල පහනක් පත්තු කරන්න ගන්න පුළුවන් නම් ඒක විශේෂයි. තමන්ට ගෙදර දොරෙන් වත්ත පිටියෙන් සපයා ගන්න බැරිම දෙයක් තිබුනොත් තමයි වෙළඳසැලෙන් ගන්න ඕන. ඒ වගේම තමන් වවා හදාගත්ත දේකින් ගන්නව නම් කොහොමත් තමන්ගෙ ශ්‍රම කඳුලින් දායක වුනා වෙනවා. එතකොට තමන්ගෙ ඥාති පරම්පරාවටම ඒ

පුණ්‍ය කර්මයට ලේසියෙන් සම්බන්ධ වෙලා අනුමෝදන් වෙන්න අවස්ථාව ලැබෙනවා.

ඉතින් ගමක නම් ළිං තියෙන නිසා ළිඳෙන් පැන් කලයක් ගන්න පුළුවන්. හැබැයි නගරබද නම් ජල කරාම තියෙන නිසා ඒවායින් තමයි ගන්න වෙන්නෙ. තමන්ට අවස්ථාව යෙදිල තියෙන ඒ කොයි විදිහට වුනත් කමක් නෑ, පුළුවන් තරම් පිරිසිදු පැන් කලයක් තමයි ගන්න ඕන. ඒ කියන්නෙ පිටින් බැලු බැල්මටම සුද්ධ පවිත්‍රයි කියන එක විතරක් නෙවෙයි, අභ්‍යන්තරයෙනුත් සුද්ධ පවිත්‍ර වෙච්ච තරමට ඒ පැන්වලට ගැබ් වෙන ශක්තිය වැඩියි. අන්න ඒ විදිහට ළිඳෙන් හෝ කරාමයෙන් හෝ ගන්න පැන් කලයක් සුද්ධ කරගන්නත් ක්‍රමවේද තියෙනවා. කිසිම කතා බහක් නොකර බාහිර සද්දබද්ද අඩු වෙලාවක ඒ පැන් කලය ගන්න පුළුවන් නම් වඩා හොඳයි. ඒ කියන්නෙ ඒ වෙලාවෙ නිකන් වල්පල් කතා නොකර ඒ කෙරෙහිම අවධානය යොමු කරන්න ඕන. ප්‍රසාද සිතින් තෙරුවන් ගුණ, බෝධි ගුණ සිහි කරන එක තමයි වඩා හොඳ. ඒ වගේම පාන්දර කපුටන් අඬන්න පෙර පැන් කලය ගන්න පුළුවන් නම් තවත් හොඳයි. මොකද කපුට කියන සතා උදේට කෑ ගහනව නෙවෙයි, බඩගින්නෙ මර ලතෝනියක්, අඳෝනාවක් තමයි නගන්නෙ. ඒක විසයි. ඒ නිසා ඒ වෙලාවත් මගඅරින්න පුළුවන් නම් වඩා හොඳයි. මොකද බුද්ධ බෝධි ශක්තිය පැන් කලයට හොඳින් ඇදගන්න නම් සුද්ධ වෙන්න ඕන. අර බාහිර ශබ්දවලින් දූෂිත වුනොත් ඒකට බාධයි.

ඒ වගේම නොඉඳුල් පැන් කලයක් ගන්න තවත් ක්‍රමයක් තියෙනවා. සාමාන්‍යයෙන් තමන්ගෙ වත්තෙ පිටියෙ තෙතමනය තියෙන තැනකින් හැන්දෑවට පුංචි වළක් (පුහු ළිඳක්) කැපුව නම් පැය කිහිපයක් යනකොට ඒකෙ වතුර පිරෙනවා. අන්න ඒකෙන් පැන් කලයක් ඊට පහුවදා උදේ පාන්දර කපුටන් අඬන්න පෙර ගත්ත නම් ඒක නොඉඳුල් පැන් කලයක් වෙනවා. හැබැයි මේ ක්‍රමය තෙත් කලාපයේ ගම්බදව තමයි පහසුවෙන් කරන්න පුළුවන් වෙන්නෙ.

ඉතින් ඔය විදිහට ගන්න පැන් කලයක් අර පසුගිය කලාපයෙන් සඳහන් කළ විදිහට 7 වතාවක් හෝ 9 වතාවක්, පිරිසිදු කපු රෙදි / කපු පුළුන් භාවිතා කරල පෙරාගෙන තවත් සුද්ධ ශක්තිය ගැබ් කරගන්න ක්‍රමයක් තියෙනවා. උදේ පැන් කලය අරගෙන එදාම රෑ 9 - 10 න් පස්සෙ පැන් කලයේ කට සුදු රෙදි කඩකින් ගැට ගහල පින්නට අහුවෙන්න එළිමහනේ ඉනට වඩා උසින් (පපු මට්ටමට උසින් නම් වඩා හොඳයි) සුදුසු තැනකින් පූජාවට ගැලපෙන විදිහට තැන්පත් කරල පහුවදා ඉර වැටෙන්න පෙර ගත්ත නම් අර පින්නත් එක්ක එන විශ්වයේ සුද්ධ ශක්තියත් ඕකට ගැබ් වෙනවා.

ඒ වගේම තමයි මේ පැන් කලයක් ඉස්සෙල්ලම ගන්නකොටත් අධිෂ්ඨාන කරලයි ගන්න ඕන. මේ පැන් කලය ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේ සිහි කරල අභවල් බෝධීන් වහන්සේට පූජා කරනවා කියල අධිෂ්ඨානයක් ඇති කරගන්න ඕන. එතකොට ඒක වෙන් කරපු පැන් කලයක් වෙනවා. වෙන කාටවත් අමනුස්සයෙකුටවත් අතගහන්න බැරිව යනවා, වෙනම මානසික වශයෙන් ඒ හරහා ශක්තියක් හට ගන්නවා. ඒක බුද්ධ සාසනයට වෙන් කරලයි තියෙන්නෙ. ඉතින් පාන්දර පැන් කලයක් අරගෙන පෙරාගෙන මේ විදිහට රෑට පින්නෙ තියල පහුවදා අරගෙන බෝධි පූජාව කරන්න ගන්නත් පුළුවන්.

ඒ වගේම ඒ පැන් කලය තවත් සුද්ධ කරගන්න අවශ්‍ය නම් වෙනම ගාථාත් තියෙනවා. "යං දුං නිමිත්තං අවමංගලංච..." කියන ගාථාවෙන් 7 වරක් සෙත් කරගත්ත නම් තවත් සුද්ධයි. බාහිර සද්දවලින් එන අසුද්ධබාවය තමයි ඒකෙන් සුද්ධ වෙන්නෙ. මේ සියල්ල කළාම බාහිරව කාටවත් ඒක ජරා කරන්න බෑ. හැබැයි ඉතින් මේ ක්‍රම සියල්ලම ඒ විදිහටම අනුගමනය කරන්න කියනව නෙවෙයි, තම තමන්ට ඉඩ ලැබෙන විදිහට පුළුවන් තරම් ඒ ක්‍රම අනුගමනය කරන්න පුළුවන් නම් වඩා හොඳයි. නැත්නම් මේ ක්‍රම ඔක්කොම නැතිව 1 - 2 ක් අනුගමනය කළත් ගැටළුවක් නෑ. ඒ වගේම තමයි තමන්ගෙ පුද්ගලික පරිහරණයට පැන් කලයක් සෙත් කරගන්න අවශ්‍ය නම් ඒ සඳහා චේතනා පිහිටුවල ඒකට වෙනම පැන් කලයක් ඉහත කිව්ව ක්‍රමවේදවලට අනුව පෙරා ගන්න ඕන.

ඒ වගේම තමයි **තමන්ට පුද්ගලිකව ලෙඩ රෝග කරදර බාධක දුරුවෙන්න, කෘෂිකර්මාන්තයට ගෙවතු වගාවලට එළදාව ලැබෙන්න, කෘමි වසංගත රෝග නිවාරණයට, භූමි පාළු දුරු වෙන්න සෙත් පැන් කලයක් හදාගන්න ක්‍රමයක්** වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් හඳුන්වා දීල තියෙනවා. එතනදි බ්‍රහස්පතින්දා රෑ 12.00 න් පස්සෙ පාන්දර 3 - 4 ත් අතර, ඒ කියන්නෙ සිකුරාදාට එළි වෙන්න කපුටන් අඬන්න පෙර තමන්ගෙ ගෙදර ළිඳෙන් (ළිඳක් නැත්නම් ජල කරාමයෙන්) වතුර කලයක් ගත්තම ඒක නැවුම් වතුර කලයක් වෙනවා. ඒක 7 වතාවක් පෙරල අරගෙන පසුගිය කලාපයෙන් පෙන්වා දුන්න ක්‍රමයට බෝධීන් වහන්සේ නමකගේ උතුරු පැත්තට ගිය අත්තකට සම්බන්ධ කරල, මා/අප හට ඇත්තා වූ ලෙඩ රෝග කරදර බාධක අපල උපද්‍රව දෝසාන්ධකාර දුරු වෙලා, වචා හදාගත්තු ගේ දොර ඉඩකඩම් භූමියට ගහකොළට ඇති අණවින කොඩිවින බන්ධන දුරු වෙලා ඒවා සශ්‍රීක වෙලා යහපතින් අභිවෘද්ධියෙන් යුතුව ජයග්‍රහණය අත්වේවා කියල අධිෂ්ඨාන කරල සෙත් කරගෙන ප්‍රයෝජනයට ගන්න පුළුවන් (මේ සම්බන්ධයෙන් 18 කලාපයේ පළ වූ, "අපේ ආදි පැරැන්නන් දහමට අනුව පෙරදිග ධාන්‍යාගාරය ගොඩනැගූ හැටි" ලිපියත් සම්බන්ධ කරගන්න). ඒ සෙත් පැන් අවුන්සයක් වතුර බෝතල් 6 ක් හෙවත් ගැලුම් 1 කට කලවම් කරල ඒ අනුපාතයෙන් වගා ආදී කටයුතුවලට ප්‍රයෝජනයට ගන්න පුළුවන්. හැබැයි ලෙඩ රෝග ආදියට බොන්න ගන්නව නම් එහෙම කලවම් කරන්නෙ නැතිවම ගන්න ඕන. මේ විදිහටම තමන්ට සෙත් කරගන්න අවශ්‍ය බෙහෙත්, සුවඳ දුම්, වැලි... ආදියත් මේසයක් වගේ ඉහල ස්ථානයක තියල සෙත් කරගන්න පුළුවන්. හැබැයි මේ කියන සුද්ධ ශක්තිය ඒ විදිහටම ගන්න නම් තමන් ඒ ගුණ ධර්ම තුල කටයුතු කරල ඒ ක්‍රමවේදයන් ඒ විදිහටම අනුගමනය කරල බෝධි පූජාව කරන්න ඕන. එතකොට තම තමන්ගෙ ගුණ වැඩිච්ච මට්ටමින් තමයි ඒ ශක්තිය ගැබ් වෙන්නෙ.

ඊළඟට පහන් පත්තු කරන්න පොල්තෙල් ගන්නකොටත් පිරිසිදු සුද්ධ පොල්තෙල් ගන්න ඕන. මොකද දැන් වෙළඳසැල්වල තියෙන හුගක් පොල්තෙල්වලට පාම් තෙල් කලවම් කරල විකුණනවා. එතකොට ජීවමක්, පිරිතක් කරනව නම් හරියට ශක්තිය ගැබ් වෙන්නෙ නෑ. ඉතින් පහන් පත්තු කරනකොටත් සුද්ධ පොල්තෙල් ගන්න පුළුවන් නම් වඩා හොඳයි. තමන්ගෙ වත්තෙ පිටියෙ තියෙන ගහකින් පොල් ගෙඩියක් දෙකක් කඩල තෙල් ටිකක් හිඳගෙන ඒකත් යොදා ගන්න පුළුවන් නම් තවත් හොඳයි.

පංචකාමයට ලොල් නොවූ (පහට ලොල් නොවූ) ශක්තිය තමයි පොල් තෙල්වල ගැබ් වෙලා තියෙන්නෙ. අන්න ඒ සුද්ධ ශක්තියෙන් බාහිර විස වර්ග ඇදල අරගෙන පුච්චල දානවා. ඒ වගේම තිරය සඳහා සුද්ධ කපු රෙදි යොදාගන්න පුළුවන් නම් වඩාත් හොඳයි.

හැබැයි කිසිම විටෙකත් සාසනය උදෙසා පහන් පත්තු කරන්න ගත්ත තෙල් නිකමටවත් හිස ගල්වන්න නොගත යුතුයි. මොකද ඒවා සාසනය වෙනුවෙන් කැප කරල ඉවරයි. ඒ නිසා පුද්ගලිකව තමන්ගෙ පරිහරණයට ගන්න සෙත් කරනව නම් ඒ වෙනුවෙන් වෙනම තෙල් බෝතලයක් වෙන් කර ගන්න ඕන. ඒ විදිහට පොල් තෙල් බෝතලයක් අරගෙන තමන්ම 108 වරක් බුදු ගුණෙන් සෙත් කරගත්ත නම් (13 කලාපයේ යන්ත්‍ර ජීවම් කිරීම ගැන සඳහන් කර ඇති ආකාරයට) ඒ පුද්ගලයගෙ ගුණ වැඩිච්ච මට්ටමට තෙලට ශක්තියක් ගැබ් වෙනවා. ඒ තෙල් තමන්ගෙ ගෙදර තියෙන දොස් යන්න පහන් පත්තු කරන්න, හිස ගල්වන්න යොදාගන්න පුළුවන්.

ඒ වගේම සම්බුද්ධ සාසනය උදෙසා පහන් පත්තු කරන්න තෙල් වත් කරනකොටත්, තිර දානකොටත්, පත්තු කරනකොටත්, වෙනත් බාහිර දේවල් හිතන්නෙ නැතිව අනන්ත ගුණ ඇති සම්බුද්ධ සාසනයට, නැත්නම් අවිදු අඳුර දුරු කළ බුදු පියාණන් වහන්සේලාගේ ප්‍රඥාලෝකයට මේ පහන් පූජා කරනවා කියන හැඟීමෙන් තමයි ඒ කටයුතු දිගටම කරන්න ඕන, එහෙම නැත්නම් තෙරුවන් ගුණ සිහි කරන්න ඕන. පහන් විතරක් නෙවෙයි අනෙක් පූජා භාණ්ඩත් එහෙමයි.

ඒ වගේම තමයි **සියලු මාර බල පැරදිලා ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේගේ ශක්තිය උපරිමයෙන්ම ක්‍රියාත්මක වුනේ මහ බෝසතාණන් වහන්සේ බුද්ධත්වයට පත් වුන මොහොතේ. මොකද චන්ද්‍ර සූර්යාටත් ආලෝක කරන්න බැරි වෙච්ච ලෝකාන්තරික නරකයේ පවා ඝන අඳුර මොහොතකට දුරු වෙලා ආලෝකමත් වුනේ බෝ මැඩදී ඒ නැගුන බුද්ධ ශක්තියෙන්. අන්න ඒ මොහොත බෝධීන් වහන්සේ අභියසදී සිහි කළා නම් තමන්ගෙ අවබෝධය, සීල ගුණය ආදී ගුණයන්ට අනුරූපව ශක්තියක් නැගිල එනවා.** ඒ නිසා තමන්ට පුළුවන් විදිහට ලොව්තුරා බුදුන් වහන්සේ බෝ මැඩදී බුදු වුන මොහොත සිහි කරන්න පුළුවන් නම් මහා ශක්තියක් නැගෙනවා.

ඒ වගේම බෝධීන් වහන්සේට කිරිපිඩු පූජා, කිරිපැණි පූජා කරනව නම් (දවල් 12.00 ට පෙර) ඒවායේ ආනිසංසත් දැන ගැනීම වැදගත්. **කිරිපිඩු පූජාවෙන් ශරීරවල හිසේ පටන් දෙපතුල දක්වා තියෙන දැවෙන තැවෙන ගති (අම්ල පිත්ත ප්‍රදාහය, රක්තය, අධික ආවේගය...) / රෝග තියේ නම් ඒවා දුරුවෙන්න හේතු වෙනවා.** කිරිපිඩු දානය සකස් කරල ඊට උඩින් එළගිතෙල් පොඩ්ඩක් කලවම් කරන්න පුළුවන් නම් වඩාත් හොඳයි. මොකද එළගිතෙල්වලින් සිසිල් ගුණය වඩවනවා.

ඒ වගේම **කිරිපැණි පූජාවෙන් අසමගිය, සැකය දුරු කරනවා. කිරිපැණි වගේ කියල කතාවට කියන්නෙත් බොහොම යාළුකමින් හිතවත්කමින් ඉන්නකොට. පටිච්ච සමුප්පන්නව එහෙම දෙයක් ලෝකයට බිහි වෙලා තියන්නෙත් මනුස්සයින්ගෙ පෙර තිබිච්ච කිරිපැණි වගේ ඒ හිතවත්කම් ගිලිහිලා ගිහින් ඒ ශක්තිය මුල් කරගෙන. ඒ නිසා සාසනය උදෙසා කිරිපැණි පූජා කිරීමෙන් පවුල්වල අසමගිකම්, එකිනෙකා අතර සැක සංකා, නුරුස්නා ගති දුරු වෙන්න හේතු වෙනවා.**

ඊළඟට බෝධීන් වහන්සේට වැටකෙයිය මලක් පූජා කරන්න පුළුවන් නම් තවත් හොඳයි. නක්ෂත්‍රයේ නම් තියෙන්නෙ රාහු අපල දුරු වෙන්න වැටකෙයිය මලක් පූජා කරන්න කියල. ඒකෙ වැරැද්දක් නෑ. නමුත් ඊට වඩා එහා ගිය හේතුවකුත් තියෙනවා. වැටකෙයිය හැදෙන්නෙ කරදිය, ලවණ ආශ්‍රිතව. එතකොට අනෙක් මල්වල නැති විශේෂ ශක්තියක් වැටකෙයිය මල්වල ගැබ් වෙනවා. ලවණ හැදිල තියෙන්නෙ පෙර මනුස්සයාගෙ ළය වණ නොවන සුද්ධ ශක්තිය විශ්වයට පිට වෙලා ගිහින්. ළය කිව්වෙ හදවත. හදවත වණ වෙනව කියන්නෙ නපුරු කෙලෙස්වලින් බර වුනා කියන එක. සාමාන්‍ය ව්‍යවහාරයේ, කෙනෙක්ගෙ පපුව හොඳ නෑ කියල කියන්නෙත් ඒ අදහසින් තමයි. එතකොට පොළවේ ශක්තියට අමතරව ළය වණ නොවන සුද්ධ ශක්තියත් වැටකෙයිය මල්වල ගැබ් වෙනවා. ඒක බෝධියට පූජා කළාම හදවත, පෙණහැල්ල, බඩවැල් ආශ්‍රිත කර්මජ රෝග සුව වෙන්න, බෙහෙත් ප්‍රත්‍ය වෙන්න විශේෂයෙන් හේතු වෙනවා. ඒ නිසා ඒ ජාතියේ රෝගින් වැටකෙයිය මලක් බෝධීන් වහන්සේට පූජා කිරීමෙන් ඒ රෝග සුවයට යම් කිසි ප්‍රත්‍ය වීමක් ලබා ගන්න පුළුවන්.

ඒ වගේම ඖෂධ වට්ටියක් හදල ඒකට තවත් අමතර ඖෂධයක් වශයෙන් පොල් කටුවක් හොඳට හෝදල සුද්ද පවිත්‍ර කරල හොඳට ඔප දමල ලුණු ටිකක් දාල, ලුණු පොල්කටුව බුලත් කොළයක් උඩ තියල ඖෂධ වට්ටියේ තැන්පත් කරල ඒ ඖෂධ වට්ටිය බෝධීන් වහන්සේට පූජා කිරීමෙන් හෘදයාබාධ සහිත රෝගීන්ට සුවය ලැබෙන්න හේතු යෙදෙනවා. මොකද එතකොට පෙර තිබිච්ච පහට ලොල් නොවූ ගතියයි, ළය වණ නොවූ ගතියයි දෙකේ සුද්ධ ශක්තිය එකතු වෙනවා. එදා ගැමි ගෙදර ලුණු පොල් කටුවක දැම්මෙත් ඔය හේතුව නිසා.

ඒ වගේම තමයි අවසානයට කරන පුණ්‍යානුමෝදනාව ගැනත් මීට පෙර සඟරාවලින් දැනුවත් කරල තියෙනවා. එතනදි සම්දිටු සුගති අත්බැව්වල ඉන්න සත්ත්වයින්ට මේ පුණ්‍ය ශක්තිය ගලා යාවා විහිදේවා පැතිරේවා පිහිටාවා කියල කියන්න පුළුවන්. මොකද සම්මා දිට්ඨියේ (ලෞකික හෝ ලෝකෝත්තර) ඉන්න නිසා වැරදියට අදහස් ගන්නෙ නෑ. ඊට පස්සෙ මිත්‍යා දෘෂ්ටිකයන්ට වෙනම අනුමෝදන් කරන්න ඕන. හැබැයි මිත්‍යා දෘෂ්ටිකයන්ට මිත්‍යා දෘෂ්ටිකයො කියල ඒ වචනය පාවිච්චි කිරීම සුදුසු නෑ. මොකද කිසිම කෙනෙක් කැමති නෑ තමන්ට මිත්‍යා දෘෂ්ටිකයෙක් කියල කියනවට. එතකොට සට්ටනයක් ඇති වෙනවා. ඒ නිසා ඒ මියගිය අය අතරින් සම්දිටු ගුණ ඇති අය හැර ඉතිරි සෑම සියලු සත්ත්වයෝම දස අකුසලයෙන් මිදිල දස පුණ්‍ය ක්‍රියාවල නිරත වෙලා සත්පුරුෂයන් මුණගැහිල සද්ධර්මය ශ්‍රවණයට හේතු සැකසේවා සම්දිටු ගුණ පහල කරාවා කියල සුදුසු විදිහට අනුමෝදන් කළ යුතුයි. හැබැයි ජීවත් වෙලා ඉන්න අයට නම් (රෝගියාට) මේ පුණ්‍ය ශක්තිය ගලා යාවා, විහිදේවා, පැතිරේවා, පිහිටාවා, ආයු, වර්ණ, සැප, බල, නුවණ ලැබේවා කියල කියන්න පුළුවන්.

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**


දුහුදු


කුඹුක්


දං


පේරතඹල

# වස විස ආහාරවලට එරෙහි විකල්ප 14

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ද්‍රව්‍ය පදාර්ථ ඥානයෙන් සහ බෙහෙත් සමාධියෙන් මතු කර දුන්න ඖෂධීය ගුණත් සමගින්, වස විස ආහාරවලට එරෙහිව භාවිතා කරන්න පුළුවන් තවත් ස්වභාවික දේශීය ආහාර වර්ග කිහිපයක් වර්තමාන සහ පශ්චිම ජනතාවගේ වටිනා මනුස්ස අත්බැව් ප්‍රයෝග විපත්තිවලට නොවැටී ආරක්ෂා කර ගැනීම සඳහා මෙවරත් සටහන් කරනවා.

**දුහුදු** - වියළි සහ තෙත් කලාපයේ බඩවැටි, පුරන් වෙච්ච ඉඩම් ආශ්‍රිතව දකින්න තියෙන කාෂ්ඨීය ශාකයක්. කර ගහට ඉතාමත් සමීපයි. හෙළ වෙදකමේදී මේ ගහේ පස් පංගුවම ඖෂධ වශයෙන් අරගෙන ඉන්නන්, ගල් තැලුම්, ශරීරයේ පිටට නෙරා එන ගැටිති, ගෙඩි, චර්ම රෝග, දද, කුෂ්ට... ආදිය සඳහා යොදා ගන්නවා. විශේෂයෙන් පිළිකා සඳහා අත්‍යවශ්‍ය ඖෂධයක්. තරමක් උෂ්ණාධික ආහාරයක්. ගැබිණි මව්වරුන් සහ දරු එල බලාපොරොත්තු වෙන මව්වරුන් කිසි විටෙකත් ආහාරයට නොගත යුතුයි. මොකද ගබ්සා වෙන්න ඉඩ තියෙන නිසා. ඒ කියන්නෙ, ශරීර අභ්‍යන්තරයේ තියෙන දෑ ඉවත් කිරීමේ දුහුදුවල තියෙන ශක්තිය නිසා කළලයක් වුනත් ඉවත් වෙන්න පුළුවන්.

**දුහුදු ආහාරයට ගැනීමෙන් ඉනා බන්ධන, කොඩිවින... ආදිය නිසා හට ගන්නා රෝගී තත්ත්වයන් දුරු වෙලා යනවා.** බහිස්‍රාවී පද්ධතිය සක්‍රිය කරනවා. මළබද්ධය දුරු කරනවා. සාමාන්‍ය පලා සම්බෝලයක් හෝ සාමාන්‍ය මැල්ලුමක් ආකාරයෙන් හෝ කොළ කැඳක් වශයෙන් හෝ සකස් කරල ආහාරයට ගන්න පුළුවන්. දුහුදු කොළ ටිකක් කඩාගෙන අව්වෙ තැම්බෙන්න දාල ලුණු දියේ පොගවල පිරිසිදු තෙලේ බැදගත්තම ඉතා රසවත් ආහාරයක්.

**කුඹුක්** - ඉස්සර නම් වැව් තාවුළුවල, වෙල් ඉවුරුවල, ළිං මායිමේ නිතර දකින්න ලැබිච්ච ශාකයක්. මොකද වතුර පිරිසිදු කිරීමේ සහ සිසිල් කිරීමේ ගුණය ඉතා ඉහලින් තිබිච්ච නිසා කුඹුක් පැළයක් දෙකක් හිටවන්න අපේ පැරැන්නො අමතක කළේ නෑ. ඒ නිසාම එදා හිටපු මිනිස්සුන්ට වතුරෙන් වස විස කැවුනෙත් නෑ. නමුත් පසුකාලීනව ඒවායේ වටිනාකම තේරුම් නොගැනීමෙන් ඉවක් බවක් නැතිව කුඹුක් ගස් කපන්න පටන් ගත්තා. තේරුම් නොගත්තත් අද වෙනකොට ඒකෙ අනිසි ප්‍රතිඵල බොහෝ දෙනාට අත්විඳින්න සිද්ධ වෙලා තියෙනවා.

වියළි කලාපයේ බහුල වශයෙන් දකින්න ලැබුනත් රට පුරා සියලු ප්‍රදේශවල ගංගා, ඇල දොල... ආදී දිය පාරවල් අසළත්, වැව් ආශ්‍රිතවත් පහසුවෙන් හොයා ගන්න පුළුවන් ඖෂධ ගබඩාවක්. කුඹුක් ගහේ පස් පංගුවම හෙළ වෙදකමේදී යොදා ගන්නවා. හෙළ වෙදකමේදී ශරීර අභ්‍යන්තරයේ රෝගී වෙච්ච පද්ධති යථා තත්ත්වයට පත් කිරීමට නැතිවම බැරි ඖෂධයක්.

කුඹුක්වල තියෙන ඖෂධීය ශක්තිය අම්ල පිත්ත ප්‍රදාහය, බඩ පපුව දැවිල්ල, නින්ද නොයාම, පිත් විසෙන් හට ගන්නා සියලු ආබාධ, නහර වේළුම, ඇඟ ඉදිමුම, කාන්තාවන්ට ඇතිවන ඇඟ උණු කරවා යෑම, තැලසීමියාව, හිරිවාත, හන්දි තද වීම, ගෙල වේදනාව, තුනටියේ සහ පාදවල ආබාධ, මදුමේහය... ආදී රෝග රාශියකට ප්‍රත්‍ය වෙනවා. ඒ වගේම රුධිර පීඩනය යථා තත්ත්වයට පත් කිරීමේ හැකියාවෙන් යුක්තයි. අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් බෙහෙත් සමාධියෙන් මතු කර දුන් කුඹුක් අරිෂ්ටය භාවිතා කිරීමෙන් ඉහත කී රෝගී ස්වභාවයන් සුව වෙන්න හේතු වෙනවා.

ඒ වගේම කුඹුක් දළු ආහාරයට එකතු කර ගැනීමෙනුත් ඉහත රෝග තත්ත්වයන් සමනය කරගන්න පුළුවන්. කුඹුක් දළුවල රතු පාටට තියෙන කොටස සාමාන්‍ය සම්බෝලයක්, මැල්ලුමක් හෝ පලා ව්‍යංජනයක් ආකාරයටත් ආහාරයට එකතු කරගන්න පුළුවන්. එහෙම නැත්නම් දළු, කොළ සාමාන්‍ය කොළ කැඳක් ආකාරයටත් සකස් කරල ආහාරයට ගන්න පුළුවන්.

**බැවිල** - ආලෝකය හොඳින් වැටෙන සියලු තැන්වල ස්වභාවිකව වැවෙන බෙහෙත් පැළෑටියක්. හෙළ වෙදකමේදී ගහ සහමුලින්ම යොදා ගත්තත් ආහාරය සඳහා කොළ විතරක් යොදා ගන්නවා. බැවිල, බැබිල, සුදු බැබිල කියල වර්ග 3 ක් තියෙනවා. කහ පාට මලක් පිපෙන, පොළවෙන් අඟල් 6 - 7 කට වැඩිය උස නොයන, වට්ටියක් ආකාරයෙන් හරහට වැඩෙන වටාපතක් ආකාරයට කුඩා කොළයක් තියෙන ශාකයක් තමයි බැවිල කියන්නෙ. අඩියක් දෙකක් විතර උසට තට්ටු ආකාරයට වැඩෙන සුදු මලක් හට ගන්නේ බැබිලවල. සුදු බැබිල කියන්නෙ අඩි 2 - 3 ක් උසට කෙළින්

වැඩෙන සුදු පාට මල් පිපෙන කොළය ටිකක් විසාල ශාකයක්. මේ වර්ග තුනම හෙළ වෙදකමේදී ඖෂධ වලට ගන්නවා.

තුන්දොස් සමනය කරනවා. විශේෂයෙන් වාතය කිපීම නිසා හට ගන්නා සියලු වේදනා, රෝග නසන ගුණයක් අන්තර්ගතයි. බඩ පුරවා දැමීම, බඩ දැවිල්ල, මස් පිඩු ඇතුලත වේදනාව සමනය කරනවා.

මේ වර්ග තුනේම කොළ සාමාන්‍ය දෙහි ඇඹුල් සම්බෝලයක්, කොළ මැල්ලුමක්, එහෙම නැත්නම් කැඳක් විදිහටත් සකස් කරල ආහාරයට ගන්න පුළුවන්.

**<u>එළ කටු කරඬු</u>** - හෙවණ තියෙන තැන්වල අඩි 2 - 3 ක් උසට වැඩෙන ශාකයක්. හෙළ වෙදකමේදී අස්ථි ආශ්‍රිත රෝග සඳහාත්, නිදන්ගත රෝග සඳහාත් බහුල වශයෙන් යොදා ගන්නවා. අද වෙළඳපොලේ බොහෝ කොටම අලෙවි කරන්න තියෙන එළවළු, පළතුරු, ධාන්‍ය ඇතුළු සියලු ආහාරයන්ගේ තියෙන විස රසායන ශරීරයේ යම් යම් පද්ධතිවලි තැන්පත් වීමෙන් ඒ පද්ධති අකර්මණ්‍ය වෙනවා. ඒකෙන් විවිධ බෝ නොවෙන රෝගාබාධ මතු වෙනවා. මේ විදිහට **ආහාර ඔස්සේ ශරීරයට එකතු වන වස විස ඉවත් කිරීමත් මේ කටු කරඬු ආහාරයට එකතු කර ගැනීමෙන් සිද්ධ වෙනවා.** මේ වෙනකොට ආහාරපාන ඔස්සේ විස ශරීරගත වීම බහුල වශයෙන් සිද්ධ වෙන නිසා සතියකට දෙතුන් වතාවක්වත් කටු කරඬු ආහාරයට එකතු කර ගැනීමෙන් ශරීරය තුල විස තැන්පත් වීම අවම කර ගන්න පුළුවන්.

ඒ වගේම අස්ථි පලාගෙන එන ගෙඩි, පිළිකා, ලියුකේමියාව, රතු රුධිරානු අඩු වීම වගේ රෝග ස්වභාවයන් මැඩ පැවැත්වීමේ හැකියාවක් කටු කරඬු ආහාරයට එකතු කර ගැනීමෙන් ලැබෙනවා. ඒ වගේම මළබද්ධය දුරු කිරීමේ ශක්තියෙන් යුක්තයි.

සාමාන්‍ය මැල්ලුමක්, එළවළු ව්‍යංජනයක් හෝ කැඳක් ආකාරයට සකස් කරල ආහාරයට ගන්න පුළුවන්. ඒ වගේම ගහ සහමුලින්ම වේළල කුඩු කරගෙන තේ වෙනුවට අතිරේක පානයක් වශයෙනුත් ගන්න පුළුවන්.

**<u>කූඹිඇඹිල්ල</u>** - ඕවිටි මායිම්වල, බඩවැටි ආශ්‍රිතව, පාළු ඉඩම්වල ස්වභාවිකව වැවෙන ශාකයක්. ඖෂධීය ගුණ ගත්තොත්, ක්ෂණිකවම ස්නායු උත්තේජනය කරනවා, ආහාර හොඳින් ජීර්ණය කරනවා, බහිස්‍රාවී පද්ධතිය සක්‍රිය කරනවා. ආමාශයේ සහ බඩවැලේ කාරම් බැඳිල ආහාර ජීර්ණයට අවශ්‍ය එන්සයිම ගලා නොඑනකොට නිතර නිතර ආහාර අජීර්ණ වීමෙන්, ගන්නා ආහාර සම්පූර්ණයෙන් ජීර්ණය නොවී මළ සමග පිටවෙනකොට, ඒ වගේම සමහර ආහාර අපත්‍ය වෙනකොට (උදා : රඹුටන්, මැංගුස්, දූරියන්... ආහාරයට ගැනීමෙන් ඇතිවන උෂ්ණ බිබිලි දැමීම, තක්කාලි වගේ උෂ්ණාධික ආහාර ගත් පසු ඇඟ කැසීම, පළු දැමීම...) **කූඹිඇඹිල්ල ගහේ පස් පංගුව මිට බැගින් අරගෙන වතුර බෝතල් එකහමාරක් එකතු කරල 1 දක්වා හිඳගෙන ඒ වතුර ටික පානය කිරීමෙන්** ඉහත ව්‍යාකූලතා වහා සමනය වෙනවා. තුන් දොස් වහා සමනය කරනවා. රක්ත උෂ්ණයටත් ඉතා ගුණදායකයි.

ළපටි දළු සම්බෝලයක්, පලා මැල්ලුමක් විදිහටත්, කොළ දළු සාමාන්‍ය කැඳක් ආකාරයටත් සකස් කරල ආහාරයට ගන්න පුළුවන්. ඒ වගේම කොළ ඇල් මැරෙන්න අව්වට දාල ලුණු දියේ පොඟවල පිරිසිදු තෙලේ බැදගන්නත් පුළුවන්.

**<u>දං</u>** - අපේ දේශීයත්වයත් එක්ක බැඳුන, පිටිසර ගම්බද සුන්දරත්වය විදහාපාන පළතුරු අතර දංවලට විශේෂ තැනක් හිමි වෙනවා. පළතුරක් වශයෙන් විතරක් ආහාරයට ගත්තත් හෙළ වෙදකමේදී දං ගහේ පස් පංගුවටම සුවිශේෂීය තැනක් හිමි වෙනවා. හැබැයි මේ කියන්නෙ මා දං, බලු දං... ආදී හැම දං වර්ගයක් ගැනම නෙවෙයි. ගම්වල හැදෙන සාමාන්‍ය දං ගැන. වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ මේ දං ගහේ තියෙන ඖෂධීය ගුණ බෙහෙත් සමාධියෙන් මතු කරගෙන හඳුන්වා දුන් බේත් වර්ග කිහිපයක්ම තියෙනවා. විශේෂයෙන් දං මල්වල සුවිශේෂීය ප්‍රතිශක්තිකාරක ගුණයක් අන්තර්ගතයි. ආමාශයේ බඩවැලේ අංගුලිකාවල යම් යම් රෝගී තත්ත්වවලදී ඒවායේ සිවි වේළීමට පටන් ගන්නවා. ඒ වගේ අවස්ථාවල දං මල් ආහාරයට එකතු කර ගැනීමෙන් හෝ තම්බා බීමෙන් ඒ සංකූලතා මග හරවා ගන්න පුළුවන්.

ඒ වගේම ශරීරයේ සියලු සෙම් ආශ්‍රිත රෝග වහා සමනය කරනවා. හිස මුල් කරගත් සියලු රෝගවලට ඉතාමත් ගුණදායකයි. තුවාල සුව කිරීමේ මහා ශක්තියක් තියෙනවා. **හෙළ වෙදකමේ ගුණ අට එකට ඉන්දූ බේත් අතර නෙල්ලි ළඟට තියෙන්නෙ දං.**

පෙර කාලයේ අද වගේ රෝහල් තිබුනෙ නෑ. ඒ නිසා දරුවන් වැදුවෙ ගෙවල්වල. ඒ සඳහා වන සියලු කටයුතු සිද්ධ කළේ ගමේ වෙද මහත්තය හෝ වින්නඹු මව විසින්. විළිරුදාව හැදුන බව දැනුම් දුන්නම වෙද මහත්තය හෝ වින්නඹු මව රෝගියා ළඟට යන්නෙ බඩවැටියකින් කඩා ගත්ත දං මල් මිටක් අරගෙන. විළිරුදාව තියෙන බඩදරු අම්මා ළඟට යන්න පෙර ගෙදර ඉන්න වැඩිහිටි තැනැත්තෙකුට දෙන්නෙ අර දං මල් මිට. ඒක අරගෙන වහාම කබලකට දාල කාල් ගාල කුඩු කරල හලල අර වෙද මහත්තයගෙ හෝ වින්නඹු මවගෙ අතට දෙනවා. මොකද දරුවා වැදුවට පස්සෙ පෙකණිවැල කපල ඒ ස්ථානයට අර දං මල් ටිකක් දාල තමයි වහන්නෙ. වැදෑමහ වැටුනට පස්සෙ මවටත් දං මල් කුඩු ටිකක් ඉහල පිඹිනවා. සියලු තුවාල එයින්ම සුව වෙනවා. ඒ හරහා කිසිම විසබීජයකට ඇතුල් වෙන්න ඉඩක් නෑ.

ඒ වගේම සියලු අලුත් තුවාල, කැපීම්, සීරීම් වහා සුව වෙනවා. තෙමුන කියල පැසවන්නෙත් නෑ. පෙර රජ කාලෙ තුවාල සුව කළේ දං ගහ මුල් කරගෙන හදන බේත්වලින්. කඩු, කිණිසි, හෙළි, තෝමර, ඊතල... ආදියෙන් යුද්ධවලදී තුවාල ලබපු සියලු දෙනා සුව කළෙත් හෙළ වෙදකමේ එන මේ වගේ ක්‍රමවලින්.

ඒ වගේම අම්ල පිත්ත ප්‍රදාහය නිසා හට ගන්නා ආමාශයේ සහ බඩවැල්වල තුවාල සුව කිරීමේ සුවිශේෂීය ශක්තියක් දංවල තියෙනවා. දං දළු සහ ගෙඩි ආහාරයට ගැනීමෙන් ඒ තුවාල ඉක්මනින් සුව කරගන්න පුළුවන්. තුන් දොස් සමනය වන නිසා වෙනත් රෝගී ස්වභාවයන් හට ගැනීමත් වළකනවා. ඒ වගේම දං ගෙඩි වැඩිපුර ආහාරයට ගැනීමෙන් උගුර බැරන්ඩි ගතියක් ඇතිවෙනවා. සමහරවිට කැස්සකුත් හට ගන්නවා. ලුණු ටිකක් එක්ක දං ගෙඩි ආහාරයට ගත්තම ඒ ගතිය මග හැරිල යනවා. ස්වාසනාලය තුල සෙම බැඳිල තියේ නම් ඒ සෙම වහාම උගුර කරා රැගෙන ඇවිත් පොඩි කැස්සකුත් හැදිල වහා ඉවත් කරනවා.

තෛරොයිඩ් ග්‍රන්ථියේ ක්‍රියාකාරීත්වය අකර්මණ්‍ය වීමෙන් හට ගන්නා වායු ගෙඩි ඇතිවීම වළක්වනවා. දං නිරන්තරයෙන් ආහාරයට එකතු කරගන්නව නම් ඒ රෝගී තත්ත්වය හට ගැනීමට තියෙන සම්භාවිතාව අඩු වෙනවා. උගුරේ සෙම බැඳිල ස්වර තන්ත්‍ර නිසි පරිදි ක්‍රියා කරන්නෙ නැත්නම් ඒ ස්වභාවයත් දුරු වෙලා යනවා.

ඒ වගේම දං හොඳ ස්නායු උත්තේජකයක් විදිහටත් ක්‍රියා කරනවා. සියලු ලේ නහර සහ ස්නායුවල යම් අක්‍රියතාවයක් ඇත්නම් ඒ ගති වහා මග හරවනවා. ආමාශයේ, අග්න්‍යාශයේ, වකුගඩු තුල ඇති සියලු අපද්‍රව්‍ය වහා බැහැර කරල ඒ පද්ධති සක්‍රියව පවත්වාගෙන යන්න උපකාර වෙනවා. හෘද ක්‍රියාකාරීත්වය නිසි පරිදි පවත්වාගෙන යන්න දායක වෙනවා. අධි රුධිර පීඩනය, අව රුධිර පීඩනය වගේ රෝගී ස්වභාවයන් වහා සුව කරනවා. කන් අගුල් වැටීම, කන් ඇසීමේ දුර්වල බව, ක්ෂණිකව ඉරියව් මාරු කරනකොට ඇතිවන කණාමැදිරියන් වගේ එළි පෙනීම, වාරු නැති බව, ශරීර සමබරතාවය නැති බව දුරු කරනවා.

**ඇස්වල ආබාධ, කඳුළු ග්‍රන්ථි වියළී යාම නිසා හට ගන්නා ඇස් දැවිල්ල, ඇස් රතු වීම, එක දිගට යමක් දිහා බලාගෙන ඉන්නකොට ඇතිවන ඇස් රිදීම කියන මේ රෝගී තත්ත්යන්ට දං මල් සහිත අත්තක් කඩාගෙන පිරිසිදු ජලය තියෙන භාජනයකට දාල හවස පින්නට විවෘතව තියල උදේ අරගෙන මුහුණ සේදීමෙන් කඳුළු ග්‍රන්ථිවල ක්‍රියාකාරීත්වය තීව්‍ර වීමෙන් ඒ ගති දුරු වෙලා යනවා. ඒ විදිහට දින 3 ක් හෝ සුව වෙනකල් කරන්න ඕන.**

ඒ වගේම නින්ද නොයෑම, අධි රුධිර පීඩනය, රුධිර නාල ස්නායු අවහිරතා නිසා හිසේ හට ගන්නා වේදනා, පීනස, පපුවේ සෙම, වේළුම් කැස්ස, අර්ශස්, රක්තයා ඉහට ගැසීම නිසා හට ගන්නා සිහි විකල්වීම්, හන්දි තද වෙලා නිතර දහදිය දැමීම හෝ අධික සීතල දැනීම... ආදිය සුව කරන්න ගන්න බෙත් හදනකොට අමුද්‍රව්‍යවල රජු විදිහට දං මල් උපයෝගී කර ගන්නවා.

**දත් මුල් දිය වීම, මුඛ දුර්ගන්ධය, දිවේ අධික ලෙස මැලියම් බැඳීම, මුඛයේ තුවාල, විදුරුමහේ පණු ගෙඩි, දත් මුල් සෙලවීම, දත් දිරායාම... ආදී රෝගවලදී දං ගහේ පස් පංගුව (කොළ, මුල්, දළු, පොතු, මල් හෝ ගෙඩි) සම ප්‍රමාණයන්ගෙන් අරගෙන වතුර පත 8 ක් දමා 1 ට හිඳගෙන අනුපානයට සහිඳ ලුණු ටිකක් එකතු කරල උදේ රෑ මුඛය සේදීමෙන් ඒ තත්ත්වයන් මග හරවා ගන්න පුළුවන්.** දං මල් හෝ ගෙඩි නැති කාලයක් වුනොත් පස් පංගුව සම්පූර්ණ වෙන්න ඒ වෙනුවට ගහේ පොතුවලට අමතරව අතුවල පොතුත් ගන්න පුළුවන්. ඒ වගේම ගහට හානියක් නොකර ගහේ පැත්තකින් දං මුලක් ගලවගන්න පුළුවන්.

ඒ වගේම එදා හෙළ වෙදකමේදී විනරාජ කසායෙන් මොළ විරේකයක්, ළය විරේකයක් කළාට පස්සෙ රෝගියාට ඉස්සෙල්ලම බොන්න දුන්නෙ දං ගහේ පස් පංගුව තම්බල ගන්න වතුර. ඒ වගේම දං ගහේ පස් පංගුවට තවත් එක පංගුවක් විදිහට තවත් දං මල් පංගුවක් එකතු කරල (මුල්, පොතු, කොළ, දළු, ගෙඩි හෝ මල් මිට බැගින් අරගෙන ඒකට තවත් මල් මිටක් එකතු කරගන්න.) වතුර පත 12 ක් දමා පත 4 ට බස්සවා ගෙන වේළකට පත බාගය බැගින් දවසකට දෙවරක් ගැනීමෙන් (දින 4 ක්) බහිස්‍රාවී පද්ධතියේ අක්‍රමිකතා මග හැරිල සක්‍රිය වෙනවා. මළබද්ධය දුරු වෙනවා. අම්ලපිත්ත ප්‍රදාහය සහ ඒ නිසා හටගත් තුවාල සුව වෙනවා. සාමාන්‍ය යෙන් මේ බෙහෙත පැය 24 කට වැඩිය එළියෙ තිව්වම අව පැහැ ගැන්විලා අම්හිරි රසයක් එන්න පුළුවන් නිසා ඉතිරි දවස් සඳහා ශීතකරණයේ තියල පාවිච්චියට ගන්න පුළුවන්. නැත්නම් එක දවසකට සැහෙන්න වතුර පත 3 ක් එකතු කරල පත 1 කට හිඳගන්න පුළුවන්.

**ඒ වගේම දං ඇට වේළගෙන කබලේ බැදල කුඩු කරල ඒකට ඉදිච්ච දං ඉස්ම වතුර නොදා එකතු කරල දං ගෙඩියක් තරමට ගුලි කරල අව්වෙ හොඳින් වේළල උදේ, දවල්, රෑ ආහාරයට පසු ගුලි 1 බැගින් දින 28 ක් හෝ අවශ්‍ය නම් ඊට වැඩි කාලයක් ගැනීමෙන් අර්ශස් ගෙඩි පුපුරල ලේ ගලනව නම් වහා නතර වෙනවා.** හැබැයි මේ කියන කිසිම බෙහෙතකට මාදං, බලු දං යොදා ගන්නෙ නෑ. ගමේ ගොඩේ හැදෙන සාමාන්‍ය දං තමයි යොදා ගන්නෙ. මේ දං වර්ග පහසුවෙන් හඳුනගන්න පුළුවන්. මා දං ගෙඩි ලොකුයි. බලු දං ලා රෝස පාටයි. ඉදුනම රතු පාටයි. ඒවායේ කොළත් වෙනස්. සාමාන්‍ය දං ගෙඩි වැඩිය ලොකු නෑ පොඩියි.

දං දළු හීන් වෙන්න ලියාගෙන සාමාන්‍ය පලා සම්බෝලයක් හෝ මැල්ලුමක් ආකාරයට හෝ සකස් කරල ආහාරයට ගන්න පුළුවන්. කැඳක් විදිහට සකස් කරගන්නත් පුළුවන්. දං මල්වලට වතුර ටිකක් දාල ලිපේ තියල ලුණු ටිකක් එකතු කරල තැම්බෙන්න තියල, ඉන්පසු බැදුමක් සකස් කරන ආකාරයට පිරිසිදු තෙල් ටිකක් ලිපේ තියල රත් වුනාම සුදු ළූණු, රම්පෙ, කරපිංච, ළූණු එකතු කරල බැදීගෙන එනකොට අබ ටිකක්, මිරිස් කරල් 2 - 3 ක් එකතු කරල අබ පුපුරනකොට ඒකට අර තම්බගත්ත දං මල් ටික එකතු කරල අවශ්‍ය ප්‍රමාණයට ලුණු ටිකක්, කහ කුඩු ටිකක්, තුනපහ ටිකක් එකතු කරල රසවත් දං මල් බැදුමක් හදා ගන්න පුළුවන්.

එහෙම නැත්නම් තේ වෙනුවට අතිරේක පානයක් වශයෙන් දං මල් හොඳින් වේළල කුඩු කරල තියාගෙන උණු වතුරට දාල පානය කරන්නත් පුළුවන්. මේ කොයි විදිහට ආහාරයට එකතු කරගත්තත් දංවල තියෙන ඖෂධීය වටිනාකම අති මහත්.

**පේරතඹල** - වතු මායිම්, බඩවැටි, ඕවිටි, කුඹුරු, දිය පාරවල් අසළ ස්වභාවිකව වැවෙන, සාමාන්‍යයෙන් කවුරුවත් ප්‍රයෝජනයට ගන්නෙ නැති අත්හැරල දාල තියෙන ශාකයක්. ඉඳල හිටල බුලත් කොවුල්වලටත්, හරක්ට තලන්න කෙවිටි විදිහටත් විතරයි පාවිච්චි කරන්නෙ. බොහෝ දෙනෙක් මේ පිළිබඳව දන්නෙ නැති වුනත් ආහාරයක් වශයෙන් රසවත් ගුණවත් ඖෂධයක්. හෙළ වෙදකමේදි වා පිත් සෙම් කියන තුන් දොස් සමනය කරන්න ගන්න ප්‍රබල ශක්තියක් තියෙන ඖෂධයක්. පේරතඹලවල ලේ නහර පිරිසිදු කිරීමේ විශේෂ ශක්තියක් තියෙනවා. සියලු ලේ නහර, ස්නායු ඇතුළු බහිස්‍රාවී පද්ධතිවල රැඳිල තියෙන අපද්‍රව්‍ය, කාරම් ඉවත් කිරීම හා නැවත හට ගැනීම වැළැක්වීමේ ගුණයෙන් යුක්තයි. ආහාර රුචිය ඇති කිරීම, මළබද්ධය ආශ්‍රිත සියලු රෝග සමනය කිරීම, කොලෙස්ටරෝල් තියේ නම් දිය කරල නැවත හට ගැනීම වැළැක්වීමත් මේ පේරතඹලවල තියෙන විශේෂ ඖෂධීය ගුණයක්.

මේ කියන රෝග තත්ත්වයන් තියෙන අය සතියකට දෙවතාවක් විතර මේවා ආහාරයට එකතු කර ගැනීමෙන් තමන්ටම ප්‍රතිඵල අත්විඳින්න පුළුවන්.

ඒ වගේම ශරීරයේ අපද්‍රව්‍ය පෙරන ස්ථාන විදිහට ක්‍රියා කරන පෙණහළු, වකුගඩු, ආහාර ජීර්ණ පද්ධතිය හා මුත්‍රා පද්ධතියත්, හෘදය වස්තුවත් උත්තේජනය කරනවා. මේවායේ ක්‍රියාකාරීත්වයට බාධා පැමිණෙන යම් යම් අපද්‍රව්‍ය ශරීරයේ තියේ නම් ඒවා වහා බැහැර කරනවා.

රුධිර නාල තුල ලේ කැටි, මේදය තැන්පත් වීම, ආමාශය තුල, අංගුලිකාවල කාරම් සෙම් පටල බැඳීම, අම්ල පිත්ත ප්‍රදාහය නිසා ආමාශයේ, බඩවැල්වල හට ගන්නා තුවාල, මුත්‍රාශයේ, වකුගඩුවල කැල්සියම් තැන්පත් වීම හෝ ඒ නිසා හට ගන්නා මුත්‍රා ආසාදන කියන මේ තත්ත්වයන් සමනය කිරීමේ ගුණයෙන් යුක්තයි.

මේ අනුව පේරතඹල කියන්නෙ ඖෂධ ගබඩාවක්. වෙළඳපොළේ බොහෝ කොටම තියෙන වස විස යෙදූ ආහාර






# සමාධිමය අත් බෙහෙත්...

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ගිහි වතක සිටියදීත් සමහර අවස්ථාවල ඉන්පසුවත්, ලෝක සත්ත්වයා කෙරෙහි දයානුකම්පාවෙන් ගිලාන ප්‍රත්‍ය කටයුත්තක් වශයෙන් සළකා බෙත් සමාධියෙන් මතු කර දුන් තවත් ප්‍රත්‍යක්‍ෂ අත්බෙහෙත් කිහිපයක් වර්තමාන සහ පශ්චිම ජනතාවගේ හිතසුව පිණිස මෙවරත් සටහන් කරනවා. මීට පෙරත් සඳහන් කළා වගේ මේ සියලු බෙත් වර්ග සසරේ කරන ලද කර්ම වේග අනුව ඒ ඒ පුද්ගලයන්ගේ කර්ම ශක්තීන්ට යටත්ව ප්‍රත්‍ය වෙන නිසා, මේ සඟරාවේ මීට කලිනුත් පළ කළ (විශේෂයෙන් 27, 28, 29, 39, 55, 83, 86 කලාපවල) කර්ම වේග ගෙවා හැරෙන සාසනික ප්‍රතිකර්ම කිරීමෙන් අනතුරුව මේ බෙත් පාවිච්චි කරනව නම් වඩාත් සාර්ථක සහ ඉක්මන් ප්‍රතිඵල ලබාගන්න පුළුවන්.

**ඉරුවාරදය, කෝටරක තුල සෙම ගල්වීම නිසා හට ගන්නා හිසේ කැක්කුම, ඇස් වටේ, නළලේ, නාසයේ දෙපස සහ මුහුණේ ඇති වන කළු ළප, මුහුණ කළු තලා වැටීම, හිස පහත් කරන විට හිසේ කැක්කුම, හිසබර ගතිය සහ අකලට හිසකෙස් සුදු වීම වැළැක්වීමට නස්නයක්.**

අවශ්‍ය අමුද්‍රව්‍ය : මව්කිරි මි. ලී. 10 යි, අමු කරල්හැබ ඇට තේ හැන්දක්, රියන් එකහමාරක් (අඩි දෙකයි කාලක්ක් පමණ) පමණ දිගට ඉරමුසු ගහක් සහමුලින්ම, ග්‍රෑම් 5 ක පමණ මුරුංග ගහේ පොතු කැබැල්ලක් (ගහේ පොළව මට්ටමේ පටන් ඉහලට අඩි එකහමාරක් පමණ ඇතුලතින් ගලවගන්න.)

ඉරමුසු, කරල්හැබ, මුරුංග පොතු හොඳින් සෝදගෙන තෙතමනය ඉවත් වෙන්න වේළෙන්න තියල පිරිසිදු වංගෙඩියක හොඳින් කොටාගන්න. පසු ඒ ටික පිරිසිදු රෙදි කඩක ඔතාගෙන වතුර නොදා පිරිසිදු භාජනයකට ඉස්ම ටික මිරික ගන්න. එයින් එන ඉස්ම මි. ලී. 2.5 කට මව්කිරි මි. ලී. 5 ක් මිශ්‍ර කරල උදේ 7 – 11 ත් අතර නාස්පුඩු දෙකට බිංදු 3 ක් බැගින් දමන්න. ඉන්පසු වෙනත් කෙනෙක් ලවා නාස්පුඩු දෙකට කටින් පිඹගන්න. ඉතිරි මව්කිරි සහ බෙත් ඉස්ම සියල්ල එකට මිශ්‍ර කරල, කලින් බෙත් ඉස්ම මිරික ගැනීමෙන් පසු එන ඉතිරි රොඩු පොට්ටනියට ඒ ඉස්ම පොඟවල නළලත සහ හිස (කොණ්ඩය එහා මෙහා කරල) විනාඩි 15 ක් පමණ හොඳින් තවන්න. මුඛයට එන සියලු සෙම කෙළ ගසා ඉවත් කරන්න. මේ විදිහට දවස් තුනෙන් තුනට දින 7 ක් කරන්න. ඉහත රෝග නිට්ටාවට සුව වෙනවා.

**මුහුණේ, බෙල්ලේ සහ ශරීරයේ සියලූ තැන්වල හට ගන්නා කළු ළප, රතු ළප... ආදී සියලූ චර්ම රෝග සඳහා**

හොඳින් පැසුනු, නොඉදුනු වැල් තිබ්බටු ගෙඩියක් අරගෙන, ගෙඩිය පොඩි වෙලා ඉස්ම එළියට එන්නෙ නැති මට්ටමට පොඩි කරගන්න. (උගුරැස්ස ගෙඩියක් පොඩි කරන ආකාරයට) ඉන්පසු ගෙඩියේ පිටුපසින් සිදුරු කරල එන ඉස්ම අවශ්‍ය ස්ථානවල විතරක් ගල්වල පැයකට පසුව දවල් 12.00 ට පෙර සෝදා හරින්න. මේ විදිහට දින 12 ක් කිරීමෙන් නිට්ටාවට සුව වෙනවා.

**ඉස්හොරිවලට, උදුගොව්වන් කෑමට, සූරන විට කුඩු ආකාරයට යන අළුහම්, දද, කුෂ්ට ඇතුළු චර්ම රෝගයන්ට**

ඇත්තෝර ගහේ පස්පංගුව (මල්, මුල්, පොතු, කොළ, දළු) කලං 6 බැගින් අරගෙන සාමාන්‍ය දේශීය පේර කොළ කලං 6 ක්, අමු කහ කලං 6 ක් දමා හොඳින් කොටාගෙන වතුර නොදා මිරික ගන්න. ඒ එන ඉස්ම හිස් මුදුනට දමා පැය බාගයකට පසු දවල් 12.00 ට පෙර නාගන්න. මේ විදිහට දින 7 ක් කිරීමෙන් ඉස්හොරි සුව වෙනවා. දින 14 න් උදුගොව්වන් කෑම සුව වෙනවා.

මේ ඉස්මට කොහොඹ තෙල් අවුන්ස බාගයක් එකතු කරල ලිපේ තියල කකාරව ගන්න. චර්ම රෝග ඇති සියලු තැන්වල ආලේප කරන්න. අළුහම් දින 7 න් සුව වෙනවා. අනෙක් සියලු රෝග සුව වෙනකල් පාවිච්චි කරන්න.

---

අනුභව කරල රෝගී වෙනවට වඩා ලෙඩ රෝග සුව කිරීමේ හැකියාවක් තියෙන පේරතඹල වගේ ස්වභාවික දෑ ආහාරයට ගැනීමෙන් තමන්ගෙ වටිනා මනුස්ස අත්බවය ආරක්ෂා කරගන්න පුළුවන්.

පේරතඹල සාමාන්‍ය කොළ කැඳක් සකස් කරන ආකාරයට හෝ සාමාන්‍ය පලා සම්බෝලයක්, පලා ව්‍යංජනයක් ආකාරයටත් සකස් කරල ආහාරයට ගන්න පුළුවන්.

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

### ඇසේ ඇතිවන නගනයන් සඳහා

තම්බපු රතු හාල් බතක් (කුරුළුතුඩ හාල් නම් වඩා හොඳයි) උයනකොට බතේ නැගෙන පෙණ ස්වල්පයක් අරගෙන ඉර උදාවට පෙර නගනය මත ආලේප කරන්න. ඉර උදාවූ පසු තුත්තිරි ගහක් අරගෙන ගහේ අග පටන් මිරිකනකොට එන ඉස්ම බිංදුව තුත්තිරි ගහෙන්ම නගනය මත තියන්න. මේ විදිහට දින 3 ක් කිරීමෙන් නිට්ටාවට සුව වෙනවා.

### ඇඟිලිවල කණුමහ කුණු වීම, ඇඟිලිකරු කුණුවීම, ඇඟිලිකරු පැළීම, විලුඹ පැළීම, දියමැටියන් කෑම සහ නියපොතු ආශ්‍රිත සියලු රෝගයන්ට

අමුකහ ග්‍රෑම් 200 ක් අරගෙන හොඳින් කොටාගෙන වතුර නොදා මිරිකල එන ඉස්ම ටිකට ලුණු කුඩු ග්‍රෑම් 50 ක් සහ පිරිසිදු පොල් තෙල් බෝතල් කාලක් එකතු කරල ලිපේ තියන්න. කළු දුම දානකල් හැඳි ගාමින් බස්සන්න. ඒ විදිහට එන බේත රෝගී ස්ථානවල ආලේප කරන්න. පැයක් ගියාට පසු සෝදා ඉවත් කරන්නෙ නැතිව නිකං ඇල් වතුරෙන් තෙමන්න. මේ විදිහට දවසට තුන් වතාවක් කරන්න. දින 7 න් නිට්ටාවට සුව වෙනවා.

### බඩ පුරවා දැමීම, මස් පිඬුවල වේදනාව සහ සියලු වාත වේදනා සමනයට

අවශ්‍ය අමුද්‍රව්‍ය : උළු හාල් කලං 6 යි, සුදු ළූණු කලං 6 යි, බැබිල මුල් කලං 6 යි, ඇට ඉවත් කර ගත් වියළි නෙල්ලි කලං 6 යි, වියළි අරළු කලං 2 යි

මේ සියල්ලම එකට අරගෙන වතුර බෝතල් එකහමාරක් දමා බෝතලයකට හිඳගෙන කොටස් 3 කට බෙදාගෙන උදේ, දවල්, රාත්‍රී කෑමට පෙර බෝතලයම බොන්න. ඒ විදිහට දින 3 ක් හෝ සුව වෙනකල් ගන්න.

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# අරි සිතුම් සුවසෙත වෛද්‍ය සායනය

සුගතිය, නිවන පූර්ණ කර ගැනීමේ පහසුව පිණිස ගිලාන ප්‍රත්‍ය කටයුත්තක් වශයෙන්, වහරක අභයරතනාලංකාර මහතෙරුන් වහන්සේ විසින් බෙහෙත් සමාධියෙන් මතු කරනු ලැබූ ඖෂධ හා ප්‍රතිකාර ක්‍රම ඇසුරින් කෙරෙන, අරි සිතුම් සුව සෙත වෛද්‍ය සායනය සෑම ඉරිදා දිනකම උදෑසන 7.00 සිට වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේදී සහ අනුරාධපුර, ගල්කඩවල, බාලදක්ෂ මාවතේ පිහිටි අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුනේදී පැවැත්වෙන අතර රෝග විමර්ශනය සහ සියලු රෝග සඳහා ඖෂධ ප්‍රතිකාරද කරනු ලැබේ. වැඩි විස්තර සඳහා පහත දුරකථන අංකවලින් විමසන්න.

**077 774 1478 | 077 162 0072 | 0717492057**

### හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාප ඇතුලු සියලු කලාප දැනට ලබාගත හැකි ස්ථාන:

■ චන්ද්‍රල වෙළඳ විමන, අංක 104, හයිලෙවල් පාර, මහරගම 077 7258851 ■ හසරු ප්‍රින්ටර්ස් - මාලබේ. (071 4220558 / 011 2744308) ■ පිනැකල් නෙට් - හයිලෙවල් පාර, ගොඩගම - 011 2895132 ■ තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම - 011 2857572 ■ තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක - 076 6114237 ■ නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 077 3742023 ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනින් (බදාදා පෙ. ව. 9.00 සිට 3.00 දක්වා පමණි.) 077 2292677 / 071 3228571 ■ දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 071 8059784, 077 2055098 ■ සෙනාරෝ සෙන්ටර් - අංක 35, රාජගිරිය පාර, රාජගිරිය - 075 5569555 ■ සීදේවි හෝටලය, වේයන්ගොඩ පාර, කිරිඳිවැල. 071 0118101 ■ කුමාර අයන් වර්ක්ස් - 209 ඒ, ගලහිටියාව, ගනේමුල්ල - 076 9604682, 071 3329621 ■ පෝලර් රීජන්ස් 402 සී, ගාලු පාර, පානදුර 038 2235369 ■ සරසවි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 077 3474081 ■ සුධීර කොමිනිකේෂන්, පිටිගල පාර, පැලවත්ත. - 071 2103177, 075 2679202 ■ සහන ෆාමසි - මූණගම, හොරණ - 071 2608776 ■ උපාලි පූජා භාණ්ඩ මන්දිරය - හොරණ 077 7722531 ■ සමනල පොත්හළ - නෙළුව - 071 2837757 ■ ස්ටුඩියෝ සෙවන් සීරෝ, තවලම හන්දිය, තවලම (ඉන්ධන පිරවුම් හල අසළ) 071 5827923 ■ ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල - 091 2242610 ■ නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර - 041 2225118 ■ හෙළ බොදු සිසිල සෙනසුන - මුරුතමුරේ, හක්මන - 041 3021878 ■ පත්මසිරි ස්ටෝර්ස් - මුරුතමුරේ (පන්සල අසල) හක්මන - 071 4133487 ■ මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල - 071 1662643 ■ දිලුනෙත් - පාසල් මාවත, කඹුරුපිටිය - 071 9856555 ■ රාජපක්ෂ වෙළඳසැල - බැද්දෙගෙදර, මිද්දෙණිය පාර, වීරකැටිය - 07 12136329 ■ සංජීව සුපර් ග්‍රොසරි - ප්‍රධාන වීදිය, බඩල්කුඹුර 075 5863883, 055 2250051 ■ අමර බුක් ෂොප් ඇන්ඩ් කොමියුනිකේෂන් - අංක 113/11 ඒ, බණ්ඩාරනායක මාවත, රත්නපුර - 071 2404242, 072 2404242 ■ සොබා දහම් ගොවිපොළ, සණස, උකුවෙල, මාතලේ - 071 8261500 / 066 2245353 ■ චන්ද්‍රල වෙළඳ විමන, අංක 124, කෙලින් වීදිය, මාතලේ - 077 3632966 ■ ඒකනායක මන්තින්දරාමය - ඉහළගම, මහඋඩගම, ගම්පොළ, නුවර - 077 541 64 61 / 081 020 57572 ■ අමිල ට්‍රේඩර්ස් , අංක ඩී1, ඒ. ඒ. ධර්මසේන මාවත, මහනුවර - 075 7246797 ■ අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුන, බාලදක්ෂ මාවත, ගල්කඩවල, අනුරාධපුර - 076 6442125 ■ අරි සිතුම් අරණ දහම් මැදුර, දේවගිරිපුර, ගල්ගමුව - 071 1211876 ■ හොරණ වාසනා බේකර්ස්, මැදවච්චිය (ඔරලෝසු කණුව ඉදිරිපිට) - 071 8375871 ■ ප්‍රජාපතී ගෝතමී ආරාමය, පහලගම, සියඹලන්ගමුව, මාස්පොත - 037 4902817 ■ පිවිතුරු අරණ සෙනසුන - කට්ටකඩුව, ආඬියාගල, දඹුල්ල - 025 5789988 ■ සීගිරි පොත්හළ, පොළ හන්දිය, මහව - 077 6243804 ■ ශෛල පබ්බතාරාමය, ගිජිදගම, පොල්ගහවෙල - 071 212 5880 ■ රුහුණු ෆුඩ් ලයින්, අංක 05, හලාවත පාර, කොච්චිකඩේ - 031 2277726 ■ චන්දන පූජා භාණ්ඩ - 100, බදුල්ල පාර, හාලිඇල - 055 2294999 ■ සෙව්වන්දි පොත්හළ, පාසල් මාවත (වැරෙන්කටගොඩ මහා විද්‍යාලය ඉදිරිපිට), වැරෙන්කටගොඩ, අම්පාර 077 4182684 / 077 0844980

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 87 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

<u>ශ්‍රම දයකත්වය</u>

■ පූජ්‍ය කිවුල්දෙණියේ විජිතනන්ද හිමි ■ පූජ්‍ය කේ. සුමනරතන හිමි ■ පූජ්‍ය කොච්චිකඩේ ප්‍රඥමූර්ති හිමි ■ පූජ්‍ය අවිස්සාවේල්ලේ පියරතන හිමි ■ ධම්මික සේනාධීර මහතා - හසරු ප්‍රින්ටර්ස් - මාලබේ ■ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ■ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ■ සඳරුවන් පෙරේරා මහතා සහ මාරියස් පෙරේරා මහතා - මොරටුව ■ තුසිත මංගල මහතා - පාදුක්ක ■ එස්. ඒ. එස්. පෙරේරා මහතා - පානදුර ■ අමිල සල්ගාදු මහතා - බෝමිරිය ■ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක ■ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා - පොල්ගහවෙල ■ ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ■ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ■ නන් අයුරින් දයක වූ පින්වතුන්

<u>මූල්‍යමය දයකත්වය</u>

■ සනත් දයාප්‍රේම මහතා සහ රේණුකා ජයවර්ධන මහත්මිය ඇතුළු පවුලේ සැම - ඇමරිකාව - රු. 30,000/- ■ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ■ පී. එස්. ගමගේ මහතා - මීරිගම, අඹේපුස්ස - රු. 25,000/- ■ අනූජා ගුණතිලක මහත්මිය ඇතුළු පවුලේ සැම - කොළඹ - රු. 25,000/- ■ ශානක ද සිල්වා මහතා, චරනි ද සිල්වා මහත්මිය, රහල් ද සිල්වා පුතා, ගනිඳු ද සිල්වා පුතා, දෙව්රූ ද සිල්වා දුව - දෝහාකටාර් - රු. 23,500/- ■ තිළිණ විජේරත්න මහතා සහ පවිත්‍රා දෑදිගම මහත්මිය - ඇමරිකාව - රු. 22,650/- ■ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙවින්යා දුව - ගල්කිස්ස - රු. 20,000/- ■ පරලෝ සැපත් වැලිකන්නගේ ජයවර්ධන මහතාට පිං පිණිස පවුලේ සැම - පාදුක්ක - රු. 11,000/- ■ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ යන දියණියන් - නුගේගොඩ - රු. 10,000/- ■ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ■ නිලක්ෂි වීරකෝන් මහත්මිය - මාලබේ - රු. 10,000/- ■ චාරුත බණ්ඩාර මහතා සහ තිමිර බණ්ඩාර මහතා - ඇමරිකාව - රු. 8,750/- ■ සමීර පෙරේරා මහතා සහ නිලානි සුරවීර මහත්මිය - ඇමරිකාව - රු. 8,750/- ■ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ■ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා, කෙනුලි ලොකුමාන්න දුව - ගල්කිස්ස - රු. 5,000/- ■ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු. 5,000/- ■ අමිල සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 5,000/- ■ මෙරිල් ඩයස් මහතා, ඩිලානි ඩයස් මහත්මිය, ශවින්ද්‍රි ඩයස් සහ ප්‍රශානි ඩයස් යන දියණියන් - නාවින්න - රු. 5,000/- ■ නෙළුම් විතාන මහත්මිය ඇතුළු පවුලේ සැම - බත්තරමුල්ල - රු. 5,000/- ■ දිනේෂ ලියනගේ මහතා, ඔල්ගා ලියනගේ මහත්මිය, තේමික ලියනගේ, ලිතුලි ලියනගේ, තිසරි ලියනගේ යන දරුවන් - මහර - රු. 5,000/- ■ සංජීව පද්මනාත් මහතා ඇතුළු පවුලේ සැම - කහතුඩුව, රුවන් සමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම, චමිල ඉලංගකෝන් මහතා ඇතුළු පවුලේ සැම - හෝකන්දර, ලීලානි රණසිංහ මහත්මිය - පරපේ, සෙනාර්යා රාජපක්ෂ මහත්මිය සහ දෙමව්පියන් - රද්දොළුගම - රු. 4,800/- ■ අසේල බෙන්තර මහතා සහ චතුරිකා කහඳුගොඩ මහත්මිය - ඇමරිකාව - රු. 4,400/- ■ ලක්ෂ්මන් සෙනෙවිරත්න මහතා ඇතුළු පවුලේ සැම - මහියංගනය - රු. 4,000/- ■ සී. වීරසිංහ මහතා - රු. 4,000/- ■ අසෝක රාජපක්ෂ මහතා ඇතුළු පිරිස - තිහාරිය - රු. 3,500/- ■ බුද්ධික බණ්ඩාරනායක මහතා සහ දිස්නා බණ්ඩානාරයක මහත්මිය ඇතුළු පවුලේ සැම - ඇමරිකාව - රු. 3,500/- ■ නිශාන්ත ජයවර්ධන මහතා සහ කාවින්දයා සේනානායක මහත්මිය - ඇමරිකාව - රු. 3,500/- ■ අයේෂ් ගුණවර්ධන මහතා සහ නිරාශා පෙරේරා මහත්මිය - ඇමරිකාව - රු. 3,500/- ■ අසේල දික්කුඹුර මහතා - ඇමරිකාව - රු. 3,500/- ■ හර්ෂ අමරසේකර මහතා සහ උදුම්බරා රත්නායක මහත්මිය ඇතුළු පවුලේ සැම - ඇමරිකාව - රු. 3,500/- ■ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ■ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ■ කේ. එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ■ නිශාන්ති ද සිල්වා මහත්මිය - මොරටුව - රු. 3,000/- ■ සුජාන් කරස්නාගොඩ මහතා සහ නිලූෂි දිසානායක මහත්මිය - ඕස්ට්‍රේලියාව - රු. 3,000/- ■ රෝෂණ උමගිලිය මහතා, දුලානි මණ්ඩාවල මහත්මිය, රදින් රාහුල් උමගිලිය පුතා සහ ටරිනි උමගිලිය, යෙනුලි උමගිලිය දියණියන් - පොළොන්නරුව - රු. 3,000/- ■ ලලිතා සමරනායක මහත්මිය - මාරවිල - රු. 3,000/- ■ ටී. ටී. පී. සිල්වා මහත්මිය - නාගොඩ, කළුතර - රු. 2,500/- ■ ඩී. ඩී. විතාරණගේ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2,500/- ■ එම්. පී. ප්‍රේමරත්න මහතා, දයා ප්‍රේමරත්න මහත්මිය සහ ශේන් වාල්යා මෙනවිය - කටුවාවල - රු. 2,500/- ■ ජේ. කේ. සිසිර කුමාර සමරදිවාකර මහතා ඇතුළු පිරිස - එල්ලක්කල - රු. 2,480/- ■ ජයනාත් සුබසිංහ මහතා - හෝමාගම - රු. 2,000/- ■ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 2,000/- ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනට සහභාගී වන පින්වතුන් - රු. 2,000/- ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ■ ඉසුරු ගාල්ලගේ මහතා සහ මේනකා ශාන්තිනි මහත්මිය - කඩවත - රු. 2,000/- ■ ඩිලාරෝ වුඩ් කාවින් පුද්ගලික සමාගම - ගාල්ල - රු. 2,000/- ■ ජී. එච්. ඒ. පුබුදු ලක්‍ෂාන් පුතා ඇතුළු පවුලේ සැම - පිටකෝට්ටේ - රු. 2,000/- ■ නුවන් යාපා අමරසේකර මහතා සහ චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය - රදවාන - රු. 2,000/- ■ රජිත් යාපා අමරසේකර මහතා - රදවාන - රු. 2,000/- ■ නම සඳහන් නොකළ පින්වතෙක් - පිටකෝට්ටේ - රු. 2,000/- ■ ශ්‍රීමා අබේකෝන් මහත්මිය - මෙල්බන් නුවර - රු. 2,000/- ■ පියල් වීරසිංහ මහතා සහ සම්මානි බණ්ඩාර මහත්මිය - මහරගම - රු. 2,000/- ■ බී. එම්. ආරියරත්න මහතා - රු. 2,000/- ■ ලතා සමරසිංහ මහත්මිය - අලවතුගොඩ - රු. 2,000/- ■ රංජිත් ජයසූරිය මහතා, වෛද්‍ය දමයන්ති ජයසූරිය මහත්මිය - කොරලවැල්ල, මොරටුව - රු. 2,000/- ■ සුනිල් පල්ලෙගොඩ මහතා සහ ලක්ෂ්මි දේවසුරේන්ද්‍ර මහත්මිය - මාකොළ - රු. 2,000/- ■ සෝමා වික්‍රමසිංහ මහත්මිය - යක්කල - රු. 2,000/- ■ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ■ ඒ. ඒ. එන්. අමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම - අවුලේගම - රු. 1,500/- ■ කේ. එම්. කේ. උදිත ලක්‍ෂාන් පෙරේරා මහතා, කේ. එම්. කේ. චන්ද්‍රිකා ප්‍රියානි පෙරේරා මහත්මිය, කේ. ඩග්ලස් පෙරේරා මහතා - මිනුවන්ගොඩ - රු. 1,500/- ■ චිත්‍රා පෙරේරා මහත්මිය - හේනෙගම - රු. 1,500/- ■ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා සහ මධුෂිකා ලක්මුතු පියදිගම මහත්මිය - ගල්කිස්ස - රු. 1,200/- ■ ඩබ්. චන්ද්‍රරත්න මහතා ඇතුළු පවුලේ සැම - පාදුක්ක - රු. 1,200/- ■ ශිරානි කරුණාසේන මහත්මිය - ගම්පහ - රු. 1,100/- ■ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ■ උදේශා සංජීවනී මහත්මිය - යක්කල - රු. 1,000/- ■ සී. එම්. පී. සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ■ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1,000/- ■ සමෘද්ධි තිලකසිරි පුතා - බැලුම්මහර -

රු. 1,000/- ■ එල්. ඒ. කේ. ද සිල්වා මහතා - කිරුලපන - රු. 1,000/- ■ නිලූකා වෙල්ගම මහත්මිය ඇතුළු පවුලේ සැම - කඳන - රු. 1,000/- ■ පද්මිණී සේනානායක මහත්මිය - කළගෙඩිහේන - රු. 1,000/- ■ රාහුල ඉන්ද්‍රකුමාර මහතා - මීනුවන්ගොඩ - රු. 1,000/- ■ වෛද්‍ය යෙනිකා කුමාරි මහත්මිය - එක්සත් රාජධානිය - රු. 1,000/- ■ කේ. වසන්තා කුමාරි ආරියසිංහ මහත්මිය ඇතුළු පවුලේ සැම - නාගහහේන - රු. 1,000/- ■ ඒ. ඒ. වින්ධ්‍යා නිර්මාණි දුව - රදවාන - රු. 1,000/- ■ කේ. ඒ. මල්ලිකා මහත්මිය - ගම්පහ - රු. 1,000/- ■ ලක්ෂිකා සංජීවනී මහත්මිය - රු. 1,000/- ■ මාලිනී බස්නායක මහත්මිය - අකුරැස්ස - රු. 1,000/- ■ එල්. ඒ. වී. චන්ද්‍රසීලි මහත්මිය ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 1,000/- ■ කේ. එම්. වීරසූරිය මහත්මිය - මාතලේ - රු. 1,000/- ■ සක්විති ජයවර්ධන මහතා - කොච්චික ඩේ - රු. 1,000/- ■ චතුරංග බණ්ඩාර මහතා - කළුතර - රු. 1,000/- ■ උදර ලක්මෙවන් මහතා - කොට්ටාව - රු. 1,000/- ■ දුලානි සන්ධ්‍යා කුමාරි මහත්මිය - ඊශ්‍රායලය - රු. 1,000/- ■ චමින්ද ජනක ජයසේන මහතා - කඩවත - රු. 1,000/- ■ ජේ. එම්. සෝමපාල මහතා - කඩවත - රු. 1,000/- ■ නම සඳහන් නොකළ පින්වතෙක් - රු. 1,000/- ■ ඒ. දිලාන් නුවන් පුතා - ස්කොට්ලන්තය - රු. 1,000/- ■ පී. ප්‍රියානි පතිරණ මහත්මිය - තිත්තවැල්ල, කුරුණෑගල - රු. 1,000/- ■ රසිකා අතුකෝරල මහත්මිය - පාදුක්ක - රු. 1,000/- ■ ශ්‍රියානි විජේසේකර මහත්මිය - උළුවිටිකේ, ගාල්ල - රු. 1,000/- ■ කේ. ඒ. දුල්නිත නිසිඳු කුමාර පුතා - පාදුක්ක - රු. 1,000/- ■ දර්ශිකා විජේරත්න මහත්මිය - තලවතුගොඩ - රු. 1,000/- ■ නම සඳහන් නොකළ පින්වෙතක් - කරාපිටිය - රු. 1,000/- ■ ඩබ්. ඒ. සෙනෙහෙලතා මහත්මිය, එම්. එල්. එන්. සුමනසූරිය මහතා, එම්. එල්. එන්. දර්ශන සහ එම්. එල්. එන්. සසිඳු දුල්ශාන් පුතා - වේවැල්දෙණිය - රු. 1,000/- ■ රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා - මහරගම, කුමාරි ගොඩවිට මහත්මිය - කුරුණෑගල, එම්. ඩී. තිලකරත්න මහතා ඇතුළු පවුලේ සැම - වැලිපැන්න, තිස්ස බී. අතාවුද මහතා ඇතුළු පවුලේ සැම - ජාඇල, එච්. ඒ. එස්. හෙට්ටිආරච්චි මහතා - පොල්ගස්ඕවිට, ඉනෝකා ආරියරත්න මෙනවිය - මොරටුව, හසික දන්තුන්ගොඩ මහතා - කොළඹ 10, කරුණාවතී මහවත්ත මහත්මිය - පාදුක්ක - එකතුව - රු. 6,500/-, එකතු වූ සියලු මුදල් පරිත්‍යාග - රු. 415,830/- ■ පළමු පිටපත් 15,000 සඳහා මුද්‍රණ වියදම රු. 395,250/- ■ අනෙකුත් වියදම් - 18,170/- ■ සම්පූර්ණ වියදම - රු. 413,420/- ■ එක් පිටපතක නිෂ්පාදන වියදම - රු. 27.56/- සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහාම යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝසවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, නිදුක් නිරෝගී සුවය ලැබී, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

---

## පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...

**www.waharaka.com** **webmaster@helabodhupiyuma.net**

**071 3046895 / 036 2267111 / 076 8092008 / 076 3639891**

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම පෙ. ව. 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදනය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සෑම මසකම 1 වන සහ 3 වන සෙනසුරාද ආශිර්වාද පූජාව සහ ධර්ම සාකච්ඡාව. පෙ. ව. 8.00 සිට 4.00 දක්වා 2 වන සහ 4 වන සෙනසුරාද භාවනා වැඩසටහන් පෙ. ව. 9.00 සිට ප. ව. 4.00 දක්වා

**ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණුපස.**

---

## සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***



# මල දුරැර නිමල වෙමු...

නුවරෙහි පසිඳු රජගහ පියෙකුය මවෙක
දහමෙහි නිබඳ හැසිරෙති නොයෙදෙති පවෙක
සසරෙහි පිනට ලද යහ ගුණ පිරි පුතෙක
නිවසෙහි දෙගුරුනට තම පුතු සිතු මිණෙක

දැහැමිව පුතු වසයි දහමෙහි ගරු සරුව
තුරුණුව කෙමෙන් ලද සිප් සතරෙහි හුරුව
සරලව දිවි ගෙවති මව්පියෝ සක සුරුව
පියඹව සොයති පුතු හට හිමි නිර තුරුව

යොවුන් වියද පසු කර රුව සිරි වඩන
රුවින් අග ළඳකි එනුවරැ මන බඳන
එවන් රුසිරු මැගෙ එම හැඩරුව දකින
නිතින් සලෙළු එති මැය පසුපස ලොබින

මැය පිළිබඳව සැළ වුන කල පියාට
එය හෙළි කළා තම අදරැති පුතාට
සිය සිත බැඳුනි සිතු මැය නිසි තමාට
ලිය ලුනි සෙනෙහෙ දම ගති මැය සහේට

පෙර තිබු සබඳකම් ගැන මැය වෙමින් මුළා
පර පුරුසයන් සහ හැසිරෙයි වසන් වෙලා
දුර දිග නොදැක වුන දෙය දෙස සොවින් බලා
කර දර විඳියි පුතු කඳුළැලි නෙතින් හෙළා

විළි බිය ඇති නමුදු වෙහෙරට යනු පිණිස
මැළි නොව පිවිසි බුදු හිමි හමුවට විගස
පිළි විසි දරුව කිම මෙහි නොපැමිණි රහස
හෙළි කළෙ එවිට ගැන ඇගෙ හොර සැමි පහස

ගඟද ලිඳද මහ මග සහ සුරා හලත්
නිබඳ එකෙකු හට පමණක් නොවේ අයත්
ලඳද එබඳුමය දත යුතු කෙසේ වුවත්
නොමඳ සිත වඩනු පුත එය වටී මහත්

බිරිඳට පර පුරුස සේවනය කිලුටය
සැමියට වෙන ළඳුන් සහ ඇසුර කිලුටය
සැමවිට මසුරුකම යනු සැමට කිලුටය
එසැමට වඩා අනුවණකමම කිලුටය

(ධම්ම පදය - මල වග්ගය ඇසුරෙනි)
පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා



# කරපු ලොකුම වරද තමයි නිවන් දකින බණ දෙසීම!

මෙතෙක් කලක් වැසී තිබුන දහමයි යළි මතු වන්නේ
පෙළක් අයට නම් ඒ ගැන දාහෙකි තරහකි එන්නේ
ලොවක් බදාගෙන කෑ හැටි කොහොමද අතහැර යන්නේ
තැනක් රැගෙන වැජඹෙන්නයි මුනි දම උකසට ගන්නේ

ලොව නිසරුව වැටහෙන බණ මිසදිටුවක් ලෙසට දැකා
නිවනේ සොබ නොදැක වදන් වියරණ බස් එකට රැකා
සුව ගෙන මස් ලේ සිරුරට පැවතුම ජය විලස තකා
භව දුක නොම වැටහුන අය සසුනේ සිට නටති යකා

පෙළ දහමට අරුත් දෙතොත් උන්ගෙ සිවුරු ගලවන්නේ
පැළකටවත් ගන්න නෙවෙයි සසුනෙන් උන් නෙරපන්නේ
නිල බලතලවලට ලොල්ව රජ මැතිවරු සනසන්නේ
බලමුකො සසුනට ගිය කල මීට හොඳයි ගිනි කන්නේ

දැරුව තනතුරුද ලොබ කිත් නැති විට කෙලෙසද විසීම
මරුව වුනත් කම් නැත මතු පිළිතුර දම් කඳ වැසීම
බැරුව නෙවෙයි සූදානම් කඩු පොලු සටනට බැසීම
කෙරුව ලොකුම වරද තමයි නිවන් දකින බණ දෙසීම

කියැවුන බණ පද වැරදියි කියන්න අණ කරනවාලු
ලියැවුන දම් පොත් පත් තැටි එකතු කරල නසනවාලු
මතු එන මෙත් බුදුන් දැකම නිවන් පුරට වඩිනවාලු
බුදු වුන හිමි දෙසුම අනුව මේ අය වෙද කළණ යාලු

තමන් නොදත් බණ අන් අය දෙසන විටදි ඇයි කිපෙන්නෙ
නිවන් දකින දම් වළකා සිව්පසය මත නොවැ යැපෙන්නෙ
සසුන් කෙතේ හිඳ කිම මග නොවඩා ලොවකට හැපෙන්නෙ
මෙයින් මතුව එන දුක් කඳ නොදැනද දොස් මත තැපෙන්නෙ

සම්මතයේ නෙක තනතුරු අන් අය පෑගුමට යොදා
තුම් බුදු මග යට යන විට කොහෙද හිටියෙ නොබල නිදා
දම් මග යළි මතු වන විට ඊට එරෙහි පිරිස හදා
නම් කුමටද ඒ බොඳුකම රඟපෑමක් නොවෙද මෙදා

රටේ තොටේ මහා වැරදි තිබෙන නමුත් නොදැක වගේ
ගැටේ නිවන් දෙන දහමට ලොකුම වරද ලෙසට හැඟේ
නැටේ මාර බල සමගින් සිල් ගුණ ගැන නොමැත අගේ
වැටේ මහා නිරා දුකට අපමණ කල් සසර දිගේ

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

1087 RS.25.00
HELA BODHU PIYUMA 87

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් සංස්කරණය කර නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කරවා ප්‍රසිද්ධ කරන ලදී.